# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතකල පෙළ පොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**,

අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,

ඉසුරුපාය,

බත්තරමුල්ල.

2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

| | |
|---|---|
| පී.එන්. අයිලප්පෙරුම | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**මෙහෙයවීම**

| | |
|---|---|
| ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සම්බන්ධීකරණය**

| | |
|---|---|
| ඩබ්ලිව්. ඒ. එන්. දර්ශි රණසිංහ | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| එච්. එම්. පියුමි අනුපමා | සහකාර කොමසාරිස් (2020 මුද්‍රණය)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**ලේඛක මණ්ඩලය**

| | |
|---|---|
| ආචාර්ය ඩබ්. එම්. ශාමින්ද වනසිංහ | කථිකාචාර්ය,<br>ශ්‍රී ලංකා විවෘත විශ්වවිද්‍යාලය, නාවල |
| එම්. කේ. කිංස්ලි ප්‍රියන්ත | කථිකාචාර්ය,<br>රුහුණ ජාතික අධ්‍යාපන විද්‍යා පීඨය,<br>වලහන්දූව |
| එච්.එච්. අරුණ ඉන්ද්‍රසේන | ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය, බලංගොඩ |
| සී. එස්. ජයසිංහ | ගුරු මධ්‍යස්ථාන කළමනාකරු (විශ්‍රාමික),<br>හොරණ |
| කේ. ඒ. නිලන්ත පුෂ්පකුමාර | ගුරු සේවය, පොලේගොඩ මහා විද්‍යාලය |

**සංස්කරණය**

| | |
|---|---|
| මහාචාර්ය පී. අතුකෝරල | ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය |
| ආචාර්ය ඩී.පී.එස්. චන්ද්‍රකුමාර | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය |
| ධම්ම දිසානායක | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>දේශපාලන විද්‍යාව හා රාජ්‍ය ප්‍රතිපත්ති<br>අධ්‍යයන අංශය, කොළඹ විශ්වවිද්‍යාලය |
| ඒ. එල්. එස්. අබේවික්‍රම | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම |
| ඩබ්. ඒ. එන්. දර්ශි රණසිංහ | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සෝදුපත් කියවීම**

| | |
|---|---|
| ස්වර්ණා වීරසූරිය | ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය, කැලණිය |

**අවසාන ඇගයීම**

| | |
|---|---|
| වසන්තා සෙනෙවිරත්න | ජ්‍යෙෂ්ඨ කථිකාචාරිනී, නීතීඥ,<br>පොදු හා අන්තර්ජාතික නීති අධ්‍යයනාංශය,<br>නීති පීඨය, කොළඹ විශ්වවිද්‍යාලය |

**පරිගණක සහාය, පිටු සැකසුම**

| | |
|---|---|
| කේ. එම්. ඒ. ඩී. ආර්. වික්‍රමසිංහ | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| තිනෝලි ශෙනේෂා කොතලාවල | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන

# 01 ප්‍රජාතන්ත්‍රවාදී පාලනය

ප්‍රජාතන්ත්‍රවාදය වඩාත් යහපත් පාලන ක්‍රමයක් ලෙස ලෝකයේ පිළිගැනීමට ලක් වී ඇත. ප්‍රජාතන්ත්‍රවාදී පාලනය ජනතා අදහස් නියෝජනය වන, ජනතා සහභාගිත්වය මත සිදු වන පාලන ක්‍රමයක් වීම එයට ප්‍රධාන හේතුවකි. මෙම පරිච්ඡේදයෙන් ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය පිළිබඳ පහත සඳහන් මාතෘකාවලට අදාළ විෂය කරුණු අධ්‍යයනය කිරීමට ඔබට අවස්ථාව ලැබෙනු ඇත.

- ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ ආරම්භය හා විකාශනය
- ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක අංග ලක්ෂණ
- රාජ්‍යය සහ ආණ්ඩුවේ ස්වභාවය
- ජාතික රාජ්‍යයේ ස්වභාවය, එහි ආරම්භය හා විකාශනය
- රාජ්‍යයේ භූමිකාව
- ආණ්ඩුක්‍රමවල ස්වරූප හා ලක්ෂණ
- ආණ්ඩුවේ සංවිධාන ව්‍යූහය හා ක්‍රියාකාරිත්වය
- පුරවැසියා සතු වගකීම්
- පුරවැසියා කෙරෙහි වන වගකීම්
- ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ සාර්ථකත්වයට අවශ්‍ය අංග
- ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ වැදගත්කම

## ප්‍රජාතන්ත්‍රවාදී පාලනය හැඳින්වීම

ඈත අතීතයේ සිට ම මිනිසා තම අවශ්‍යතා සපුරා ගැනීමේ පහසුව සලකා සාමූහික ව ජීවත් වීමට පුරුදු වී සිටියහ. සමාජය ක්‍රමයෙන් දියුණු වීමත් සමග ජන සමාජයේ යහපැවැත්ම සඳහාත් නීතිය හා සාමය ආරක්ෂා කිරීම සඳහාත් සංවිධානාත්මක පාලන ක්‍රමයක් අවශ්‍ය විය.

ඒ අනුව අතීතයේ පටන් ලෝකයේ විවිධ රාජ්‍යයන් පාලනය කිරීම සඳහා විවිධ පාලන ක්‍රම භාවිත කර ඇත. රාජාණ්ඩු ක්‍රමය, රදළ ආණ්ඩු ක්‍රමය, ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ඒවාට නිදසුන් ලෙස දැක්වීමට හැකි ය. වර්තමානයේ ශ්‍රී ලංකාව ඇතුළු ලෝකයේ බොහෝ රටවල් ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය තම රටවල පාලනය සඳහා යොදාගෙන ඇත.

"ප්‍රජා" යන්නෙන් අදහස් කරන්නේ ජනතාවයි. "තන්ත්‍රය" යනු පාලන ක්‍රමයයි. "වාදය" යන්නෙන් මතවාදය යන්න අදහස් කෙරේ. මේ අනුව ජනතාව විසින් ඔවුන්ගේ පාලනය සඳහා පවත්වාගෙන යන පාලන ක්‍රමය ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ලෙස හැඳින්විය හැකි ය.

"ප්‍රජාතන්ත්‍රවාදය" යන්න හැඳින්වීම සඳහා ඉංග්‍රීසි භාෂාවේ "Democracy" යන වචනය භාවිත කෙරේ. එය ග්‍රීක භාෂාවේ Demos හා Kratos යන වචනවල එකතුවෙන් සෑදී ඇත. Demos යන්නෙන් ජනතාවත් Kratos යන්නෙන් පාලනය යන්නත් අදහස් වේ. මේ අනුව ග්‍රීක භාෂාවේ එම වචනවලින් අදහස් වන්නේ ජනතාවගේ පාලනය යන්නයි. සෘජු ව හෝ වක්‍ර අන්දමින් පාලන කටයුතු සඳහා ජනතාවට සහභාගි වීමට ඉඩ ලැබෙන පාලන ක්‍රමය ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ලෙස හැඳින්වීමට හැකි ය.

## ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ ආරම්භය හා විකාශනය

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයේ ඇතැම් ලක්ෂණ ඈත අතීතයේ පටන් පෙරදිග හා අපරදිග රටවල ක්‍රියාත්මක වූ බවට සාක්ෂ්‍ය ඉතිහාසයෙන් හමු වේ.



1.1 රූපය - කාරියටිඩ්ස් අංගණය, ඇතැන්ස් - ග්‍රීසිය



1.2 රූපය - පාර්තිනන් ඇක්‍රෝපොලිස්, ඇතැන්ස් - ග්‍රීසිය

ග්‍රීසියේ "ඇතැන්ස්" පෞර රාජ්‍යයේ පාලන කටයුතු සෘජු ප්‍රජාතන්ත්‍රවාදී ලක්ෂණ පදනම් කර ගෙන සිදු වූ බව සඳහන් වේ. ඇතැන්ස් පෞර රාජ්‍යයේ ප්‍රධාන පාලන ආයතනයක් වූයේ පුරවැසි සභාවයි. පුරවැසි සභාවේ දී පාලන කටයුතු සම්බන්ධයෙන් පුරවැසියන්ගේ කැමැත්ත සෘජු ව ම විමසීමට ලක් කර ඇත. ඒ අනුව පාලනයට සහභාගි වීමට පුරවැසියන් සියලු දෙනාට ම අවස්ථාව ලැබී ඇත. එහෙත් නගරවැසි කාන්තාවන්ට, වහලුන්ට හා විදේශිකයන්ට එයට සහභාගි වීමට අවස්ථාව ලැබී නැත. ඇතැන්ස් නගරයේ පැවති මෙම පාලන ක්‍රමය සෘජු ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ලෙස හැඳින්වේ. තීන්දු ගැනීමේ ක්‍රියාවලියට සියලු දෙනා ම සම්බන්ධ වීම සෘජු ප්‍රජාතන්ත්‍රවාදය ලෙස අර්ථ දැක්විය හැකි ය.

ක්‍රි. පූ. 6 වන සියවසේ ඉන්දියාවේ "වජ්ජි" ජනපදයේ සමූහාණ්ඩු පාලන ක්‍රමයක් පැවති බවට ඉතිහාසයෙන් තොරතුරු හමු වේ. "වජ්ජි" ජනපදය පාලනයේ දී අනුගමනය කළ සප්ත අපරිහානීය ධර්ම වර්තමාන ප්‍රජාතන්ත්‍රවාදී පාලනය තුළ ද දැකිය හැකි ය. එම සප්ත අපරිහානීය ධර්ම කිහිපයක් පහත දැක්වේ.

- නිතර රැස්වීම හා සාකච්ඡා කිරීම
- සමඟි ව රැස්වීම, සමඟි ව සාකච්ඡා කිරීම, සමඟි ව විසිර යාම
- නොපැන වූ නීති නොපැන වීම, පැන වූ නීති නොපිරිහෙලා ක්‍රියාත්මක කිරීම, ඒවා පිළිපැදීම
- ජ්‍යෙෂ්ඨයන්ට ගරු සැලකිලි දැක්වීම, ඔවුන්ගේ අවවාද අනුශාසනාවලට ගරු කිරීම හා ඒවා පිළිපැදීම

මේ අනුව ඇතැම් පෙරදිග රටවල පාලන කටයුතුවල දී ප්‍රජාතන්ත්‍රවාදී ලක්ෂණ අනුගමනය කළ බව පැහැදිලි වේ.

ක්‍රි. ව. 5 වන සියවසේ සිට 15 වන සියවස දක්වා යුරෝපයේ පැවතුණේ වැඩවසම් සමාජ ක්‍රමයයි. ක්‍රි. ව. 15 වන සියවසෙන් පසු ඉඩම් භුක්තිය හා බැඳුණු සේවාවන් සැපයීම මත පදනම් වූ කෘෂි ආර්ථික රටාව වෙනුවට වාණිජ ආර්ථිකයක් ගොඩ නැඟීම ආරම්භ විය. ඒ සමඟ ධනේශ්වර පන්තියක් ද බිහි විය. 15 වන සියවසෙන් පසු යුරෝපයේ ජාතික රාජ්‍ය බිහි වීම ඇරඹුණි. ඒ සමඟ ම ලිබරල්වාදී අදහස් පැතිර යාම නිසා පුද්ගල නිදහස ඇගයීමට ලක් විය.

රාජාණ්ඩු ක්‍රමය වෙනුවට පාලන කටයුතු සම්බන්ධයෙන් ජනතා නියෝජිතයන්ගේ බලය ඉස්මතු වන්නට විය. ක්‍රි. ව. 1688 සිදු වූ ඉංග්‍රීසි විප්ලවය (උත්කෘෂ්ට විප්ලවය) මෙයට නිදසුන් ලෙස දැක්විය හැකි ය. මෙම විප්ලවයෙන් පසු ජනතා නියෝජිතයන්ගෙන් සමන්විත පාර්ලිමේන්තුවේ බලය වර්ධනය වීමේ ක්‍රියාවලිය ආරම්භ විය.

## ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ ස්වරූප

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය පිළිබඳ ව විමසා බලන විට එහි ප්‍රධාන ස්වරූප දෙකක් දක්නට ලැබේ.

- සෘජු ප්‍රජාතන්ත්‍රවාදය
- වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය (නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය)

### සෘජු ප්‍රජාතන්ත්‍රවාදය (Direct Democracy)

ග්‍රීසියේ ඇතැන්ස් පෞර රාජ්‍යයේ පැවති පාලන ක්‍රමය මෙයට නිදසුනක් ලෙස දැක්විය හැකි ය.

> "සෘජු ප්‍රජාතන්ත්‍රවාදය යනු රටක ජනතාව එක් ස්ථානයකට රැස් වී සෘජු ව හා ඉක්මනින් රාජ්‍ය පාලන කටයුතු පිළිබඳ සාකච්ඡා කර ජනතා කැමැත්ත මත තීරණ ගන්නා ක්‍රමයයි."
>
> - **මහාචාර්ය ගානර්** -

පාලන ක්‍රමයක් ලෙස සෘජු ප්‍රජාතන්ත්‍රවාදය වර්තමානයේ ක්‍රියාත්මක කිරීමේ දී මතුවන ගැටලු,

- වර්තමාන රාජ්‍ය භූමි ප්‍රමාණයෙන් විශාල වීම
- වර්තමාන රාජ්‍ය අධික ජනගහනයකින් සමන්විත වීම
- සියලු පුරවැසින් එක් ස්ථානයකට රැස් කිරීමේ අපහසුතාවය
- සමාජ අවශ්‍යතා සංකීර්ණ වීම

## වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය (Indirect Democracy)

සෘජු ප්‍රජාතන්ත්‍රවාදී පාලනය ක්‍රියාත්මක කිරීමේ දී මතු වූ ප්‍රායෝගික ගැටලු හේතු කොට ගෙන පසු කාලයේ දී මහජනයා වෙනුවෙන් තෝරා ගන්නා නියෝජිතයන් මඟින් රටේ පාලනය ක්‍රියාත්මක කිරීම ආරම්භ විය. මෙය වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය හෙවත් නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය ලෙස හැඳින්වේ.

එය 17 වන සියවසේ දී යුරෝපයේ පාලන ක්‍රමයක් ලෙස භාවිත වන්නට විය. ඉන් පසු ව විවිධ චින්තකයන්ගේ අදහස් අනුව මෙම පාලන ක්‍රමය තව දුරටත් පෝෂණය වී ඇත. ඒ අනුව පාලනය සඳහා පාර්ලිමේන්තුව වැනි නියෝජිත ආයතන බිහි වී ඇත.

> "ජනතාව විසින් ජනතාව උදෙසා පවත්වාගෙන යනු ලබන ජනතාවගේ පාලන ක්‍රමය ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයයි."
>
> - **ඒබ්‍රහම් ලින්කන්** -

> "ප්‍රජාතන්ත්‍රවාදය යනු සියලු දෙනාට ම අයිතිවාසිකම් හිමිවන පාලන ක්‍රමයයි."
>
> - **සීලර්** -

නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය යටතේ පුරවැසියන්ට සෘජුව ම පාලන කටයුතුවලට සහභාගි වීමට ඇති ඉඩකඩ සීමා වේ. නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක වන ඇතැම් රටවල් පාලන කටයුතුවල දී සෘජුව ම ඡන්දදායකයන්ගේ අදහස් විමසුමට ලක් කරන අවස්ථා ඇත.

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව ජනමත විචාරණය ඊට නිදසුනක් ලෙස දැක්විය හැකි ය.

## ප්‍රජාතන්ත්‍රවාදය පාලන ක්‍රමයක් ලෙස වැදගත් වන ආකාරය

වර්තමාන බොහෝ රාජ්‍ය බහු සංස්කෘතික ජන සමාජවලින් සමන්විත වේ. එබඳු සමාජයක සෑම සාමාජිකයෙක් ම පාලන යාන්ත්‍රණයේ කොටස්කරුවන් බවට පත්වීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනය තුළ සිදු වේ.

ලෝකයේ බොහෝ රටවල් ජාතික මට්ටමෙන් හා ප්‍රාදේශීය මට්ටමෙන් මහජනතාව පාලනයට සම්බන්ධ කර ගැනීම සඳහා පාලන ආයතන ගොඩනගා ගෙන පාලනය ගෙන යයි.

- ප්‍රජාතන්ත්‍රවාදය පාලන ක්‍රමයක් ලෙස වැදගත් වන්නේ එය මහජන කැමැත්ත මත සිදු වන නිසා ය. පාලනය සඳහා නියෝජිතයින් තෝරා ගනු ලබන්නේ මහජනතාවගේ බහුතර කැමැත්ත අනුව ය.
- ආණ්ඩු බලය හිමි වන්නේ ජනතා ඡන්දයෙන් වැඩි නියෝජිත පිරිසක් තේරී පත් වූ පක්ෂයට හෝ කණ්ඩායමට ය.
- නීති සම්පාදනය කරනු ලබන්නේ ද මහජන ඡන්දයෙන් තේරී පත් වූ නියෝජිතයන්ගේ බහුතර කැමැත්ත අනුව ය.

## ප්‍රජාතන්ත්‍රවාදය ජීවන ක්‍රමයක් ලෙස වැදගත් වන ආකාරය

සමාජ හා ජීවන ක්‍රමයක් ලෙස ද ප්‍රජාතන්ත්‍රවාදය වැදගත් වේ. අන්‍ය මත ගරු කිරීම, සාකච්ඡා මඟින් තීරණවලට එළඹීම, සමානාත්මතාව ගරු කිරීම, අයිතිවාසිකම් භුක්ති විඳිමින් ඒ හා බැඳුණු යුතුකම් අගයන ජීවන ක්‍රමයකට හුරු වූ ජන සමාජයක් ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක් වේ.

එවන් ජන සමාජයක් තුළ ප්‍රජාතන්ත්‍රවාදී පාලනය ඉතා හොඳින් ක්‍රියාත්මක කිරීමට අවශ්‍ය වාතාවරණය ද ගොඩනැඟෙනු ඇත.

**ක්‍රියාකාරකම් 1.1**

- ග්‍රීසියේ ඇතැන්ස් නගරයේ පැවති සෘජු ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ මූලික ලක්ෂණ ලැයිස්තුගත කරන්න.
- නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ මෙහි සඳහන් නිර්වචන සැලකිල්ලට ගෙන සරල නිර්වචනයක් ඉදිරිපත් කරන්න.
- ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක සාමාජිකයකු ලෙස කටයුතු කිරීමේ දී ඔබ තුළ වර්ධනය කර ගත යුතු ගුණාංග ලේඛනයක් සකස් කරන්න.

## ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක අංග ලක්ෂණ

### සර්වජන ඡන්ද බලය පදනම් කරගෙන ආණ්ඩු සහ පාලකයන් තෝරා ගැනීම

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් පවතින රටක පාලනය සඳහා නියෝජිතයන් තෝරා ගනු ලබන්නේ සර්වජන ඡන්ද බලය පදනම් කර ගෙන ය. එමෙන් ම සෘජු ප්‍රජාතන්ත්‍රවාදී ලක්ෂණ අනුව පැවැත්වෙන ජනමත විචාරණය වැනි අවස්ථාවල දී ද සර්වජන ඡන්ද බලය ක්‍රියාත්මක වේ.

නියම කරන ලද වයස් සීමාවක් ඉක්ම වූ පුරවැසියන්ට කිසිදු භේදයකින් තොර ව ඡන්ද බලය හිමි වේ. ස්ත්‍රී පුරුෂභාවය, ජන වර්ගය, රැකියාව, ආදායම ආදිය නොසලකා ඡන්ද බලය පිරිනමනු ලැබේ. එය සර්වජන ඡන්දබලය ලෙස හැඳින්වේ.

දැනට ක්‍රියාත්මක වන ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 3 වන ව්‍යවස්ථාවේ මෙසේ සඳහන් වේ.

**"ශ්‍රී ලංකා ජනරජයේ පරමාධිපත්‍යය ජනතාව කෙරෙහි පිහිටා ඇත්තේ ය. පරමාධිපත්‍යය අත්හළ නොහැක්කේ ය. පරමාධිපත්‍යයට පාලන බලතල, මූලික අයිතිවාසිකම් සහ ඡන්ද බලය ද ඇතුළත් වන්නේ ය."**



1.3 රූපය - ඡන්දය ප්‍රකාශ කරන අවස්ථාවක් දැක්වෙන ඡායාරූපයක්

**ක්‍රියාකාරකම 1.2**

ශ්‍රී ලංකාවේ ඡන්දදායකයන්ට ඡන්දය පාවිච්චි කිරීමට ලැබෙන මැතිවරණ නම් කරන්න.

## තරගකාරී පක්ෂ ක්‍රමය

දේශපාලන පක්ෂ ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක ක්‍රියාකාරිත්වය සඳහා අත්‍යවශ්‍ය අංගයකි.

රටක පාලනය සඳහා සකස් කර ගනු ලැබූ ප්‍රතිපත්ති මාලාවක් පදනම් කර ගෙන, පාලන බලය ලබා ගැනීමේ අරමුණ ඇති ව සංවිධානය වූ පුද්ගල කණ්ඩායමක් දේශපාලන පක්ෂයක් ලෙස සරල ව හැඳින්විය හැකි ය.

කිසියම් රටක දේශපාලන බලය ලබා ගැනීම සඳහා තරග කිරීමට පක්ෂ රාශියකට ඉඩ ප්‍රස්තා සලසා තිබීම තරගකාරී පක්ෂ ක්‍රමයක් ලෙස හැඳින්විය හැකි ය. දේශපාලන පක්ෂ විවිධ දේශපාලන හා ආර්ථික වැඩ පිළිවෙළ පදනම් කර ගෙන මහජන කැමැත්ත ලබා ගැනීමේ නිරන්තර තරගයක යෙදෙන අන්දම දැකිය හැකි ය. මේ අනුව ජනතාවට තමන් කැමති දේශපාලන පක්ෂයක් තෝරා ගැනීමට අවස්ථාව සැලසේ.

පක්ෂ ක්‍රමයේ විවිධ ස්වරූප නූතන රාජ්‍ය තුළින් හඳුනාගත හැකි ය. ඒවා නම්,

**බහු පක්ෂ ක්‍රමය** → දේශපාලන පක්ෂ රාශියක් ක්‍රියාත්මක වේ. ශ්‍රී ලංකාව, ඉන්දියාව බහු පක්ෂ ක්‍රමය ක්‍රියාත්මක වන රටවලට නිදසුන් ය.

**ද්වි පක්ෂ ක්‍රමය** → දේශපාලන පක්ෂ කිහිපයක් ක්‍රියාත්මක වේ. එහෙත් මැතිවරණවල දී ආණ්ඩු බලය වරින් වර මාරු වන්නේ ප්‍රබල පක්ෂ දෙකක් අතර ය. නිදසුන්: මහා බ්‍රිතාන්‍ය, ඇමෙරිකා එක්සත් ජනපදය

**ඒක පක්ෂ ක්‍රමය** → රට තුළ නීත්‍යනුකූල ව එක් දේශපාලන පක්ෂයක් පමණක් ක්‍රියාත්මක වේ. සමාජවාදී දේශපාලන දර්ශනය පදනම් කර ගෙන පක්ෂ ක්‍රියාත්මක වේ. පවත්නා රටවලට නිදසුන් : චීනය, කියුබාව, උතුරු කොරියාව

### තරගකාරී පක්ෂ ක්‍රමයක යහපත් ලක්ෂණ

- ජන මතය නියෝජනයට ඇති ඉඩකඩ පුළුල් වීම
- අත්තනෝමතික පාලනයක් බිහි වීම වැළැක්වීම
- ආණ්ඩු පක්ෂයේ අහිතකර ප්‍රතිපත්ති විවේචනය කිරීම තුළින් ඒවා නිවැරදි කර ගැනීමට අවස්ථාව සැලසීම
- ජන සමාජයේ පවතින විවිධත්වය නිරූපණය වීමට අවස්ථාව සැලසීම
- බහුවිධතාව තුළින් එක්සත් බව ගොඩනැගීම

**ක්‍රියාකාරකම් 1.3**

- ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් සඳහා බහු පක්ෂ ක්‍රමයෙන් ඉටුවන සේවය පැහැදිලි කරන්න.
- පහත දැක්වෙන රටවල ක්‍රියාත්මක වන දේශපාලන පක්ෂ කිහිපයක් නම් කරන්න.

| ශ්‍රී ලංකාව | ඉන්දියාව | මහා බ්‍රිතාන්‍ය |
|---|---|---|
| ------------------------ | ------------------------ | ------------------------ |
| ------------------------ | ------------------------ | ------------------------ |
| ------------------------ | ------------------------ | ------------------------ |
| ------------------------ | ------------------------ | ------------------------ |

## ඡන්ද කොට්ඨාස ක්‍රමය

ප්‍රජාතන්ත්‍රවාදී පාලනය සඳහා ජනතා නියෝජිතයන් සම්බන්ධ කර ගැනීමට යොදා ගන්නා උපාය මාර්ගයක් ලෙස රට ඡන්ද කොට්ඨාසවලට බෙදා වෙන් කිරීම වැදගත් වේ. මෙම ඡන්ද කොට්ඨාස පදනම් කර ගෙන ව්‍යවස්ථාදායකයට මෙන් ම ප්‍රාදේශීය පාලන ආයතනවලට ද නියෝජිතයන් තෝරා පත් කර ගනු ලැබේ. නියෝජිතයන් තෝරා පත් කර ගැනීම සඳහා වර්තමානයේ දී බහුල වශයෙන් අනුගමනය කරනු ලබන්නේ සරල බහුතර නියෝජන ක්‍රමය හා සමානුපාතික නියෝජන ක්‍රමයයි.

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ඡන්ද කොට්ඨාස බෙදා වෙන් කිරීම සිදු කරනු ලබන්නේ මැතිවරණ කොට්ඨාස සීමා නිර්ණය කොමිෂන් සභාව මඟිනි. ඡන්ද කොට්ඨාස බෙදා වෙන් කිරීම සඳහා භූමිය හා ජනගහනය ප්‍රධාන නිර්ණායක ලෙස භාවිත කරයි.

නිදසුනක් ලෙස ශ්‍රී ලංකාවේ මැතිවරණ දිස්ත්‍රික්ක සිතියම මෙහි දක්වා ඇත.




1.4 රූපය - ශ්‍රී ලංකාවේ මැතිවරණ දිස්ත්‍රික්ක සිතියම

## ඡන්ද කොට්ඨාස අනුව නියෝජිතයන් තෝරා ගැනීම නිසා අත්වන ප්‍රයෝජන

- ජන සමාජයක පවත්නා ජන වර්ගය, ආගම, භාෂාව, කුලය වැනි භේද නොසලකා සියල්ලන්ගේ මතය නියෝජනය වන පරිදි නියෝජිතයන් තෝරා පත් කර ගැනීමට අවස්ථාව ලැබීම
- දේශපාලන ක්‍රියාවලිය පවත්වා ගෙන යාමට අවශ්‍ය වන නායකයන් ප්‍රාදේශීය මට්ටමෙන් බිහි කර ගැනීමට අවස්ථාව ලැබීම
- ඡන්ද කොට්ඨාසයට වග කියන නියෝජිතයකු තෝරා පත් කර ගැනීමට ජනතාවට අවස්ථාව ලැබීම
- ප්‍රාදේශීය සංවර්ධනයට ඉඩ ප්‍රස්තා සැලසීම

**ක්‍රියාකාරකම් 1.4**

- ඔබ පදිංචි ප්‍රදේශය අයත් වන මැතිවරණ දිස්ත්‍රික්කය නම් කරන්න.
- පාර්ලිමේන්තු මැතිවරණයක දී එම දිස්ත්‍රික්කය සඳහා පත් කර ගන්නා නියෝජිතයන් සංඛ්‍යාව කොපමණ ද?
- ශ්‍රී ලංකාව මැතිවරණ දිස්ත්‍රික්ක කීයකට බෙදා තිබේ ද?

## නිදහස් හා සාධාරණ මැතිවරණ

මැතිවරණ මඟින් පාලන ආයතන සඳහා නියෝජිතයන් තෝරා ගැනීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක මූලික ලක්ෂණයකි. එමෙන් ම මැතිවරණ, පාලන කටයුතු සඳහා ජනතා සහභාගිත්වය ලබා ගැනීමේ අවස්ථාවක් ලෙස ද වැදගත් වේ.

ප්‍රජාතන්ත්‍රවාදයේ පැවැත්ම සඳහා මැතිවරණ අත්‍යවශ්‍ය සාධකයක් වන අතර නිදහස් හා සාධාරණ පදනමක් මත මැතිවරණ පැවැත්වීම ද අත්‍යවශ්‍ය කොන්දේසියකි. ඡන්දදායකයන්ට නිදහසේ තමන් කැමති දේශපාලන පක්ෂයකට හෝ කණ්ඩායමකට සහාය ලබා දීමට හා ඡන්දය ප්‍රකාශ කිරීමට අවස්ථාව තිබිය යුතු ය. එසේ ම අපේක්ෂකයන්ට ද නිදහසේ තම මැතිවරණ කටයුතු ක්‍රියාත්මක කිරීමට සුදුසු වාතාවරණයක් පැවතිය යුතු ය.

### නිදහස් හා සාධාරණ මැතිවරණයක ලක්ෂණ

- නියමිත කාල සීමාව තුළ මැතිවරණ පැවැත්වීම
- නියමිත සුදුසුකම් සපුරා ඇති පුරවැසියන්ට ඡන්ද දායකත්වය/ඡන්ද අපේක්ෂකත්වය ලැබීමේ අයිතිය තහවුරු වී තිබීම
- නිදහසේ මැතිවරණ කටයුතුවලට සහභාගි වීමට ඇති අයිතිය තහවුරු වී තිබීම

- මැතිවරණ නීති රීතිවලට අනුකූල ව මැතිවරණ පැවැත්වීම
- සාමකාමී වාතාවරණයක් තුළ මැතිවරණ පැවැත්වීම

**ක්‍රියාකාරකම් 1.5**

- ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් පවතින රටක ඡන්දදායකයකු සතු අයිතිවාසිකම් තුනක් පහත දැක්වෙන වගුවේ I තීරුවේ සඳහන් වේ. නිදහස් හා සාධාරණ මැතිවරණයක් සඳහා එම අයිතීන් හා බැඳුණු යුතුකම් II තීරුවේ සඳහන් කරන්න.

| I තීරුව | II තීරුව |
|---|---|
| ඡන්දදායකයකු සතු අයිතීන් | එම අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම් |
| 1. ඡන්දය පාවිච්චි කිරීම | ----------------------------------- ----------------------------------- |
| 2. මැතිවරණ ප්‍රචාරක රැස්වීම්වලට සහභාගි වීම | ----------------------------------- ----------------------------------- |
| 3. මැතිවරණ ප්‍රචාරක රැස්වීම් ඇමතීම | ----------------------------------- ----------------------------------- |

## ආණ්ඩු පක්ෂයක් හා විරුද්ධ පක්ෂයක් පැවතීම

පාලන ආයතන සඳහා නියෝජිතයන් තෝරා පත් කර ගැනීම සඳහා පැවැත්වෙන මැතිවරණයක දී නියමිත බහුතර නියෝජිතයන් සංඛ්‍යාවක් තේරී පත් වූ පක්ෂය හෝ පක්ෂවල එකතුවෙන් ආණ්ඩු පක්ෂය සකස් වීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක දී සිදු වේ. පාලන කටයුතු මෙහෙයවීම ආණ්ඩු පක්ෂයේ කාර්යය වේ. මැතිවරණයක දී ආණ්ඩු පක්ෂයට වඩා අඩු නියෝජිතයන් සංඛ්‍යාවක් තේරී පත් වූ පක්ෂය හෝ පක්ෂ විරුද්ධ පක්ෂය ලෙස කටයුතු කරයි.

### ප්‍රජාතන්ත්‍රවාදී පාලනය සාර්ථක කර ගැනීම සඳහා විරුද්ධ පක්ෂයෙන් ඉටු විය යුතු කාර්යභාරය

- ආණ්ඩු පක්ෂය විසින් ඉටු කරනු ලබන යහපත් කටයුතු සාර්ථක කර ගැනීමට සහයෝගය ලබා දීම
- ආණ්ඩු පක්ෂයේ ක්‍රියාකාරකම් ගැන සොයා බලා සංවර්ධනාත්මක විවේචනය තුළින් ආණ්ඩුව සුමගට යොමු කිරීම

- ආණ්ඩු පක්ෂයේ ප්‍රජාතන්ත්‍ර විරෝධී ප්‍රතිපත්තිවලට හා ක්‍රියාවන්ට විරුද්ධත්වය දැක්වීම
- වඩා යහපත් විකල්ප ආණ්ඩුවක් පිහිටු වීමට ක්‍රියා කිරීම

**ක්‍රියාකාරකම 1.6**

ආණ්ඩු පක්ෂයෙන් ජනතාවට ඉහළ සේවාවක් ලබා දීම සඳහා විරුද්ධ පක්ෂයෙන් ලබා දිය හැකි සහාය කෙටියෙන් පැහැදිලි කරන්න.

## නිදහස, සමානාත්මතාවය හා අයිතිවාසිකම්

තම දේශපාලන, ආර්ථික හා සමාජීය අවශ්‍යතා ඉටු කර ගැනීමට පුද්ගලයාට සමාජයෙන් ලැබෙන ඉඩකඩ 'නිදහස' යනුවෙන් සරල ව හැඳින්විය හැකි ය.

"බාහිර බාධකයන්ගෙන් තොර ව පුද්ගලයාට සිය පෞද්ගලිකත්වය වර්ධනය කර ගැනීමට ඇති ඉඩ ප්‍රස්තාව නිදහසයි."

**- ජී. ඩී. එච්. කෝල් -**

එම නිදහස සමාජයේ සෙසු සාමාජිකයන්ට අවහිරයක් හෝ බාධාවක් නොවන ලෙස භුක්ති විඳීම ඉතා වැදගත් වේ. මේ අනුව නිදහස භුක්ති විඳිය හැක්කේ නීතිමය සීමාවන්ට යටත් ව ය.

පුද්ගලයාට තම ජීවිතය පරිපූර්ණ කර ගැනීමට ලැබෙන නිදහස පොදුවේ සමස්ත සමාජයේ ම දියුණුවට හේතු වේ.

සෑම අයෙකුට ම සමාන අවස්ථා ලබා දීම සමානාත්මතාවයයි. කිසිදු වෙනස්කමකට භාජනය නොකොට අයිතිවාසිකම් හා නිදහස සමාන ව භුක්ති විඳීමට ඉඩ සැලසීම මින් අදහස් කෙරේ.

නිදහස හා සමානාත්මතාව යන ගුණාංග සමාජය තුළ ක්‍රියාත්මක වීමට නම් අයිතිවාසිකම් ද සුරක්ෂිත විය යුතු ය.

මිනිසාට තම සමාජ ජීවිතය පරිපූර්ණ කර ගැනීම සඳහා සමාජයෙන් ලැබෙන හිමිකම් අයිතිවාසිකම් ලෙස හැඳින්වීමට හැකි ය.

මිනිසකු ලෙස ගරුත්වයකින් යුතු ව සමාජයේ ජීවත් වීම සඳහා ඔහුට උපතින් ම ලැබෙන, කිසිදු විශේෂයකට ලක් නොකළ යුතු හිමිකම් මානව අයිතිවාසිකම් ලෙස හැඳින්විය හැකි ය.

ක්‍රි. ව. 1948 දෙසැම්බර් 10 වන දින එක්සත් ජාතීන්ගේ මහා මණ්ඩලය විසින් මානව අයිතිවාසිකම් පිළිබඳ විශ්ව ප්‍රකාශනය සම්මත කරන ලදී. මෙය මානව අයිතිවාසිකම් දිනා ගැනීමේ ඉතිහාසයේ වැදගත් ම අවස්ථාවකි. එමගින් මානව අයිතිවාසිකම්වලට නීතිමය ස්වරූපයක් ලබා දෙන ලදී.

අයිතිවාසිකම් නිසි පරිදි භුක්ති විඳීම මගින් පුද්ගලයාට යහපත් සමාජ ජීවිතයක් ගත කිරීමට අවස්ථාව උදා වේ. ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක අයිතිවාසිකම් ලබා දීමේ අරමුණ වන්නේ පුද්ගල සංවර්ධනය තුළින් සමාජයේ ම අභිවෘද්ධිය ඇති කිරීමයි. අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම් ඉටු කිරීම තුළින් මුළු සමාජයේ ම උන්නතිය තහවුරු වේ. අධ්‍යාපනය ලැබීම ඔබ සතු අයිතිවාසිකමකට නිදසුනකි. ඔබ අධ්‍යාපනය තුළින් ලබන දැනුම හා කුසලතා සමාජ අභිවෘද්ධිය වෙනුවෙන් කැප කිරීම ඔබගේ යුතුකම වේ.

**ක්‍රියාකාරකම් 1.7**

- I තීරුවේ සඳහන් අයිතිවාසිකම් වෙනුවෙන් පුරවැසියකු විසින් ඉටුකළ යුතු යුතුකම් II තීරුවේ සඳහන් කරන්න.

| I තීරුව | II තීරුව |
|---|---|
| **අයිතිවාසිකම** | **අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම්** |
| සාමකාමී ව එක් රැස්වීමට ඇති අයිතිය | ---------------------------------- <br> ---------------------------------- |
| අධ්‍යාපනය ලැබීමට ඇති අයිතිය | ---------------------------------- <br> ---------------------------------- |
| වැඩ කිරීමට හා සමාන වැඩ සඳහා සමාන වැටුප් ලබා ගැනීමේ අයිතිය | ---------------------------------- <br> ---------------------------------- |

- ඔබේ දෙමව්පියන් හා වැඩිහිටියන් වෙනුවෙන් ඔබෙන් ඉටු විය යුතු සදාචාරාත්මක යුතුකම් සඳහන් කරන්න.

## ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූල ව කටයුතු කිරීම

රටක මූලික නීතිය වන්නේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවයි. ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් යටතේ රටේ පාලන කටයුතු සිදු වන්නේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූලව ය.

"ආණ්ඩුවේ ප්‍රධාන කොටස් ලෙස සැලකෙන ව්‍යවස්ථාදායකය, විධායකය හා අධිකරණය සකස් වන ආකාරය, ඒවා සතු බලතල, ඒවා ක්‍රියාත්මක වන ආකාරය, එම ආයතන හා පුරවැසියන් අතර පවතින සම්බන්ධතාවයේ ස්වරූපය යනාදිය පිළිබඳ මූලික සිද්ධාන්ත ඇතුළත් ලියවිල්ල ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවයි."

- මහාචාර්ය අයිවර් ජෙනිංග්ස් -

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක ඇතුළත් විය යුතු කරුණු පිළිබඳ නිශ්චිත එකඟතාවක් නැත. එහෙත් බොහෝ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවල පහත සඳහන් කරුණු ඇතුළත් කර ඇත.

- ආණ්ඩුවේ ප්‍රධාන ආයතන වන ව්‍යවස්ථාදායකය, විධායකය හා අධිකරණය නිර්මාණය වන ආකාරය
- එම ආයතනවල කාර්යභාරය, බලතල හා එම ආයතන අතර පවත්නා සබඳතාවල ස්වරූපය
- ආණ්ඩුව හා පුරවැසියා අතර පැවතිය යුතු සම්බන්ධතාවයන් හි ස්වරූපය
- පුරවැසියන් සතු මූලික අයිතිවාසිකම්
- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සංශෝධනය කිරීම සම්බන්ධයෙන් වන විධි විධාන

## ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් පවතින රටක ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූල ව කටයුතු කිරීම නිසා ලැබෙන ප්‍රයෝජන

- පාලනයේ ක්‍රමවත් බව හා ස්ථාවර බව ආරක්ෂා වීම
- පුරවැසි අයිතිවාසිකම් පිළිබඳ පාලක හා පාලිත දෙපක්ෂය ම දැනුවත් වීම
- පාලකයන් අත්තනෝමතික ලෙස ක්‍රියා කළහොත් එය වළක්වා ගත හැකි වීම
- අධිකරණයේ ස්වාධීනත්වය සුරක්ෂිත වීම
- මූලික අයිතිවාසිකම් සුරක්ෂිත වීම
- ආණ්ඩුක්‍රමයට සම්බන්ධ ආයතනවලින් රටවැසියන්ට සිය අවශ්‍යතා, සිතුම්පැතුම් ඉටු කර ගත හැකි වීම
- නීතියේ රැකවරණය සැමට සමාන ව ලැබීම

## මාධ්‍ය නිදහස හා තොරතුරු ලබා ගැනීමේ අයිතිය

ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් පවතින රටක ජනතාවට තම අදහස් ප්‍රකාශ කිරීමටත්, තොරතුරු දැන ගැනීමටත් නිදහස තිබේ. මෙම කාර්යභාරය ඉටු කරනු ලබන්නේ ජනමාධ්‍ය මඟින් ය. මහජන මතය ගොඩනැගීම සඳහා බලපාන ප්‍රධාන සාධකයක් වන්නේ ද ජනමාධ්‍යයි.

ආණ්ඩුවේ ක්‍රියාකාරිත්වය හා තීන්දු ගැනීම පිළිබඳ තොරතුරු දැන ගැනීමට ජනතාවට අයිතියක් තිබේ. මෙය යහපාලනයක් සඳහා ද අත්‍යවශ්‍ය අංගයක් වේ. එමෙන් ම ආණ්ඩුව වෙත ජනතාවගේ අදහස් දැනුම් දීමේ හැකියාව ද මාධ්‍ය සතු වේ.

ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් තුළ ජන මතය ගොඩනැංවීම පිළිබඳ කාර්යභාරය මැනවින් ඉටු කිරීම සඳහා මාධ්‍ය නිදහස අත්‍යවශ්‍ය වේ.

## ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක පැවැත්ම සඳහා නිදහස් මාධ්‍ය මඟින් ඉටු කළ යුතු කාර්යභාරය

- සත්‍ය හා නිවැරදි තොරතුරු ජනතාව වෙත සැපයීම
- අපක්ෂපාතී ව සහ සමාජයේ යහපැවැත්මට හිතකර අන්දමින් තොරතුරු සැපයීම
- ජනතාවගේ දුක් ගැනවිලි පාලක පක්ෂයේ අවධානයට යොමු කිරීම
- පාලකයන් ප්‍රජාතන්ත්‍රවාදී මාවතට යොමු කිරීම
- ජනතාවගේ දැනුම වර්ධනය කිරීම
- කාලීන තොරතුරු නිසි වේලාවට ජනතාවට ලබා දීම

**ක්‍රියාකාරකම 1.8**

එදිනෙදා තොරතුරු ජනතාව වෙත සැපයීමේ දී මාධ්‍ය විසින් පිළිපැදිය යුතු ආචාර ධර්ම ලැයිස්තුවක් සකස් කරන්න.

## අධිකරණයේ ස්වාධීනත්වය

රටක යුක්තිය පසිඳලීමේ ක්‍රියාදාමය අධිකරණය මඟින් ඉටු කරනු ලබයි. ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක නිදහස හා අයිතිවාසිකම් සුරැකීම සම්බන්ධ ව ද අධිකරණය විසින් ඉතා වැදගත් කාර්යභාරයක් ඉටු කරනු ලබයි.

අධිකරණය ව්‍යවස්ථාදායකයේ, විධායකයේ හෝ වෙනත් බලපෑම්වලින් වියුක්ත ස්වාධීන ආයතනයක් වශයෙන් පැවතීම අත්‍යවශ්‍ය වේ. අධිකරණයේ ස්වාධීනත්වය ආරක්ෂා කිරීම සඳහා නූතන රාජ්‍ය ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා මඟින් විවිධ විධිවිධාන සලසා තිබේ. අධිකරණය ස්වාධීන ව පැවතීම තුළින් පුරවැසියන්ට සමාන ව යුක්තිය හා සාධාරණත්වය ඉටු වේ.

## නීතියේ ආධිපත්‍යය හා නීතිය ඉදිරියේ සමානාත්මතාවය

රටක සියල්ලන්ට ම ඉහළින් නීතිය පවතී. එය නීතියේ ආධිපත්‍යයයි. රටක පාලක, පාලිත දෙපක්ෂය ම නීතියට අවනත වීම අත්‍යවශ්‍ය වන අතර සැවොම නීතියට ගරු කළ යුතු ය. නීතිය අබිබවා යාම නොකළ යුතු ය. නීතිය ක්‍රියාත්මක වීමේ දී පාලකයන්ට මෙන් ම පාලිතයන්ට ද සමාන ව නීතිය ක්‍රියාත්මක විය යුතු ය.

ජන වර්ගය, කුලය, භාෂාව, ආගම, ස්ත්‍රී පුරුෂභාවය ආදි කිසිදු විශේෂීකරණයකට ලක් නොවන ලෙස නීතිය ක්‍රියාත්මක වීම නීතිය ඉදිරියේ සමානාත්මතාවය ලෙස කෙටියෙන් හැඳින්විය හැකි ය.

## නීතියේ ආධිපත්‍යය පවතින බව විදහාපාන ලක්ෂණ

- සැවොම නීතියට ගරු කිරීම, අවනත වීම හා නීතිය අබිබවා නොයාම
- පවත්නා නීතිය යටතේ වරදකරුවන්ට දඬුවම් පැමිණ වීම
- චෝදනා පත්‍රයකට අනුව පමණක් පුද්ගලයකු අත් අඩංගුවට ගැනීම
- නීතිය ඉදිරියේ සමානාත්මතාවය
- නීතියේ රැකවරණය සියල්ලන්ට ම සර්ව සාධාරණ ව ලැබීම

**ක්‍රියාකාරකම 1.9**

අධිකරණයේ ස්වාධීනත්වය ආරක්ෂා කිරීම සඳහා ශ්‍රී ලංකාවේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් යොදා ඇති විධිවිධාන දෙකක් නම් කරන්න.

## රාජ්‍යයේ හා ආණ්ඩුවේ ස්වභාවය

### රාජ්‍යය (The State)

රාජ්‍යය ස්ථාවර ආයතනයක් වන අතර ආණ්ඩුව වරින් වර වෙනස්වීම්වලට භාජනය වන ආයතනයකි. වර්තමාන රාජ්‍ය ජාතික රාජ්‍ය ලෙස සැලකෙන අතර, එබඳු රාජ්‍යයක් තුළ දක්නට ලැබෙන මූලික ලක්ෂණ හතරක් වේ. ඒවා නම් භූමිය, ජනගහනය, ආණ්ඩුව හා ස්වාධිපති බලය යන අංගයන් ය.

#### 1. භූමිය (Territory)

- නිශ්චිත දේශ සීමාවන්ගෙන් වට වූ භූමි ප්‍රමාණය
- ඒ වටා පිහිටි මුහුදු සීමාව
- භූමියට ඉහළින් පවතින අහස් කුස ද ඊට ඇතුළත් වේ.

## 2. ජනගහනය (Population)

- නිශ්චිත භූමි ප්‍රදේශය තුළ ජීවත්වන ජන සංඛ්‍යාව

## 3. ආණ්ඩුව (Government)

- රාජ්‍ය තුළ නීතිය හා සාමය ආරක්ෂා කිරීමත්, පුරවැසියන් පොදු අරමුණු ඉටු කර ගැනීම සඳහා මෙහෙයවීමත් ආණ්ඩුව සිදු කරයි.

## 4. ස්වාධිපති බලය (Sovereignty)

- කිසිදු අභ්‍යන්තර හෝ බාහිර බලවේගයක මැදිහත් වීමෙන් තොර ව ජනතාව වෙනුවෙන් යෙදවිය හැකි අධිකාරී බලය ස්වාධිපති බලයයි. නීති පැනවීමටත් එම නීතිවලට ජනතාවගේ අවනතභාවය ලබා ගැනීමටත් ස්වාධිපති බලය ආධාර වේ.

## රාජ්‍යය පිළිබඳ ඉදිරිපත් වී ඇති නිර්වචන

"යම් නිශ්චිත භූමි ප්‍රදේශයක, ස්ථිර වාසභූමිය කරගත්, සංඛ්‍යාත්මක වශයෙන් අඩු හෝ වැඩි විය හැකි යම් ජන සංඛ්‍යාවකින් සමන්විත ජනතාවගේ බහුතර අනුමැතිය ලබන්නා වූ සංවිධානාත්මක ආණ්ඩුවක් සහිත බාහිර වශයෙන් ස්වාධීන නැතිනම් වෙනත් පාලනයකට යටත් නොවූ මිනිස් සමාජය, රාජ්‍ය වශයෙන් හැඳින්විය හැකි ය."

- මහාචාර්ය ගානර් -

"ප්‍රීතිමත් හා ගෞරවාන්විත ජීවිතයක් ගත කිරීමේ අරමුණින් මිනිසුන් එකට එක් වී පිහිටුවා ගත් සංවිධානය රාජ්‍යය වේ."

- ඇරිස්ටෝටල් -

## ජාතික රාජ්‍යයේ ස්වභාවය

දේශපාලන සංවිධානයක් ලෙස ජාතික රාජ්‍ය යුරෝපයේ ස්ථාපිත වන්නේ 15 වන සියවසෙන් පසුව ය.

### ජාතික රාජ්‍යයක ප්‍රධාන ලක්ෂණ

- එක් ජාතියක් සඳහා එක් රාජ්‍යයක් යන සංකල්පය මත පදනම් වීම
- භූමිය, ජනගහනය, ආණ්ඩුව, ස්වාධිපති බලය යන අංගයන්ගෙන් සමන්විත වීම
- වෘත්තීය නිලබල පැලැන්තියක් මඟින් පාලන බලය මෙහෙයවීම
- අභ්‍යන්තර හා බාහිර කටයුතු සම්බන්ධයෙන් ස්වාධිපති බලය හිමි වීම

### ජාතික රාජ්‍යයේ ආරම්භය හා විකාශනය

ක්‍රි. ව. 15 වන සියවසෙන් පසු යුරෝපයේ ජාතික රාජ්‍ය බිහි වීම ආරම්භ විය. එංගලන්තය හා ප්‍රංශය යුරෝපයේ බිහි වූ ප්‍රථම ජාතික රාජ්‍යයන් ය. ඉන් පසු ජර්මනිය හා ඉතාලිය ද ජාතික රාජ්‍ය ලෙස සංවිධානය විය. 20 වන සියවස වන විට යුරෝපය පුරා මෙන් ම ලෝකය පුරා ජාතික රාජ්‍ය බිහි වීම සිදු විය.

### ජාතික රාජ්‍යය බිහි වීමට බලපෑ හේතු

- රෙපරමාදු ආගමික ප්‍රතිසංස්කරණ
- පුනරුදය
- වැඩවසම් ක්‍රමය බිඳ වැටී ධනවාදී ආර්ථිකයක් ගොඩනැගීම
- විද්‍යාත්මක දැනුම වර්ධනය

ජාතික රාජ්‍ය බිහි වීම සඳහා අවශ්‍ය ආගමික පදනම රෙපරමාදු ආගමික ප්‍රතිසංස්කරණ මඟින් සැපයුණි. නිකොලායි මැකියාවෙලි, ජීන් බොඩැන්, තෝමස් හොබ්ස් වැනි දේශපාලන චින්තකයන්ගේ අදහස් ජාතික රාජ්‍ය පිළිබඳ සංකල්පය ශක්තිමත් තත්ත්වයකට ගෙන ඒමට ආධාර විය.

එංගලන්තය, ප්‍රංශය, ඕලන්දය, පෘතුගාලය වැනි රටවල් ප්‍රබල ජාතික රාජ්‍යයන් ලෙස නැඟී සිටීමට හේතු වූ කරුණු කිහිපයකි. ඊට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- ජාතික ඒකාග්‍රතාව
- යුධ හා නාවික ශක්තිය
- දියුණු ආර්ථික තත්ත්වය
- එම ජාතීන් සතු වූ නිර්මාණශීලී හැකියාව

## රාජ්‍යයේ භූමිකාව

නූතන ජාතික රාජ්‍යයන් විශාල භූමි ප්‍රමාණ පදනම් කරගෙන මෙන් ම කුඩා භූමි ප්‍රමාණ පදනම් කර ගෙන ද බිහි වී ඇත. එමෙන් ම විශාල ජනගහනයකින් මෙන් ම කුඩා ජන සංඛ්‍යාවකින් සමන්විත රාජ්‍යයන් ද පවතී. නූතන ජාතික රාජ්‍යයන් සතු භූමි ප්‍රමාණ හා ජන සංඛ්‍යාව සැලකිල්ලට ගත් විට ඒ සමඟ මුහුණ පෑමට සිදු වන සමාජ, ආර්ථික හා දේශපාලන ප්‍රශ්න ද ඉතා සංකීර්ණ වේ. ජනවාර්ගික විවිධත්වය හා ආර්ථික විෂමතා ඊට නිදසුන් ලෙස දැක්විය හැකි ය. මෙම ප්‍රශ්න විසඳීමත්, සමාජ සාධාරණත්වය හා සමානාත්මතාවය ආරක්ෂා වන පරිදි කටයුතු කිරීමත්, මූලික මිනිස් අයිතිවාසිකම් සුරක්ෂිත කිරීමත් රාජ්‍යයට පැවරෙන මූලික කාර්ය භාරය වේ.

ඒ අනුව රාජ්‍යයට පැවරෙන කාර්යයන්ට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- නීතිය හා සාමය ආරක්ෂා කිරීම
- ආර්ථික හා දේශපාලන ස්ථාවරභාවය පවත්වා ගෙන යාම
- සමාජ සුබසාධක සේවා සැපයීම
- දිළිඳුකම තුරන් කිරීමට කටයුතු කිරීම
- පොදු සේවා පවත්වා ගෙන යාම
- සංවර්ධන සැලසුම් ක්‍රියාත්මක කිරීම
- යුධ කැරලි කෝලාහල, වාර්ගික අර්බුද වැනි ගැටුම් විසඳීම
- මූලික මිනිස් අයිතිවාසිකම් ආරක්ෂා කිරීම සහ ප්‍රවර්ධනය කිරීම

**ක්‍රියාකාරකම 1.10**

දිළිඳුකම තුරන් කිරීම හා සමාජ සුබසාධන සේවා සැපයීම සඳහා රාජ්‍යයක් වශයෙන් ශ්‍රී ලංකාව අනුගමනය කරන ක්‍රියාමාර්ගවලට නිදසුන් දක්වමින් බිත්ති පුවත්පතකට සුදුසු ලිපියක් සකස් කරන්න.

## රාජ්‍යයන්ගේ ප්‍රධාන ස්වරූප

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් මධ්‍යම ආණ්ඩුව හා ප්‍රාදේශීය පාලන ආයතන අතර බලය බෙදා ඇති ආකාරය සැලකිල්ලට ගෙන රාජ්‍යයන් පහත දැක්වෙන අයුරු වර්ග කර ඇත.

- ඒකීය රාජ්‍ය
- සන්ධීය රාජ්‍ය

### ඒකීය රාජ්‍ය (Unitary State)

එක් මධ්‍යම ආණ්ඩුවක් යටතේ බලය ඒකරාශී වූ රාජ්‍යයන් ඒකීය රාජ්‍යයන් ලෙස හැඳින්විය හැකි ය. ව්‍යවස්ථාදායක, විධායක හා අධිකරණ බලතල ක්‍රියාත්මක කිරීමේ ප්‍රධාන වගකීම හිමි වන්නේ එම මධ්‍යම ආණ්ඩුවටයි.

ඒකීය රාජ්‍යයක ප්‍රාදේශීය පාලන ආයතන විසින් මධ්‍යම ආණ්ඩුව පවරා දෙනු ලබන පරිපාලන බලතල ක්‍රියාත්මක කරනු ලැබේ.

### සන්ධීය රාජ්‍ය (Federal State)

තල දෙකක ආණ්ඩු ක්‍රියාත්මක වන පාලන ක්‍රම සහිත රාජ්‍ය සන්ධීය රාජ්‍ය ලෙස හැඳින්විය හැකි ය. මෙහි දී ව්‍යවස්ථාදායක, විධායක හා අධිකරණ බලතල මධ්‍යම

ආණ්ඩුව සහ ප්‍රාදේශීය මට්ටමේ පාලන ඒකක මඟින් ක්‍රියාත්මක කරනු ලැබේ (ඒකීය රාජ්‍ය හා සන්ධීය රාජ්‍ය පිළිබඳ සවිස්තරාත්මක තොරතුරු දෙවන පරිච්ඡේදයේ සඳහන් වේ).

**ක්‍රියාකාරකම 1.11**

ඒකීය රාජ්‍යයක හා සන්ධීය රාජ්‍යයක ප්‍රධාන ලක්ෂණ වෙන් වෙන් ව වගුගත කරන්න.

## ආණ්ඩුව (Government)

රාජ්‍යයේ කැමැත්ත හා මහජන අපේක්ෂා ප්‍රායෝගික වශයෙන් ක්‍රියාවට නංවන නියෝජිතයා ආණ්ඩුව ලෙස හැඳින්විය හැකි ය. නීතිය හා සාමය ආරක්ෂා කිරීමත්, පුරවැසියන් පොදු අරමුණක් කරා මෙහෙයවීමත් සිදු කරනු ලබන්නේ ආණ්ඩුවයි.

> "රාජ්‍යයේ හෝ ජනතාවගේ කැමැත්ත ප්‍රතිපත්තිවලට හැරවීමත්, ඒවා ක්‍රියාවට නැංවීමත් කරනු ලබන නියෝජිතයා ආණ්ඩුව වේ."
>
> - මහාචාර්ය ගානර් -

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් යටතේ මැතිවරණ මඟින් ජනතාවගේ බහුතර කැමැත්ත අනුව ආණ්ඩුව තෝරා පත් කර ගනු ලැබේ. මැතිවරණවල දී ප්‍රකාශ වන මහජන මතය අනුව ආණ්ඩුව වරින් වර වෙනස් විය හැකි ය.

ආණ්ඩුව පහත දැක්වෙන ආයතනවලින් සමන්විත වේ.




**ක්‍රියාකාරකම 1.12**

රාජ්‍යය හා ආණ්ඩුව අතර දක්නට ලැබෙන වෙනස්කම් පැහැදිලි කරන්න.

### ආණ්ඩුවේ ප්‍රධාන අවයව (organs) හා ඒවායේ ක්‍රියාකාරිත්වය

ඉහත සඳහන් වූ පරිදි ව්‍යවස්ථාදායකය, විධායකය හා අධිකරණය යන ප්‍රධාන ආයතනවලින් ආණ්ඩුව සමන්විත වේ.

## ව්‍යවස්ථාදායකය (Legislature)

නිශ්චිත කාල සීමාවක් සඳහා මැතිවරණයක් මඟින් සර්වජන ඡන්ද බලය පදනම් කරගෙන ව්‍යවස්ථාදායක මණ්ඩලයට නියෝජිතයන් තෝරා පත් කර ගැනීම සිදු කරනු ලබයි.


1.5 රූපය - ශ්‍රී ලංකා පාර්ලිමේන්තුව

මෙම මණ්ඩලයේ කාර්යයන්,

- නීති සම්මත කිරීම
- මුදල් පාලනය
- විධායකය පාලනය කිරීම

## විධායකය (Executive)

ව්‍යවස්ථාදායකය මඟින් පනවන නීති ක්‍රියාවට නංවන ආයතනය විධායකයයි. මෙම මණ්ඩලයට නියෝජිතයන් පත් කර ගන්නා ආකාරය ආණ්ඩුක්‍රමයේ ස්වරූපය මත තීරණය වේ. පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක විධායකය ලෙස සැලකෙන්නේ අගමැති ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලයයි. එය තේරී පත්වන්නේ මහ මැතිවරණයක දී ව්‍යවස්ථාදායකයේ බහුතර ආසන සංඛ්‍යාවක් දිනා ගත් දේශපාලන පක්ෂයේ හෝ කණ්ඩායමේ නියෝජිතයන් අතුරෙන් ය.

ජනාධිපති ආණ්ඩුක්‍රමයක ජනාධිපතිවරයා විධායකයේ ප්‍රධානියා වේ. ජනාධිපතිවරයා තෝරා පත් කර ගනු ලබන්නේ වෙන ම මැතිවරණයක් මඟින් ය.

## අධිකරණය (Judiciary)

ව්‍යවස්ථාදායකය මඟින් පනවන නීති විධායකය මඟින් ක්‍රියාවට නැංවීමේ දී පැන නඟින ගැටලු නිරාකරණය කරනු ලබන්නේ අධිකරණය මඟිනි. යුක්තිය පසිඳලීම අධිකරණයෙන් ඉටු වන ප්‍රධාන කාර්යයයි. පුරවැසි අයිතිවාසිකම් සුරැකීම, ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ ආරක්ෂකයකු ලෙස කටයුතු කිරීම සම්බන්ධයෙන් අධිකරණය වැදගත් කාර්යභාරයක් ඉටු කරනු ලබයි.

සන්ධීය රාජ්‍යයන්හි මධ්‍යම හා ප්‍රාන්ත ආණ්ඩු අතර ඇතිවන ගැටලු නිරාකරණය කිරීම සිදු කරනු ලබන්නේ ඉහළ අධිකරණ ආයතන මඟිනි.

ඉහළ අධිකරණ සඳහා විනිශ්චයකාරවරුන් තෝරා පත් කර ගැනීමේ විධිවිධාන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට ඇතුළත් කර තිබේ.

**ක්‍රියාකාරකම 1.13**

ව්‍යවස්ථාදායකය, විධායකය හා අධිකරණයේ කාර්යභාරය වෙන් වෙන් ව වගුගත කරන්න.

## ආණ්ඩුක්‍රමවල ස්වරූප

නූතන රාජ්‍යයන්හි මූලික වශයෙන් ආණ්ඩුක්‍රම දෙකක් දක්නට ලැබේ. එනම්

- පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමය
- ජනාධිපති ආණ්ඩුක්‍රමය වශයෙනි.

### පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමය (Parliamentary Government)

ජනතාව විසින් නිශ්චිත කාල සීමාවක් සඳහා තෝරා පත් කරනු ලබන නියෝජිතයන්ගෙන් සැදුම්ලත් පාර්ලිමේන්තුවකින් ද, පාර්ලිමේන්තුව තුළින් තේරී පත් වූ විධායකයකින් ද, ස්වාධීන අධිකරණයකින් ද සමන්විත ආණ්ඩුක්‍රමයක් පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක් ලෙස හැඳින්වේ.

පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක් තුළ විධායකය තේරී පත්වන්නේ පාර්ලිමේන්තුවට තේරී පත්වන නියෝජිතයන්ගෙන් ය. මේ නිසා විධායකය සෘජු ව ම පාර්ලිමේන්තුවට වගවිය යුතු වේ. මේ අනුව පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමය වගවීමේ ආණ්ඩුක්‍රමයක් ලෙස ද විස්තර වේ. අගමැති ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලය තම විධායක කටයුතු පිළිබඳ ව පාර්ලිමේන්තුවට සාමූහික ව වගවීමට බැඳී සිටී. මෙම ක්‍රියාවලියෙන් බැහැර වන ඕනෑ ම අවස්ථාවක දී ආණ්ඩුව පරාජයට පත් කිරීමේ හැකියාව ව්‍යවස්ථාදායක මණ්ඩලය සතු ව පවතී.

පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමය නාමික විධායකය හා දේශපාලන විධායකය යන අංග දෙකකින් සමන්විත වේ. බ්‍රිතාන්‍යයේ නාමික විධායකය ලෙස සැලකෙන්නේ රජු හෝ රැජිනයි. එය සම්ප්‍රදායක් ලෙස පැවත එන්නකි.

පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක දේශපාලන විධායකය වන්නේ අගමැති ප්‍රමුඛ අමාත්‍ය මණ්ඩලයයි.

## පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක ලක්ෂණ

- මෙය නාමික විධායකය හා සත්‍ය විධායකය (දේශපාලන විධායකය) යන අංග දෙකකින් සමන්විත වේ.
- ව්‍යවස්ථාදායකය තුළින් විධායකය තේරී පත් වේ.
- ව්‍යවස්ථාදායකය හා විධායකය අතර සෘජු සම්බන්ධයක් පවතී.
- විධායකය සිය කටයුතු සම්බන්ධයෙන් ව්‍යවස්ථාදායකයට සාමූහික ව වගකීමට බැඳී සිටී.
- විධායකය ඉවත් කිරීමට ව්‍යවස්ථාදායකයට හැකියාව තිබේ.

**ක්‍රියාකාරකම 1.14**

ඔබේ පාසලේ ශිෂ්‍ය පාර්ලිමේන්තුවක් පිහිටුවා නියමිත පරිදි සැසිවාර පවත්වාගෙන යාමට කටයුතු කරන්න. මේ සඳහා විෂයභාර ගුරුතුමා/ගුරුතුමියගේ උපදෙස් හා සහාය ලබා ගන්න.

## ජනාධිපති ආණ්ඩුක්‍රමය (Presidential System of Government)

ජනාධිපති ආණ්ඩුක්‍රමයක ජනාධිපතිවරයා තෝරා පත් කර ගනු ලබන්නේ ඒ සඳහා පැවැත්වෙන ජනාධිපතිවරණයක් මඟිනි. ඒ අනුව ජනාධිපතිවරයා විධායකයේ ප්‍රධානියා බවට පත් වේ.

**ජනාධිපති ආණ්ඩුක්‍රමයේ විශේෂ ලක්ෂණ**

- විධායක බලය හසුරුවනු ලබන්නේ ජනාධිපතිවරයා විසින් ය.
- රාජ්‍යයේ නායකයා මෙන් ම ආණ්ඩුවේ නායකයා ද වන්නේ ජනාධිපතිවරයා ය.
- විධායකය, ව්‍යවස්ථාදායකයට වගකීමට සෘජු ව බැඳී නැත.
- ව්‍යවස්ථාදායකය මඟින් සෘජු ව විධායකය පාලනය කිරීමක් සිදු නොවේ.

"සියලු විධායක බලතල ජනාධිපති තනතුර වෙත ඒකරාශී කරන ලද ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් යොදන ලද විධි විධාන මඟින් ව්‍යවස්ථාදායකයේ බලපෑමෙන් නිදහස් කරන ලද, ස්වාධීන පැවැත්මක් සහිත, තම දේශපාලන ප්‍රතිපත්ති වෙනුවෙන් ව්‍යවස්ථාදායකයට වග නොකියන ආණ්ඩුක්‍රමය ජනාධිපති ආණ්ඩුක්‍රමය වේ."

- මහාචාර්ය ගානර් -

**ක්‍රියාකාරකම් 1.15**

- පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක හා ජනාධිපති ආණ්ඩුක්‍රමයක දක්නට ලැබෙන වෙනස්කම් වගුගත කරන්න.
- ශ්‍රී ලංකාවේ 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව ජනාධිපතිවරයා තේරී පත්වන ආකාරය සහ ජනාධිපතිවරයා සතු බලතල කෙටියෙන් පැහැදිලි කරන්න.

## පුරවැසියා සතු වගකීම්

ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක පුරවැසියාට සිවිල්, දේශපාලන, ආර්ථික, සාමාජීය හා සංස්කෘතික අයිතිවාසිකම් සමුදායක් භුක්ති විඳීමට අවස්ථාව සැලසී තිබේ. එම අයිතිවාසිකම් භුක්ති විඳින අතර ඒ හා බැඳුණු යුතුකම් සමාජය වෙත ඉටු කිරීම පුරවැසියා සතු වගකීම වේ. එම යුතුකම්,

- නීතිමය යුතුකම්
- සදාචාරාත්මක යුතුකම් ලෙස දෙයාකාරයකට වර්ග කර දැක්වීමට හැකි ය.

රජයට නියමිත බදු ගෙවීම, පවතින නීතියට ගරු කිරීම, ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව ආරක්ෂා කිරීම, නීතිය හා සාමය ආරක්ෂා කිරීමට සහාය වීම නීතිමය යුතුකම්වලට නිදසුන් ය. නීතිමය යුතුකම් ඉටු නොකිරීම දඬුවම් ලැබීමට හේතු වේ.

වැඩිහිටියන්ට ගරු කිරීම, සමාජ සිරිත් විරිත් පිළිපැදීම සදාචාරාත්මක යුතුකම්වලට නිදසුන් ය. සදාචාරාත්මක යුතුකම් ඉටු කිරීමේ විනිශ්චයකරුවා බවට පත් වන්නේ පුද්ගලයාගේ හෘද සාක්ෂියයි.

පුද්ගලයා සෑම අයිතිවාසිකමක් ම භුක්ති විඳිය යුත්තේ පොදු සමාජ අභිවෘද්ධියට හානියක් නොවන අයුරිනි. රැකියාවක් කිරීමට පුද්ගලයාට අයිතියක් තිබේ. රැකියාවට අදාළ සේවාවන් කැපවීමෙන් යුතු ව සමාජ සංවර්ධනයට හේතුවන ලෙස ඉටු කිරීම පුද්ගලයාගේ වගකීම වේ.

පුරවැසි යුතුකම් පිළිබඳ අවබෝධයක් ලබා ගැනීම සඳහා ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ (1978) සඳහන් පහත දැක්වෙන කොටස අධ්‍යයනය කරන්න.

28 වන ව්‍යවස්ථාව : අයිතිවාසිකම් සහ නන්වැදෑරුම් නිදහස ක්‍රියාත්මක වීමත්, භුක්ති විඳීමත් යුතුකම් හා බැඳීම් ඉටු කිරීමෙන් වෙන් ව පැවතිය නොහැක්කේ ය. එහෙයින්,

(අ) ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සහ නීතිය ආරක්ෂා කොට අනුගමනය කිරීම ද,

(ආ) ජාතික අභිවෘද්ධිය වර්ධනය කිරීම හා ජාතික සමගිය පෝෂණය කිරීම ද,

(ඇ) තමන් විසින් තෝරා ගනු ලැබූ රැකියාවෙහි හෘදය සාක්ෂියට එකඟ ව නොපිරිහෙලා වැඩ කිරීම ද,

(ඈ) පොදු දේපළ සුරක්ෂිත කොට ආරක්ෂා කිරීම ද, පොදු දේපළ අයථා පරිදි ප්‍රයෝජනයට ගැනීමට සහ නාස්ති කිරීමට එරෙහි ව ක්‍රියා කිරීම ද,

(ඉ) සෙසු අයගේ අයිතිවාසිකම් සහ නන්වැදෑරුම් නිදහස ගරු කිරීම ද,

(ඊ) ස්වභාව ධර්මය සහ ස්වාභාවික සම්පත් රැක ගැනීම ද ශ්‍රී ලංකාවාසී සෑම තැනැත්තෙකුගේ ම යුතුකම වන්නේ ය.

## පුරවැසියා කෙරෙහි වන වගකීම්

පුරවැසියාගේ වගකීම් මෙන් ම, රාජ්‍යයෙන් පුරවැසියා කෙරෙහි ඉටු විය යුතු වගකීම් සමුදායක් ද වේ. බොහෝ රාජ්‍යයන් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවලට මෙම රාජ්‍ය ප්‍රතිපත්ති අඩංගු කර තිබේ. එබැවින් ආණ්ඩුව තම පාලන කටයුතු පවත්වා ගෙන යාමේ දී ජන සමාජයට ඉටු විය යුතු වගකීම් මෙමඟින් පැහැදිලි කර ඇත.

රාජ්‍යයේ වගකීම්වලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- නීතිය හා සාමය ආරක්ෂා කිරීම
- සමානාත්මතා මූලධර්මය ආරක්ෂා කිරීම
- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව කටයුතු කිරීම
- නීතියේ සාධාරණත්වය සුරක්ෂිත කිරීමට ඉඩ සැලසීම
- රටේ සම්පත් සාධාරණ ව බෙදී යන පරිදි කටයුතු කිරීම
- රාජ්‍ය මුදල් පාලනයේ දී විනිවිදභාවයෙන් යුතු ව කටයුතු කිරීම
- සමාජ සුරක්ෂිතභාවය හා සුබසාධනය ඇති කිරීම
- පරිසරය ආරක්ෂා කොට සුරක්ෂිත කිරීම

**ක්‍රියාකාරකම 1.16**

- පාසල් ශිෂ්‍යයෙක් වශයෙන් ඔබ භුක්ති විඳින අයිතිවාසිකම් 3ක් සඳහන් කර ඒ වෙනුවෙන් ඔබෙන් ඉටු විය යුතු යුතුකම් ලැයිස්තු ගත කරන්න.
- පවුලේ සාමාජිකයෙක් වශයෙන් ඔබට ලැබෙන අයිතිවාසිකම් හා එම අයිතීන් සමඟ බැඳුණු යුතුකම් වගුගත කරන්න.
- අනාගත පුරවැසියෙකු වශයෙන් ඔබෙන් රටට ඉටු විය යුතු යුතුකම් ලැයිස්තුවක් සකස් කරන්න.

## ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් සාර්ථක වීමට අවශ්‍ය සාධක

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක සාර්ථකත්වයට බලපාන සාධක රාශියක් වේ. ඉන් කිහිපයක් පහත විස්තර කර ඇත.

### නිදහස් හා සාධාරණ මැතිවරණ

නිදහස් හා සාධාරණ මැතිවරණයක පැවතිය යුතු අංග ලක්ෂණ පිළිබඳ ඔබට මීට පෙර "ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක අංග ලක්ෂණ" යටතේ අධ්‍යයනය කිරීමට අවස්ථාව ලැබිණි.

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය යටතේ පාලකයන් තෝරා ගනු ලබන්නේ සර්වජන ඡන්ද බලය පදනම් කර ගෙන පැවැත්වෙන මැතිවරණ මගින් ය. ඡන්දදායකයාට බලපෑමකින් තොර ව තම දේශපාලන මතය මැතිවරණයක දී ප්‍රකාශ කිරීමට ඉඩ සැලසීම අත්‍යවශ්‍ය වේ. එය නිදහස් මැතිවරණයක මූලික ලක්ෂණයකි.

සාධාරණ මැතිවරණයක් යනුවෙන් අදහස් කරනු ලබන්නේ දූෂණ වංචාවලින් තොර ව මැතිවරණයට මුහුණ දෙන සියලු ම දේශපාලන කණ්ඩායම්වලට සමාන පදනමකින් මැතිවරණ කටයුතුවලට සහභාගි වීමට සුදුසු වාතාවරණය සලසා දීමයි.

මැතිවරණ පැවත්වීම පමණක් ප්‍රජාතන්ත්‍රවාදයේ පැවැත්මට ප්‍රමාණවත් නොවන අතර, ඒවා නිදහස් හා සාධාරණ මැතිවරණ විය යුතු ය.

නිදහස් හා සාධාරණ මැතිවරණයක් මගින් පාලකයන් බලයට පත් වීම, මහජන සහයෝගය, විශ්වාසය සහ පිළිගැනීම පාලකයන් වෙත හිමි වීමට හේතු වේ. මෙම තත්ත්වය ආණ්ඩුවක සුජාතභාවය ලෙස ද සැලකේ.

### නීතියේ ආධිපත්‍යය පැවතීම

පුරවැසියන්ගේ බාහිර චර්යාව පාලනය කිරීම සඳහා රාජ්‍ය මගින් පනවනු ලබන රීති සමුදාය නීති යනුවෙන් සරල ව හැඳින්වීමට පිළිවන. මෙම නීතිවලට පාලක, පාලිත දෙපක්ෂය ම යටත් වීම, අවනත වීම, ගරු කිරීම කළ යුතු අතර නීති අබිබවා යාම නොකළ යුතු ය. රටක සියල්ලන්ට ම ඉහළින් නීතිය පවතින අතර නීතියේ රැකවරණය සැමට සම ව ලැබිය යුතු ය. ආණ්ඩුවට තම කටයුතු බාධාවකින් තොර ව පවත්වා ගෙන යාමට නීතිය උපකාරී වන අතර, පුරවැසියන් තුළ ආණ්ඩුව කෙරෙහි පවතින විශ්වාසය තහවුරු වීමට ද එය හේතු වේ.

## අධිකරණයේ ස්වාධීනත්වය

ප්‍රජාතන්ත්‍රවාදය ගොඩනැගීමේ ප්‍රධාන කුලුනක් ලෙස අධිකරණය සැලකෙන අතර, මෙම ආයතනය කිසිදු බලපෑමකින් තොර ව පවත්වා ගෙන යාම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක සාර්ථකත්වයට අත්‍යවශ්‍ය වේ. පවත්නා නීතියට අනුව අපක්ෂපාතී තීන්දු ලබා දීම සඳහා අධිකරණය කිසිවෙකුටත් බලපෑම් කළ නොහැකි ස්වාධීන ආයතනයක් ලෙස පැවතිය යුතු ය.



1.6 රූපය

එවිට රටේ සියලු පුරවැසියන්ට පවත්නා නීතියට අනුව යුක්තිය හා සාධාරණත්වය ඉටු කිරීමට හැකියාව ලැබේ. ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයන්හි ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මගින් අධිකරණයේ ස්වාධීනතාව සුරැකීම සඳහා විධිවිධාන සලසනු ලබයි. ස්වාධීන, අපක්ෂපාති අධිකරණයක පැවැත්ම, යුක්තිය හා සාධාරණත්වය අගයන නීතිගරුක සමාජයක් ගොඩනැගීමට මහෝපකාරී වේ.

## දේශපාලන අවබෝධයකින් යුතු ජනතාවක් සිටීම

මැතිවරණයක දී මහජනතාවට හිතකර ආණ්ඩුවක් බලයට පත් කර ගැනීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක සාර්ථකත්වයට බෙහෙවින් හේතු වේ. මෙම ක්‍රියාවලියේ වැදගත් ම කාර්යභාරය පැවරෙන්නේ ඡන්දදායකයාට ය.

මැතිවරණයට ඉදිරිපත් වන විවිධ දේශපාලන පක්ෂ හා කණ්ඩායම් විසින් තම ප්‍රතිපත්ති ජනතාව වෙත ඉදිරිපත් කරනු ලබයි. එම ප්‍රතිපත්ති ප්‍රකාශන සැලකිල්ලට ගෙන තම මතය නිවැරැදි ව ප්‍රකාශ කිරීමට ප්‍රමාණවත් දේශපාලන අවබෝධයක් ඡන්දදායකයන් තුළ පැවතිය යුතු ය.

එමෙන් ම සමාජයේ ආදර්ශවත් චරිත ලෙස කැපී පෙනෙන අපේක්ෂකයන් තෝරා පත් කර ගැනීම කෙරෙහි ද කැපවීමෙන් ජාතිය ගොඩනැගීම සඳහා කටයුතු කරන උදාර නායකයින් තෝරා පත් කර ගැනීමට ද ඡන්දදායකයාගේ අවධානය යොමු විය යුතු ය.

වැරදි ක්‍රියාවන්හි නිරත වන දේශපාලකයන් මැතිවරණයක දී නැවත බලයට පැමිණීම වැළැක්වීමට ද බුද්ධිමත් ඡන්දදායකයාට හැකි වේ. ඒ අනුව රටේ යහපාලනයක් ගොඩනැගීම සඳහා දායකත්වය ලබා දීමට බුද්ධිමත් ඡන්දදායකයාට හැකියාව ලැබේ. රටක බුද්ධිමත්, දේශපාලන අවබෝධයකින් යුතු ජනතාවක් සිටීම සාමකාමී දේශපාලන වාතාවරණයක් ගොඩනැගීමටත්, වංචා දූෂණ ආදියෙන් තොර සමාජයක පැවැත්මටත් බෙහෙවින් හේතු වේ.

**ක්‍රියාකාරකම 1.17**

- ඡන්දදායකයකු තම ඡන්දය ප්‍රකාශ කිරීම පිළිබඳ තීරණය ගැනීමේ දී අවධානයට යොමු කළ යුතු කරුණු ඇතුළත් ලැයිස්තුවක් සකස් කරන්න.

## යහපත් ආර්ථික මට්ටමක් පැවතීම

මූලික මිනිස් අවශ්‍යතා ප්‍රශස්ත මට්ටමින් ඉටු වීම ප්‍රජාතන්ත්‍රවාදයේ ශක්තිමත් පැවැත්ම කෙරෙහි බලපාන ප්‍රධාන සාධකයකි. ආහාර, ඇඳුම්, නිවාස, අධ්‍යාපනය, සෞඛ්‍ය හා පොදු සේවා ආදිය ප්‍රමාණවත් ව භුක්ති විඳීමට ලැබීම ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක පැවැත්මට ආධාර වේ.

නිදහස, අයිතිවාසිකම්, සමානාත්මතාව වැනි ගුණාංගවල පැවැත්ම රඳා පවතින්නේ ද යහපත් ආර්ථික මට්ටමක් මත ය. මේ නිසා ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය යටතේ බොහෝ විට මෙම අවශ්‍යතා සපුරාලීම සඳහා සමාජ සුබසාධන කටයුතු ද ක්‍රියාත්මක කරනු ලබයි.

## නිදහස් හා අපක්ෂපාති ජනමාධ්‍ය පැවතීම

“ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක අංග ලක්ෂණ” යටතේ ජන මාධ්‍ය මගින් ඉටු වන කාර්යභාරය පිළිබඳ අධ්‍යයනය කිරීමට ඔබට අවස්ථාව ලැබිණි.

තොරතුරු දැන ගැනීමේ අයිතිය ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක අත්‍යවශ්‍ය සාධකයක් බැවින් එය තහවුරු කිරීමේ වගකීම ජනමාධ්‍ය වෙත පැවරේ. එබැවින් ජනතාව වෙත තොරතුරු ඉදිරිපත් කිරීමේ දී ජනමාධ්‍යයන්ට නිදහස් හා අපක්ෂපාතී ව කටයුතු කිරීමේ වාතාවරණයක් පැවතීම ප්‍රජාතන්ත්‍රවාදයේ සාර්ථකත්වයට හේතු වේ. එමෙන් ම අපක්ෂපාතී ව තොරතුරු සැපයීමටත්, සත්‍ය තොරතුරු වගකීමෙන් යුතු ව සැපයීමත් මාධ්‍ය සතු යුතුකම හා වගකීම වේ. එසේ කටයුතු කිරීමෙන් නිවැරදි ව ජන මතය ගොඩනැගීමට මාධ්‍යයට හැකියාව ලැබේ.

## ප්‍රජාතන්ත්‍රවාදී දිවි පැවැත්ම

ප්‍රජාතන්ත්‍රවාදී ගුණාංග ජන සමාජය තුළ ස්ථාපිත වීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ සාර්ථකත්වයට හේතු වේ. ප්‍රජාතන්ත්‍රවාදී පුරවැසියකු සතු විය යුතු වැදගත් ගුණාංග කිහිපයක් පහත දැක්වේ.

- සාකච්ඡා මගින් තීරණවලට එළඹීම
- විරුද්ධ මත ඉවසීම
- බහුතර මතයට ගරු කිරීම

- සහයෝගයෙන් කටයුතු කිරීම
- මානව අයිතිවාසිකම්වලට ගරු කිරීම
- නීතිගරුක වීම
- අයිතිවාසිකම් භුක්ති විඳිමින් යුතුකම් ඉටු කිරීම
- ප්‍රජාතන්ත්‍රවාදයට බාධා පමුණුවන සාධක හඳුනා ගෙන සංවර්ධනාත්මක විවේචන ඉදිරිපත් කිරීම

මේ අනුව ජන සමාජයේ ප්‍රධාන ආයතන වන පවුල, පාසල, උසස් අධ්‍යාපන ආයතන, රැකියා ස්ථාන ආදි සෑම ආයතනයක ම කටයුතු පවත්වා ගෙන යාමේ දී එම ආයතනවල සාමාජිකයන් ප්‍රජාතන්ත්‍රවාදී ගුණාංග අගය කරමින් කටයුතු කිරීම වැදගත් වේ.

## ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක වැදගත්කම

### සමාන අයිතිවාසිකම් හිමි වීම

ප්‍රජාතන්ත්‍රවාදය පුද්ගලයාගේ නිදහස, අයිතිවාසිකම්, සමානාත්මතාව වැනි මූලික සංකල්ප මත ගොඩනැගුණු පාලන ක්‍රමයකි. ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය තුළ භේද නොසලකා සැමට සමාන ව අයිතිවාසිකම් හිමි වේ. එමෙන් ම කිසිවෙකු වෙනස්කමකට භාජනය නොවේ. එවන් වාතාවරණයක් ගොඩනැගීමට සුදුසු යාන්ත්‍රණයක් ද ප්‍රජාතන්ත්‍රවාදී පාලනය තුළ ස්ථාපිත කිරීමට විධිවිධාන සලසා තිබේ. එයට එක් නිදසුනක් ලෙස ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් පවතින රටවල ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් පැවතීමත් ඊට අනුව කටයුතු කිරීමත් දැක්විය හැකි ය.

සමාන අයිතිවාසිකම් හිමි වීම සමාජ ඒකාබද්ධතාව ගොඩනැගීමටත්, සමාජ ගැටුම් අවම වීමටත්, පුද්ගල සංවර්ධනය ඇති කිරීමටත් මූලික වශයෙන් හේතු වේ. මේ අනුව සමාන අයිතිවාසිකම් භුක්ති විඳීමට අවස්ථාව සලසා දීම පොදුවේ සමස්ත සමාජයේ ම සංවර්ධනයට දායක වේ.

### පුද්ගල හැකියා සහ දක්ෂතා සංවර්ධනයට ඉඩ ප්‍රස්තා ලැබීම

ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් පවතින රටක පුරවැසියන්ට තම හැකියා සහ දක්ෂතා උපරිම මට්ටමට සංවර්ධනය කර ගැනීමට ඉඩ ප්‍රස්තා සපයනු ලබයි. පුද්ගලයකුට තම බුද්ධිමය හැකියා මෙන් ම විවිධ කුසලතා සංවර්ධනය කර ගැනීමට ද ඉඩ සැලසේ. මේ සම්බන්ධයෙන් සීමා හෝ බාධා පැනවීමක් කිසිවිටෙකත් සිදු නොවේ.

අධ්‍යාපනය, වෘත්තීය පුහුණුව සඳහා අවස්ථා ලබා දීම මෙන් ම පුද්ගලයන් සතු විශේෂ හැකියා හඳුනාගෙන ඒවා සංවර්ධනය කර ගැනීමට ද අවස්ථාව සලසා දෙනු ලබයි.

නිදහස හා අයිතිවාසිකම්, සමානාත්මතාව පදනම් කර ගනිමින් භුක්ති විඳීමට අවස්ථාව ලැබීම පුද්ගල හැකියා සහ දක්ෂතා සංවර්ධනයට විශාල පිටිවහලක් වේ.

## පුරවැසියන්ට පාලනයට සහභාගි වීමට අවස්ථාව උදා වීම

ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක විශේෂ ලක්ෂණය වන්නේ ජනතාවට පාලනයට සහභාගි වීමට ඇති දේශපාලන අයිතියයි. සෘජු ව ම පාලනයට සහභාගි වීමට නොහැකි බැවින් නියෝජිතයන් මඟින් පාලනයට සහභාගි වීමට අවස්ථාව ලැබේ. ඒ අනුව සර්වජන ඡන්ද බලය මගින් පාලකයන් තෝරා පත් කර ගනු ලබන්නේ ඡන්ද දායකයන් විසින් ය. මැතිවරණ ක්‍රියාකාරකම්වලට සහභාගි වීමට පුරවැසියන්ට අවස්ථාව ලැබේ. මැතිවරණයක දී ඡන්ද අපේක්ෂකයකු ලෙස ඉදිරිපත් වීමට හැකි ය. එමෙන් ම මැතිවරණයක දී බලයට පත් වන ආණ්ඩුවේ ක්‍රියාකාරිත්වය පිළිබඳ විමසිලිමත් ව සිටිමින් ඒ පිළිබඳ තම අදහස් දැක්වීමට ද පුරවැසියන්ට අයිතිය තිබේ.

## මානව සංවර්ධනයට ප්‍රමුඛතාව හිමි වීම

ආහාර, නිවාස, අධ්‍යාපනය, සෞඛ්‍යය, රැකීරක්ෂා සහ වෙනත් පොදු පහසුකම් ආදිය මානව සංවර්ධනයට බලපාන සාධකවලට නිදසුන් ලෙස දැක්විය හැකි ය. ජනතාවගේ ජීවන තත්ත්වයේ ගුණාත්මක සංවර්ධනයක් ඇති කිරීමට මෙම සාධක හේතු වේ.

ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක වීමේ දී විවිධ දේශපාලන පක්ෂ බලය ලබා ගැනීමේ තරගයක යෙදී සිටී. බලය ලබා ගැනීමේ තරගයේ දී මහජනතාව වෙත ඉදිරිපත් කෙරෙන ප්‍රතිපත්ති ප්‍රකාශනවල ප්‍රමුඛතාව බොහෝ විට ලැබෙන්නේ මහජන සුබසාධනයට අදාළ ප්‍රතිපත්තිවලට ය.

එමෙන් ම මෙම පහසුකම් සැපයීම කෙරෙහි විශේෂ අවධානයක් යොමු කරමින් කටයුතු කිරීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක දක්නට ලැබෙන විශේෂ ලක්ෂණයකි. ප්‍රජාතන්ත්‍රවාදයේ වර්ධනයත් සමඟ රාජ්‍ය සුබසාධන ආයතනයක් බවට පරිවර්තනය වීම 20 වන සියවසේ මුල් දශක කිහිපය තුළ ආරම්භ විය.

මේ අනුව ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් පවතින රටවල අධ්‍යාපනය, සෞඛ්‍ය වැනි සේවා නොමිලේ සපයන අවස්ථා ද ඇත. ශ්‍රී ලංකාව ඊට නිදසුනක් ලෙස දැක්විය හැකි ය.

## සාමකාමී සමාජයක් ගොඩනැගීමට පදනම වැටීම

වත්මන් බොහෝ ජන සමාජ බහු සංස්කෘතික ජන සමාජ වේ. ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක පුරවැසියෝ සියලු දෙනා ම පාලනයේ කොටස්කරුවෝ වෙති. එමෙන් ම

ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් තුළ ක්‍රියාත්මක වන පහත දැක්වෙන ලක්ෂණ සාමකාමී ජන සමාජයක් ගොඩ නැඟීමට හේතු වේ.

- නීතියේ ආධිපත්‍යය පැවතීම
- අධිකරණයේ ස්වාධීනත්වය
- නිදහස, සමානාත්මතාව හා සමාන අයිතිවාසිකම් හිමි වීම
- බහුතර මතයට අනුව කටයුතු කිරීම
- සුළුතරයේ අදහස් ගරු කිරීම
- සාකච්ඡා මඟින් තීරණවලට එළඹීම
- පුරවැසියන්ට තම අදහස් සාමකාමී ව ප්‍රකාශ කිරීමට අවස්ථාව ලැබීම

## සමාජ සුබසාධනය

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයේ වර්ධනයත් සමඟ රාජ්‍යය සුබසාධන ආයතනයක් බවට පරිවර්තනය වීම 20 වන සියවසේ මුල් දශක කිහිපයේ සිට ආරම්භ විය. එහි ප්‍රතිඵලයක් වශයෙන් පුරවැසියන්ගේ ජීවන තත්ත්වයේ ගුණාත්මකභාවයට දායක වන සමාජ සුබසාධන කටයුතු කෙරෙහි විශේෂ අවධානය යොමු කරමින් කටයුතු කිරීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක වැදගත් ලක්ෂණයක් බවට පත් වී තිබේ.



1.7 රූපය

අධ්‍යාපනය, සෞඛ්‍ය, නිවාස, ප්‍රවාහනය, සමාජ ආරක්ෂණ ක්‍රම, දිළිඳු සහන වැඩසටහන්, වැඩිහිටියන් සඳහා රැකවරණ වැඩසටහන් ආදිය ආණ්ඩුවේ මැදිහත් වීමෙන් පවත්වාගෙන යාම ඊට නිදසුන් ලෙස දැක්වීමට හැකි ය.

**ක්‍රියාකාරකම 1.18**

- ශ්‍රී ලාංකික පුරවැසියන්ට පහත සඳහන් අයිතීන් හිමි වන අවස්ථාවන්ට නිදසුන් දක්වමින් පහත වගුව සම්පූර්ණ කරන්න.

| අයිතීන් | හිමි වන අවස්ථාවන්ට නිදසුන් |
|---|---|
| 1. සමාන අයිතිවාසිකම් හිමි වීම | උදා:- නීතිය ඉදිරියේ සමානත්වය<br>(1) ----------------------------------<br>(2) ---------------------------------- |
| 2. පුද්ගල හැකියා සහ දක්ෂතා වර්ධනය | (1) ----------------------------------<br>(2) ---------------------------------- |
| 3. පාලනයට සහභාගි වීම | (1) ----------------------------------<br>(2) ---------------------------------- |

පාසල් ශිෂ්‍යයකු/ ශිෂ්‍යාවක ලෙස හා පවුලේ සාමාජිකයෙකු ලෙස පහත වගුවේ I තීරුවේ දක්වෙන ගුණාංග ප්‍රගුණ කර ගැනීමට ඔබට ලැබෙන අවස්ථා II හා III තීරුවලට අදාළ ව සටහන් කරන්න.

| I තීරුව (ගුණාංගය) | II තීරුව (පාසල් ශිෂ්‍යයකු/ ශිෂ්‍යාවක ලෙස) | III තීරුව (පවුලේ සාමාජිකයකු ලෙස) |
|---|---|---|
| 1. සහයෝගයෙන් කටයුතු කිරීම | | |
| 2. අන්‍ය අදහස් ගරු කිරීම | | |
| 3. නීති ගරුක වීම | | |
| 4. සාකච්ඡා මඟින් තීරණවලට එළඹීම | | |

# 02 බලය විමධ්‍යගත කිරීම හා බලය බෙදාහැරීම

## හැඳින්වීම

රාජ්‍යයක පාලන කටයුතු පවත්වාගෙන යාම සඳහා එම රාජ්‍යයට ඇති හැකියාව බලය ලෙස සරල ව හැඳින්විය හැකි ය. බලයේ අවසාන හිමිකරුවා වන්නේ මහජනතාව වන අතර මහජනතාව සතු එම බලය පරමාධිපත්‍ය බලය ලෙස ද හඳුන්වනු ලැබේ. ඊට පාලන බලතල, ඡන්ද බලය සහ මූලික අයිතිවාසිකම් යන ක්ෂේත්‍ර තුන ඇතුළත් වේ. බලයේ විවිධ ස්වරූප පවතින අතර දේශපාලන බලය, පරිපාලන බලය, සමාජ බලය, ආර්ථික බලය ආදිය ඉන් කිහිපයකි. බලය හසුරුවනු ලබන අය තමන්ට කැමති ආකාරයට බලයට යටත් වන්නන් පාලනය කරනු ලැබීමත්, යම් හෙයකින් තම කැමැත්තට අවනත නොවන විට බල කිරීම මඟින් අවනතභාවය ලබා ගැනීමට පෙළඹීමත් දේශපාලන විද්‍යාත්මක දෘෂ්ටි කෝණයෙන් බලය යන සංකල්පය නිර්වචනය කරන එක් ආකාරයක් වේ.

රාජ්‍යයක් සතු මෙම බලය විමධ්‍යගත කිරීම මෙන් ම බෙදාහැරීම ද කළ හැකි ය. ඒ අනුව වර්තමාන රාජ්‍ය විසින් බලය විමධ්‍යගත කිරීම මෙන් ම බෙදාහැරීම ද කරනු ලැබේ. රාජ්‍යයක බලය විමධ්‍යගත කිරීම මෙන් ම බෙදාහැරීම ද සිදු කරන්නේ එම රාජ්‍යයේ අවශ්‍යතාව පදනම් කරගෙනය. යම් රටක පරිපාලන පහසුව වෙනුවෙන් මධ්‍යම ආණ්ඩුව සතු පරිපාලන බලතල පමණක් ප්‍රාදේශීය පාලන ඒකක වෙත පවරා දෙනු ලබන්නේ නම් එවිට බලය විමධ්‍යගත කර ඇතැයි කියනු ලැබේ. එසේ ම මධ්‍යම ආණ්ඩුව සතු ව්‍යවස්ථාදායක, විධායක හා අධිකරණ යන ත්‍රිවිධ බලතල අතුරින් යම් ප්‍රමාණයක් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් ම ප්‍රාදේශීය පාලන ඒකක වෙත පවරා දෙනු ලබන්නේ නම් එය බලය බෙදාහැරීමක් ලෙස හඳුන්වනු ලැබේ.

මෙම පාඩම් ඒකකය හොඳින් අධ්‍යයනය කිරීමෙන් ඔබට බලය යන සංකල්පය, එහි විවිධ ස්වරූප, බලය විමධ්‍යගත කිරීම හා බලය බෙදාහැරීම, ඒකීය හා සන්ධීය රාජ්‍ය ක්‍රම, බලය විමධ්‍යගත කිරීම මෙන් ම බලය බෙදාහැරීම පිළිබඳ අප රටේ අතීත අත්දැකීම් සහ ඇමෙරිකා එක්සත් ජනපදය හා ස්විට්සර්ලන්තය යන රටවල බලය බෙදා හැර ඇති ආකාරය පිළිබඳ ව අවබෝධයක් ලබා ගැනීමට හැකිවනු ඇත.

## බලය (Power)

ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍ය ක්‍රමයක බලය යන්නෙන් අදහස් කරන්නේ එම රාජ්‍යයේ පාලන කටයුතු පවත්වාගෙන යාම සඳහා එයට ඇති හැකියාවයි. එහි අවසාන හිමිකරුවා වන්නේ ජනතාව වන අතර ජනතාව සතු එම බලය පරමාධිපත්‍ය බලය ලෙස හඳුන්වනු ලැබේ. පරමාධිපත්‍ය බලයට පාලන බලතල, මූලික අයිතිවාසිකම් හා ඡන්ද බලය ඇතුළත් වේ.

1978 ශ්‍රී ලංකාවේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 4 වන ව්‍යවස්ථාව අනුව පරමාධිපත්‍ය බලය ක්‍රියාත්මක වන ආකාරය විස්තර කර ඇති අයුරු පහත දැක්වේ.

(අ) ජනතාවගේ ව්‍යවස්ථාදායක බලය ජනතාව විසින් තෝරා පත්කරගනු ලබන මන්ත්‍රීවරයන්ගෙන් සමන්විත පාර්ලිමේන්තුව විසින් ද, ජනමත විචාරණයක දී ජනතාව විසින් ද ක්‍රියාත්මක කළ යුත්තේ ය.

(ආ) රටේ ආරක්ෂාව ඇතුළු ව ජනතාවගේ විධායක බලය ජනතාව විසින් තෝරා පත්කරගනු ලබන ජනරජයේ ජනාධිපතිවරයා විසින් ක්‍රියාත්මක කළ යුත්තේ ය.

(ඇ) ජනතාවගේ අධිකරණ බලය ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවෙන් ඇති කොට පිහිටුවන ලද හෝ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවෙන් පිළිගන්නා ලද නැතහොත් වෙනත් යම් නීතියකින් ඇති කොට පිහිටුවන ලද අධිකරණ, විනිශ්චය අධිකාර සහ ආයතන මඟින් පාර්ලිමේන්තුව විසින් ක්‍රියාත්මක කළ යුත්තේ ය.

### බලයේ විවිධ ස්වරූප

බලය යන සංකල්පය විවිධ ස්වරූප ගන්නා ආකාරය හඳුනාගත හැකි ය. දේශපාලන බලය, පරිපාලන බලය, සමාජ බලය, ආර්ථික බලය ආදිය ඊට නිදසුන් කිහිපයක් වේ.

දේශපාලන විද්‍යාත්මක දෘෂ්ටි කෝණයට අනුව "බලය හසුරුවන අය තමන්ට කැමති ආකාරයට බලයට යටත් වන අය පාලනය කිරීමට ඇති හැකියාව සහ තම කැමැත්තට අවනත නොවන විට බල කිරීම මඟින් අවනතභාවය ලබා ගැනීමට ඇති හැකියාව" බලය ලෙස විස්තර කර ඇත.

"ආර්ථිකයක් තුළ ආධිපත්‍යධාරී පිරිසක් විසින් අනෙකුත් අය මෙහෙයවීමට ගන්නා උත්සාහය" බලය ලෙස ආර්ථික විද්‍යාත්මක ව විග්‍රහ කර ඇත.

"සමාජය තුළ ජීවත්වන පුද්ගලයින් සහ පවතින සමාජ සංවිධාන අබිබවා කටයුතු කිරීමට සමාජයට ඇති හැකියාව" බලය ලෙස සමාජ විද්‍යාත්මක ව විග්‍රහ කර ඇත.

## බලය විමධ්‍යගත කිරීම (Decentralization of Power)

බලය විමධ්‍යගත කිරීම යන්නෙන් අදහස් කෙරෙන්නේ මධ්‍යම ආණ්ඩුව සතු පරිපාලන බලතල යම් ප්‍රමාණයක් ප්‍රාදේශීය පාලන ඒකක වෙත පවරා දීම වේ. නැතිනම් මධ්‍යම ආණ්ඩුව සතුවන බලතල පරිපාලන කටයුතු පහසු කර ගැනීම සඳහා සහ ප්‍රාදේශීය වශයෙන් පුද්ගලයින් පාලන කටයුතුවලට සහභාගි කරවා ගැනීම සඳහා ප්‍රාදේශීය ඒකක වෙත පවරා දීම වේ.

බලය විමධ්‍යගත කිරීමේ දී දැකිය හැකි විශේෂ ලක්ෂණය වන්නේ මධ්‍යම ආණ්ඩුවේ ව්‍යවස්ථාදායකය විසින් සම්මත කරනු ලබන පනතක් මඟින් එය සිදු කරනු ලැබීමයි. එසේ ම එම බලතල නැවත ඕනෑ ම අවස්ථාවක මධ්‍යම ආණ්ඩුව වෙත පවරා ගත හැකි වීම ද තවත් ලක්ෂණයක් ලෙස සඳහන් කළ හැකි ය. මේ සඳහා දිය හැකි හොඳ ම නිදසුනක් නම් ශ්‍රී ලංකාවේ පළාත් පාලන ආයතන වෙත බලය විමධ්‍යගත කිරීමේ ක්‍රියාවලියයි.

බලය විමධ්‍යගත කිරීම තුළින් මධ්‍යම ආණ්ඩුව සහ එහි විවිධ ආයතනවල සිට සැලසුම් සම්පාදනය කිරීම, කළමනාකරණය, සම්පත් සපයා ගැනීම සහ බෙදාහැරීම පිළිබඳ වගකීම ප්‍රාදේශීය මට්ටමේ පරිපාලන ආයතනවලට, පළාත් පාලන ආයතනවලට, පළාත් ආණ්ඩුවලට, අර්ධ ස්වාධීන රාජ්‍ය අධිකාරීවලට සහ සංස්ථාවලට පවරා තිබේ.

මධ්‍යම ආණ්ඩුවේ බලය විමධ්‍යගත කිරීම විවිධාකාරයෙන් සිදු කළ හැකි ය. පරිපාලන රටාව විමධ්‍යගත කිරීම ඉන් එක් ක්‍රමවේදයක් වන අතර ශ්‍රී ලංකාවේ ජාතික මට්ටමේ සිට ප්‍රාදේශීය මට්ටම දක්වා පරිපාලන බලතල විමධ්‍යගත කර ඇති අයුරු පහත නිදසුන ඇසුරින් අවබෝධ කර ගත හැකි ය.

| | | |
|---|---|---|
| ජාතික මට්ටම | → | අමාත්‍යාංශ ලේකම් |
| ↓ | | |
| දිස්ත්‍රික් මට්ටම | → | දිස්ත්‍රික් ලේකම් |
| ↓ | | |
| ප්‍රාදේශීය මට්ටම | → | ප්‍රාදේශීය ලේකම් |
| ↓ | | |
| ග්‍රාම නිලධාරී කොට්ඨාස මට්ටම | → | ග්‍රාම නිලධාරී |

මධ්‍යම ආණ්ඩුවේ කාර්යයන් ප්‍රාදේශීය පාලන ඒකක වෙත පවරා දීම බලය විමධ්‍යගත කිරීමේ එක් ස්වරූපයක් වේ. මේ යටතේ මහ නගරසභා, නගරසභා, ප්‍රාදේශීය සභා වැනි පළාත් පාලන ආයතන ඇති කිරීම නිදසුන් ලෙස දැක්විය හැකි ය.

රාජ්‍ය ව්‍යවසායකත්වයට හෝ අධිකාරියට අයත් බලතල ප්‍රාදේශීය ඒකක වෙත පවරා දීම බලය විමධ්‍යගත කිරීමේ තවත් එක් ස්වරූපයක් වේ. එහි දී විවිධ රාජ්‍ය ව්‍යවසාය මෙහෙයවීම සඳහා විවිධ දෙපාර්තමේන්තු, සංස්ථා, මණ්ඩල, අධිකාරි වෙත අවශ්‍ය බලතල පවරා දීම සිදු කරයි. උදා: ඛනිජ තෙල් නීතිගත සංස්ථාව, ශ්‍රී ලංකා වරාය අධිකාරිය

## ඒකීය රාජ්‍ය (Unitary State)

බලය විමධ්‍යගත කිරීමේ දී සිදු වන්නේ ආණ්ඩුවේ පරිපාලන බලතල පමණක් ප්‍රාදේශීය පාලන ඒකක වෙත පවරා දීම වේ. නැතිනම් ව්‍යවස්ථාදායක, විධායක, අධිකරණ යන කාර්ය මෙහෙයවනු ලබන්නේ එක් බල මධ්‍යස්ථානයකින් පමණි. රාජ්‍ය සතු

ව්‍යවස්ථාදායක, විධායක සහ අධිකරණ යන බලතල එක් මධ්‍යම ආණ්ඩුවක් සතු වන සහ ක්‍රියාත්මක කරන රාජ්‍ය ඒකීය රාජ්‍ය ලෙස හඳුන්වනු ලැබේ. ඒකීය රාජ්‍යයක් තුළ කිසිදු අයුරකින් බලය බෙදා හැරීමක් සිදු කර නැත. එසේ වුව ද පරිපාලන කටයුතු පහසු කරගැනීම වෙනුවෙන් මධ්‍යම ආණ්ඩුවේ සමහර පරිපාලන බලතල පමණක් විමධ්‍යගත කර ඇති නිසා පළාත් පාලන ආයතන වැනි ඒවා පැවතිය හැකි ය. නිදසුනක් ලෙස ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වන පළාත් පාලන ආයතන දැක්විය හැකි ය. පරිපාලන බලතල පළාත් පාලන ආයතන වෙත පවරා දීම පාර්ලිමේන්තු පනතක් මඟින් සිදු කිරීම කරන අතර එම බලතල ඕනෑ ම අවස්ථාවක නැවත මධ්‍යම ආණ්ඩුවට පවරා ගැනීමේ හැකියාව ද ඒකීය රාජ්‍යයක් සතු වේ.

මහාචාර්ය හර්මන් ජේ. ෆයිනර් නැමති දේශපාලන විද්‍යාඥයා පෙන්වා දෙන්නේ "සෑම ආකාරයක ම අධිකාරි බලය එක් මධ්‍යම ආයතනයක් තුළ ඒකරාශී වී තිබේ නම් එය ඒකීය රාජ්‍ය ක්‍රමයක් වන බවයි."

### ඒකීය රාජ්‍යයක ලක්ෂණ

- ආණ්ඩුව සතු ව්‍යවස්ථාදායක, විධායක සහ අධිකරණ බලතල එක් මධ්‍යම ආණ්ඩුවකින් පමණක් ක්‍රියාවට නැංවීම
- මධ්‍යම ආණ්ඩුව සතු පරිපාලන කටයුතු පහසු කර ගැනීමේ අරමුණු සහිත ව එකී පරිපාලන බලතල පමණක් ප්‍රාදේශීය පාලන ඒකක වෙත විමධ්‍යගත කර තිබීම
- මධ්‍යම ආණ්ඩුවේ ව්‍යවස්ථාදායකය විසින් සම්මත කරන පනතක් මඟින් පමණක් පරිපාලන බලතල විමධ්‍යගත කිරීම
- මධ්‍යම ආණ්ඩුවට අවශ්‍ය ඕනෑ ම අවස්ථාවක විමධ්‍යගත කරන ලද එම පරිපාලන බලතල නැවත පවරා ගත හැකි වීම

## බලය බෙදා හැරීම (Devolution of Power)

මධ්‍යම ආණ්ඩුව සතු ව්‍යවස්ථාදායක, විධායක සහ අධිකරණ බලතල ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් ප්‍රාදේශීය ආණ්ඩු ඒකක වෙත පවරා දීම බලය බෙදාහැරීම ලෙස හඳුන්වනු ලැබේ. බලය බෙදාහැරීම ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් පමණක් සිදු කරයි.

යම් හෙයකින් අලුතින් බලය බෙදාහැරීමක් සිදු කරන්නේ නම් හෝ බෙදාහරින ලද බලතල සංශෝධනයකට ලක් කරන්නේ නම් හෝ ඒ සඳහා පවතින ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සංශෝධනය කිරීම කළ යුතු ය.

## නූතන රාජ්‍යවල බලය බෙදාහැරීමට හේතු

- විවිධත්වය තුළ එක්සත්කමක් ගොඩනගා ගැනීමේ අවශ්‍යතාව
  යම් රාජ්‍යයක් තුළ විවිධ භාෂා කතා කරන, විවිධ ආගම් අදහන, විවිධ ජන වර්ගවලට අයත් ජන කොටස් ප්‍රාදේශීය වශයෙන් විසිරී සිටිය හැකි ය. එම කණ්ඩායම්වල අනන්‍යතාවට ගරු කරමින් පොදු ජාතිකත්වයක් යටතට ගොනු කර පාලන කටයුතුවලට සහභාගිවීම මින් අදහස් කෙරේ.
- රාජ්‍යයේ විශාලත්වය හේතුවෙන් එක් මධ්‍යස්ථානයක සිට පාලන කටයුතු සිදු කිරීමේ අපහසුතාව
- ජාතික ආරක්ෂාව තහවුරු කර ගැනීම

## සන්ධීය රාජ්‍ය (Federal States)

මධ්‍යම ආණ්ඩුව සතු ව්‍යවස්ථාදායක, විධායක සහ අධිකරණ බලතල ප්‍රාදේශීය පාලන ඒකක වෙත පැවරීම බලය බෙදාහැරීම ලෙස ඔබ ඉගෙන ගෙන ඇත. එසේ බලය බෙදාහැරීමක් සිදු කරන ලද රාජ්‍යය සන්ධීය රාජ්‍ය ලෙස හඳුන්වනු ලැබේ. නැතිනම් මධ්‍යම ආණ්ඩුව සතු ව්‍යවස්ථාදායක, විධායක සහ අධිකරණ බලතල ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් ම ප්‍රාදේශීය පාලන ඒකක වෙත පවරා ඇති රාජ්‍ය සන්ධීය රාජ්‍ය වේ. රාජ්‍යයේ බලය මධ්‍යම ආණ්ඩුව හා ප්‍රාන්ත ආණ්ඩු අතර බෙදී තිබීම සන්ධීය රාජ්‍ය ක්‍රමයක මූලික ම ලක්ෂණයකි. ඒකීය රාජ්‍යයක් තුළ ඇති එක බල මධ්‍යස්ථානයක් වෙනුවට සන්ධීය රාජ්‍යයක් තුළ මධ්‍යම හා ප්‍රාන්ත වශයෙන් බල මධ්‍යස්ථාන වර්ග දෙකක් දැකිය හැකි ය. එසේ ම සන්ධීය රාජ්‍යයක් තුළ සමහරවිට මධ්‍යම ආණ්ඩුවේ නීති සහ ප්‍රාන්ත ආණ්ඩු නීති වශයෙන් නීති ක්‍රම දෙකක් ද පැවතිය හැකි ය.

සන්ධීය හෙවත් ෆෙඩරල් රාජ්‍ය බිහිවීම විවිධ හේතු සාධක පදනම් කොට ගෙන සිදු වේ. ස්වාධීන රාජ්‍ය කිහිපයක් එකට එකතු වී පාලන කටයුතු පහසු කර ගැනීම සඳහා සන්ධීය රාජ්‍ය බිහි කර ගැනීම ඉන් එක් සාධකයකි.

සන්ධීය රාජ්‍යවල ප්‍රාදේශීය ආණ්ඩු "ප්‍රාන්ත" යන නමින් සාමාන්‍යයෙන් හඳුන්වනු ලබන අතර සමහර අවස්ථාවල දී ප්‍රාන්ත යන නම වෙනුවට වෙනත් සුවිශේෂ යෙදුම් භාවිත කරන අවස්ථාවන් ද දැකිය හැකි ය.

උදා: ස්විට්සර්ලන්තය තුළ ක්‍රියාත්මක වන ප්‍රාදේශීය ආණ්ඩු කැන්ටන් ලෙස හැඳින්වේ.

## සන්ධීය රාජ්‍යයක ලක්ෂණ

- ලිඛිත ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් පැවතීම
- මධ්‍යම ආණ්ඩුවේ මෙන් ම ප්‍රාන්ත ආණ්ඩු සතු බලතල පැහැදිලි ව ව්‍යවස්ථාව තුළ අන්තර්ගත කිරීම
- ව්‍යවස්ථාව අර්ථ නිරූපණය කිරීමේ බලය ඉහළ අධිකරණයකට පැවරීම
  උදා: ඇමෙරිකා එක්සත් ජනපදයේ සන්ධීය අධිකරණය
- ඉහළ මන්ත්‍රණ සභාවක් (උත්තර මන්ත්‍රී මණ්ඩලයක්) ඇති කිරීම
  උදා: ඇමෙරිකා එක්සත් ජනපදයේ සෙනෙට් සභාව

## සන්ධීය රාජ්‍යයක සාර්ථක පැවැත්ම සඳහා තිබිය යුතු ගුණාංග

- රාජ්‍යයේ පවතින ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූල ව කටයුතු කිරීම
- සියලු ජන කොටස් පොදු හැඟීමෙන් යුතු ව කටයුතු කිරීම
- මූල්‍යමය සම්පත් බෙදාහැරීමේ දී ඒවා සාධාරණ ලෙස ප්‍රාන්ත ආණ්ඩු වෙත ලබා දීම

## සන්ධීය රාජ්‍යයන්හි නව ප්‍රවණතා

සන්ධීය රාජ්‍ය ක්‍රමයක් තුළ මධ්‍යම ආණ්ඩුව මෙන් ම ප්‍රාන්ත ආණ්ඩු එක හා සමාන ව සලකනු ලැබේ. එසේ වුවත් ක්‍රියාත්මක වීමේ දී දැකිය හැක්කේ මධ්‍යම ආණ්ඩුව ශක්තිමත් වීමේ පොදු ප්‍රවණතාවකි. නැතිනම් මධ්‍යම ආණ්ඩුවට ප්‍රාන්ත ආණ්ඩු හැසිරවීමේ හැකියාවක් පවතී. එම තත්ත්වය ඇති වීම කෙරෙහි බලපා ඇති සාධක කිහිපයක් පෙන්වා දිය හැකි ය.

- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සංශෝධනය කිරීම සඳහා පමණක් ප්‍රාන්ත ආණ්ඩුවල කැමැත්ත ලබා ගත්ත ද සාමාන්‍ය නීති සම්පාදන කාර්යයන්හි දී ප්‍රාන්තවල කැමැත්ත නොසලකා හැරීම.
- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අර්ථ නිරූපණය කරන අවස්ථාවල දී මධ්‍යම ආණ්ඩුවට වාසි සහගත වන ලෙස එය සිදු කිරීම.
- මධ්‍යම ආණ්ඩුව හා ප්‍රාන්ත ආණ්ඩු අතර මූල්‍ය ගනුදෙනු පවත්වා ගෙන යාමේ දී වඩාත් ශක්තිමත් වී ඇත්තේ මධ්‍යම ආණ්ඩුවයි. ප්‍රාන්ත ආණ්ඩු රඳා පවතින්නේ මධ්‍යම ආණ්ඩුව ලබා දෙන මූල්‍යමය ප්‍රතිපාදන මතයි. එම ප්‍රතිපාදන ලබා දීමේ දී විවිධ කොන්දේසිවලට යටත් ව ඒවා ලබා දෙයි.
- රාජ්‍ය විසින් සපයන සුබසාධන කාර්ය ඉහළ යාම තුළින් එහි වගකීම මධ්‍යම ආණ්ඩුවට පැවරීම.

- සන්නිවේදන හා ප්‍රවාහන සේවා තුළ සිදුවී ඇති අතිනවීන දියුණුව නිසා සම්බන්ධීකරණය වේගවත් වීම.
- ලෝක ආර්ථික අර්බුද හමුවේ මුළු රටට ම බලපාන ආර්ථික තීන්දු ගැනීමේ වගකීම මධ්‍යම ආණ්ඩුව වෙත පැවරීම.
- දෙවන ලෝක යුද්ධයෙන් පසු ව අන්තර්ජාතික ක්ෂේත්‍රය තුළ ඇති ව තිබෙන තත්ත්වය. උදා: ඇමෙරිකා එක්සත් ජනපදයේ ජනාධිපතිවරයාගේ බලතල වර්ධනය වීම.

බලය විමධ්‍යගත කිරීම හා බලය බෙදාහැරීම යන සංකල්ප අතර වෙනස තවදුරටත් පැහැදිලි කර ගැනීම සඳහා පහත රූප සටහන් දෙක හොඳින් අධ්‍යයනය කරන්න.

## බලය විමධ්‍යගත කිරීම



### බලය බෙදාහැරීම




ඉහත රූප සටහනට අනුව බලය විමධ්‍යගත කිරීම තුළ සිදු වන්නේ මධ්‍යම ආණ්ඩුවේ පරිපාලන බලතල ප්‍රාදේශීය පාලන ඒකක වෙත පවරා දීම පමණි. එම ප්‍රාදේශීය පාලන ඒකක ප්‍රාන්තයක් හෝ නැතිනම් ස්වාධීන රාජ්‍යයක් ලෙස හඳුන්වනු නොලබන බව ඔබ විසින් අවබෝධ කරගත යුතු ය. දැනට අප රටේ ක්‍රියාත්මක වන පළාත් සභා ක්‍රමය මීට කදිම නිදසුනකි.

එසේ ම බලය බෙදා හැරීම තුළ සිදු වන්නේ මධ්‍යම ආණ්ඩුවේ කාර්ය විභේදනය කිරීමක් වන අතර එවිට ප්‍රාන්ත රාජ්‍ය හෙවත් ස්වාධීන පාලන ඒකක බිහිවන බව අවබෝධ කර ගත හැකි ය. එසේම එම ස්වාධීන පාලන ඒකක වල පරිපාලන කටයුතු පහසු කර ගැනීම සඳහා අවශ්‍ය නම් බලය විමධ්‍යගත කිරීම සිදු කළ හැකිය. සමහර සන්ධීය රාජ්‍ය තුළ බලය බෙදා හැරීම මෙන්ම බලය විමධ්‍යගත කිරීම ද සිදු කර ඇති බව ඔබ විසින් තේරුම් ගත යුතුය.

**ක්‍රියාකාරකම 2.1**

- ඔබ උගත් කරුණු ආශ්‍රයෙන් බලය විමධ්‍යගත කිරීම හා බලය බෙදාහැරීම යන සංකල්ප දෙක පිළිබඳ ව සරල නිර්වචන දෙකක් ගොඩනගන්න.

## ඒකීය ආණ්ඩු (Unitary Government)

බලය විමධ්‍යගත කිරීම යන සංකල්පයෙන් අදහස් කරන්නේ කුමක් ද යන්න පිළිබඳ මීට පෙර ඔබ අධ්‍යයනය කර ඇත. බලය විමධ්‍යගත කර ඇති රාජ්‍ය ඒකීය රාජ්‍ය ලෙස අපි හැඳින්වූවෙමු. එබැවින් ඒකීය රාජ්‍ය තුළ ක්‍රියාත්මක වන ආණ්ඩු ඒකීය ආණ්ඩුක්‍රම ලෙස හඳුන්වන බව මීළඟට අවබෝධ කර ගත යුතු ය. ඒකීය ආණ්ඩුක්‍රම සම්බන්ධයෙන් ඉදිරිපත් ව ඇති නිර්වචනයක් පහත දැක්වේ.

"සෑම ආකාරයක ම අධිකාරි බලය එක් මධ්‍යම බල ආයතනයක් තුළ ඒකරාශී වී තිබේ නම් එය ඒකීය ආණ්ඩු ක්‍රමයක් වේ."

- මහාචාර්ය හර්මන් ජේ. ෆයිනර් -

ඒකීය ආණ්ඩුක්‍රම පවතින රාජ්‍යයන්ට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- ශ්‍රී ලංකාව
- මහා බ්‍රිතාන්‍ය
- ප්‍රංශය

## ඒකීය ආණ්ඩුක්‍රමයක ලක්ෂණ

ඒකීය ආණ්ඩුක්‍රමයක් යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද යන්න පිළිබඳ ව ඔබ අවබෝධ කරගෙන ඇත. ඒකීය ආණ්ඩුක්‍රමයක ප්‍රධාන ලක්ෂණ කිහිපයක් සම්බන්ධයෙන් දේශපාලන විද්‍යාඥයන් විසින් ඉදිරිපත් කර ඇති මතවාද දෙකක් පහත දැක්වේ.

"එක් මධ්‍යම බල ආයතනයක් පමණක් නීති පැනවීම පිළිබඳ ව උත්තරීතර බලය ඉසිලීම ඒකීය ආණ්ඩුක්‍රමයක මූලික ම ලක්ෂණය වේ."

- මහාචාර්ය ඒ. වී. ඩයිසි -

"මධ්‍යම ආණ්ඩුවේ උත්තරීතරභාවය හා අතිරේක ස්වාධිපති ආයතන ආණ්ඩුක්‍රමය තුළ නොමැතිවීම ඒකීය ආණ්ඩුක්‍රමයක දැකිය හැකි ප්‍රධාන ලක්ෂණය වේ."

- මහාචාර්ය සී. එෆ්. ස්ට්‍රෝන්ග් -

ඒ අනුව පොදුවේ ගත් කල ඒකීය ආණ්ඩුක්‍රමයක ලක්ෂණ පහත පරිදි දැක්විය හැකි ය.

- නීති පැනවීම සම්බන්ධයෙන් උත්තරීතර වන්නේ මධ්‍යම ආණ්ඩුවේ ව්‍යවස්ථාදායකය හෙවත් පාර්ලිමේන්තුවයි.
- පරිපාලන කටයුතු පහසු කර ගැනීම සඳහා පළාත් පාලන ආයතන දක්වා බලය විමධ්‍යගත කිරීම සිදු කරයි. උදා: ශ්‍රී ලංකාවේ වර්තමානයේ ක්‍රියාත්මක වන මහ නගර සභා, නගර සභා සහ ප්‍රාදේශීය සභා
- රාජ්‍යයේ ස්වාධිපති බලය එක් බල මධ්‍යස්ථානයක් (මධ්‍යම ආණ්ඩුව) වෙත ඒකරාශී වී පැවතීම.
- ව්‍යවස්ථාදායක, විධායක සහ අධිකරණ යන ත්‍රිවිධ බලතල මධ්‍යම ආණ්ඩුව වෙත කේන්ද්‍රගත ව පැවතීම.

### ඒකීය ආණ්ඩු ක්‍රමයක් පැවතීමේ වාසි

- ඉක්මනින් හා පහසුවෙන් ආණ්ඩුවට තීරණ ගැනීමට හැකි වේ.
- මධ්‍යම ආණ්ඩුව සහ ප්‍රාන්ත ආණ්ඩු වශයෙන් බලය ක්‍රියාවට නංවන ආයතන පද්ධති දෙකක් නොමැති වීම නිසා ඒ දෙක අතර ඇති විය හැකි ගැටුම් අවම වේ.
- පරිපාලන ක්‍රමය මෙන් ම අධිකරණ ක්‍රමය ද සමස්ත රාජ්‍යයට ම පොදු එකක් වේ.

## සන්ධීය ආණ්ඩු (Federal Government)

සන්ධීය රාජ්‍ය තුළ ක්‍රියාත්මක වන ආණ්ඩුක්‍රම සන්ධීය ආණ්ඩු හෙවත් ෆෙඩරල් ආණ්ඩු ලෙස හඳුන්වනු ලැබේ. රාජ්‍යයේ බල අධිකාරිය මධ්‍යම ආණ්ඩුව හා ප්‍රාන්ත ආණ්ඩු අතර බෙදී තිබීම සන්ධීය ආණ්ඩුක්‍රමයක ප්‍රධාන ම ලක්ෂණය වේ. සන්ධීය ආණ්ඩු සම්බන්ධයෙන් විවිධ දේශපාලන විද්‍යාඥයින් ඒ සම්බන්ධයෙන් ඉදිරිපත් කර ඇති නිර්වචන කිහිපයක් පහත දැක්වේ.

"විවිධත්වය තුළින් ඒකීයත්වය ළඟා කර ගැනීමට මඟ සාදන ආණ්ඩු ක්‍රමය වේ."

**- ඒ. වී. ඩයිසි -**

"තම තමන්ගේ බල ක්ෂේත්‍රය තුළ ස්වාධීන ව ක්‍රියාත්මක වීමට හැකියාව ඇති නමුත් සමහර කරුණු සම්බන්ධයෙන් එක්සත් ව ක්‍රියාත්මක වීමටත්, මඟ පාදන උපාය මාර්ග සහිත තත්ත්වයකි."

**- මහාචාර්ය කේ. සී. වියරේ -**

### සන්ධීය ආණ්ඩුක්‍රම පවතින රටවලට නිදසුන්

ඇමෙරිකා එක්සත් ජනපදය, ස්විට්සර්ලන්තය, ඕස්ට්‍රේලියාව

### සන්ධීය ආණ්ඩුක්‍රමයක යහපත් ලක්ෂණ

- විවිධත්වයක් පවතින ජන සමාජයක් තුළ විවිධත්වයට ගරු කිරීම මඟින් පොදු ජාතිකත්වයක් ගොඩනගා ගැනීම.
- භූමි ප්‍රමාණය විශාල රාජ්‍යවල පරිපාලන තීන්දු ගැනීමට පහසු වීම.
- ප්‍රාන්ත ආණ්ඩු විසින් මධ්‍යම ආණ්ඩුවට සිදු කරන බලපෑම් හා මැදිහත්වීම් හේතුවෙන් රාජ්‍යයක් අත්තනෝමතිකව ක්‍රියා කිරීම වැළැක්වීමේ පහසුව.
- ප්‍රජාතන්ත්‍රවාදී පාලන රාමුව ශක්තිමත් වීම.

### සන්ධීය ආණ්ඩුක්‍රමයක අයහපත් ලක්ෂණ

- බලතල බෙදා දීම තුළ ප්‍රාන්ත ආණ්ඩුවලට ලැබී තිබෙන බලතලවලින් ඔවුන් සමහරවිට තෘප්තිමත් නොවීම.
- මධ්‍යම ආණ්ඩුව වෙතින් ප්‍රාන්ත වෙන් ව යාමට උත්සාහ ගැනීම පිළිබඳ ව ඇතිවී තිබෙන ප්‍රවණතාව.
- මධ්‍යම සහ ප්‍රාන්ත ආණ්ඩු අතර ව්‍යවස්ථාව මඟින් තීන්දු ගැනීම තුළ යම් යම් ක්ෂේත්‍රවලට අදාළ ව ගැටලුකාරී තත්ත්වයක් මතුවීම හා එමගින් පරිපාලනය නිසි පරිදි ක්‍රියාත්මක නොවීම.
- දෙවන මන්ත්‍රණ සභාවක් (උත්තර මන්ත්‍රී මණ්ඩලයක්) පැවතීම නිසා ව්‍යවස්ථා සම්පාදන ක්‍රියාවලිය ප්‍රමාද වීම.
- ප්‍රාන්ත පරිපාලනය සඳහා හොඳ අත්දැකීම් සහිත පළපුරුදු නිලධාරීන් අවම වීම හා එමඟින් පරිපාලන ක්‍රමය බිඳ වැටීමකට ලක් විය හැකි වීම.

**ක්‍රියාකාරකම 2.2**

ඒකීය හා සන්ධීය ආණ්ඩුක්‍රම අතර වෙනස්කම් ලැයිස්තුවක් පිළියෙල කරන්න.

## ශ්‍රී ලංකාවේ බලය බෙදාහැරීමේ හා බලය විමධ්‍යගත කිරීමේ ඉතිහාසය

### ශ්‍රී ලංකාවේ බලය විමධ්‍යගත කිරීමේ ඉතිහාසය

බලය විමධ්‍යගතකරණය යන සංකල්පය ශ්‍රී ලංකාවට අලුත් දෙයක් නොවේ. ඈත අතීතයේ පටන් අප රටේ පැවති පාලන ක්‍රම දෙස බලන විට පෙනී යන්නේ පාලනයේ පහසුව සඳහා නොයෙක් අයුරින් බලය විමධ්‍යගත කර ඇති බවයි.

**නිදසුන් :**

- අනුරාධපුර යුගය තුළ පණ්ඩුකාභය රජු විසින් ගම් පාලනය කිරීම සඳහා "ගම්භාර" "ගාමණී" වැනි නිලධාරින් පත් කිරීම.
- පොළොන්නරු යුගය තුළ මහා පරාක්‍රමබාහු රජු විසින් ප්‍රාදේශීය පාලකයන් පත් කිරීම හා ඔවුන්ට පාලන බලතල ලබා දීම.
- බටහිර ජාතීන් අප රටට සංක්‍රමණය වීමත් සමඟ තවදුරටත් ප්‍රාදේශීය පාලන නිලධාරීන් පත් කර රට පාලනය කිරීමට කටයුතු කිරීම.
- ක්‍රි. ව. 1815 දී බ්‍රිතාන්‍යයන් විසින් පළාත් මට්ටමින් රෙසිඩන්ට්වරයකු පත් කිරීම.

## බ්‍රිතාන්‍ය පාලන සමය තුළ ශ්‍රී ලංකාවේ බලය විමධ්‍යගත කර තිබූ ආකාරය

බ්‍රිතාන්‍ය පාලන යුගය තුළ ප්‍රධාන වශයෙන් ලංකාවේ බලය විමධ්‍යගත කිරීම සිදුව ඇති ආකාරය හඳුනා ගත හැකි වන්නේ 1865 දී මහ නගර සභා ආඥා පනත සම්මත කිරීමත් සමඟ ය. ඒ යටතේ 1865 දී කොළඹ සහ ක්‍රි. ව. 1866 දී මහනුවර යන ප්‍රධාන නගර දෙක පදනම් කොට ගනිමින් මහ නගර සභා ස්ථාපිත කරන ලදී. වර්තමානයේ අප රටේ ක්‍රියාත්මක වන බලය විමධ්‍යගත කිරීමේ තත්ත්වය ස්ථාපිත වීම කෙරෙහි බ්‍රිතාන්‍ය පාලන ක්‍රමය බොහෝ දුරට බලපා ඇත.

ක්‍රි. ව. 1871 දී ගම් සභා ක්‍රමය නැවත ස්ථාපිත කරන ලදී. එම වසරේ පැනවූ ආඥා පනතක් මඟින් ගම්වල පැන නගින සුළු ආරවුල් විසඳීම, ගොවිතැන් හා වාරිමාර්ග කටයුතු පිළිබඳ ප්‍රශ්න විසඳීම, සෞඛ්‍ය ආරක්ෂාව සැලසීම ආදිය ගම් සභාවට පැවරුණි. 1931 වර්ෂයේ ක්‍රියාත්මක කරන ලද ඩොනමෝර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය යටතේ පළාත් පාලන කටයුතු වෙනුවෙන් විධායක කාරක සභාවක් පිහිටුවීම හරහා ගම් කාර්ය සභාවල බලතල තවදුරටත් පුළුල් කරන ලදී. එසේ ම 1940 දී නගර සභා පිහිටුවීම, 1943 දී පළාත් පාලන ආඥා පනත සම්මත කිරීම යන අවස්ථා දෙක හරහා බ්‍රිතාන්‍ය පාලන යුගය තුළ තවදුරටත් බලය විමධ්‍යගත කිරීම සඳහා පියවර ගෙන ඇත.

## නිදහසින් පසු යුගය තුළ බලය විමධ්‍යගත කිරීම සඳහා ගත් උත්සාහයන්

1948 නිදහස ලබා ගැනීමෙන් පසු ව ද පැවති පළාත් පාලන ආයතන ක්‍රමය තවදුරටත් පවත්වා ගෙන යාම දැකිය හැකි ය. 1973 බලය විමධ්‍යගත කිරීම සඳහා දේශපාලන අධිකාරි ක්‍රමය ස්ථාපිත කරනු ලැබීය. දිස්ත්‍රික් මට්ටමින් පරිපාලනය ක්‍රියාත්මක කිරීමේ දී දේශපාලන නායකත්වයක් ලබා දීම සඳහා සමගි පෙරමුණු ආණ්ඩුව මෙහි දී උත්සාහ ගනු ලැබීය. ඉන් අනතුරු ව 1980 දී දිස්ත්‍රික් අමාත්‍ය ක්‍රමය හරහා දිස්ත්‍රික් සංවර්ධන සභා ක්‍රියාත්මක කළ අතර ගම් සභා හා සුළු නගර සභා අහෝසි කිරීම සිදු කළේ ය. අනතුරු ව 1981 දී ප්‍රාදේශීය මණ්ඩල, ග්‍රාමෝදය මණ්ඩල ක්‍රියාත්මක කිරීමට පටන් ගැනුණි. නැවත 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතට අනුව ප්‍රාදේශීය සභා ඇති කළේ ය.

## ශ්‍රී ලංකාවේ බලය බෙදාහැරීම සඳහා ගෙන ඇති උත්සාහයන්

අප රටේ බලය බෙදාහැරීම පිළිබඳ ව අදහස් ඉදිරිපත් ව ඇත්තේ මීට සියවසකට ආසන්න කාලයක සිට ය. 1926 දී එස්.ඩබ්.ආර්.ඩී. බණ්ඩාරනායක මහතා විසින් උඩරට ප්‍රදේශ සඳහා සන්ධීය රාජ්‍යයක් ලබා දීම පිළිබඳ ව දක්වන ලද යෝජනා මින් ප්‍රමුඛ වේ. ඉන් අනතුරු ව නිදහසින් පසු ව බලය බෙදාහැරීම සඳහා ගත් උත්සාහයක් ලෙස 1957 දී එස්.ඩබ්.ආර්.ඩී. බණ්ඩාරනායක මහතා හා එස්.ජේ.වී. චෙල්වනායගම් මහතා අතර ඇති කරගත් බණ්ඩාරනායක - චෙල්වනායගම් ගිවිසුම හා 1965 ඩඩ්ලි - චෙල්වනායගම් ගිවිසුම

මෙයට නිදසුන් වේ. එහෙත් මෙම ගිවිසුම් ඒ අයුරින් ම ක්‍රියාවට නැඟීමේ හැකියාව නොලැබුණි.

මෑත කාලය ගත් විට එනම් 1970-80 දශකවල බලය බෙදාහැරීමේ ක්‍රියාවලිය කෙරෙහි නැඹුරුවීමේ ප්‍රවණතාවක් දක්නට ලැබුණි. නමුත් එවකට බලයේ සිටි ආණ්ඩු ඒ සඳහා සෘජු ව මැදිහත් නොවුණු අතර ඔවුන් බොහෝ විට යොමු වූයේ බලය බෙදාහැරීමක් නොකර බලය විමධ්‍යගත කිරීම කෙරෙහි ය.

## ශ්‍රී ලංකාවේ පළාත් සභා පිහිටුවීම

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 13 වන ව්‍යවස්ථා සංශෝධනය හා 1987 අංක 42 දරන පාර්ලිමේන්තු පනත මගින් ඒ වන විට පැවති පළාත් 09 පදනම් කරගෙන ශ්‍රී ලංකාවේ පළාත් සභා ක්‍රමය ඇති කළේ ය. ඒ බව 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ XVII අ පරිච්ඡේදයේ 154 අ (1) ව්‍යවස්ථාවේ මෙසේ සඳහන් වේ.

> "ජනාධිපතිවරයා විසින් ගැසට් පත්‍රයේ පළ කරනු ලබන නියමයක් මගින් නියම කරන දිනයේ හෝ දිනවල සිට ක්‍රියාත්මක වන පරිදි අටවන උපලේඛනයේ නිශ්චිතව සඳහන් සෑම පළාතක් ම සඳහා ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ විධිවිධානවලට යටත් ව, පළාත් සභාවක් මෙයින් පිහිටවනු ලැබේ. වෙනස් වෙනස් පළාත් සඳහා වෙනස් වෙනස් දිනයන් නියම කරනු ලැබිය හැකි ය."

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ අටවන උපලේඛනයේ දැක්වෙන පරිදි ශ්‍රී ලංකාවේ පළාත් 09 පහත දැක්වේ.

- බස්නාහිර පළාත
- වයඹ පළාත
- ඌව පළාත
- සබරගමුව පළාත
- මධ්‍යම පළාත
- නැගෙනහිර පළාත
- දකුණු පළාත
- උතුරු මැද පළාත
- උතුරු පළාත

## ශ්‍රී ලංකාවේ පළාත් සිතියම




2.1 රූපය

## පළාත් සභාවක ආයතනික ව්‍යූහය

පළාත් සභාවක ආයතනික ව්‍යූහය ගොඩනැගී තිබෙන්නේ ආණ්ඩුකාරවරයා, මහ ඇමතිවරයා, අමාත්‍ය මණ්ඩලය සහ පළාත් සභා මන්ත්‍රී මණ්ඩලය යන ප්‍රධාන ඒකක කිහිපය ඒකරාශී වීමෙන් වේ. එම ආයතනික ව්‍යූහය පහත දැක්වෙන පරිදි සරල රූප සටහනකින් පෙන්වා දිය හැකි ය.




ඒ අනුව ආණ්ඩුකාරවරයා, මහ ඇමතිවරයා සහ අමාත්‍ය මණ්ඩලය, පළාත් සභාව යන ආයතන පිළිබඳවත් ඒවා සතු බලතල හා කාර්ය කිහිපයක් පිළිබඳවත් දළ අවබෝධයක් ලබා දීමට මින් උත්සාහ කෙරේ.

### පළාත් ආණ්ඩුකාරවරයා (Governor of the Province)

සෑම පළාත් සභාවක් සඳහා ම ආණ්ඩුකාරවරයකු සිටින අතර මධ්‍යම ආණ්ඩුව සහ පළාත් සභාව අතර සම්බන්ධීකරණය සිදු කරන නියෝජිතයා වන්නේ ඔහු ය. පළාත් ආණ්ඩුකාරවරයා පත් කරනු ලබන්නේ ජනාධිපතිවරයා විසින් වන අතර නිල කාලය වසර 05කි. නිල කාලය ඉකුත් වීමට පෙර ආණ්ඩුකාරවරයා හට සිය ධූරයෙන් ඉල්ලා අස්විය හැකි ය. එසේ ම පළාත් සභා මන්ත්‍රීවරුන් විසින් 2/3ක බහුතර ඡන්දයෙන් සම්මත කරනු ලබන යෝජනාවක් ජනාධිපතිවරයා වෙත ඉදිරිපත් කරනු ලැබීමෙන් අනතුරුව ද ආණ්ඩුකාරවරයාව සිය ධූරයෙන් ඉවත් කළ හැකි ය. ආණ්ඩුකාරවරයා සම්බන්ධයෙන් 1978 ව්‍යවස්ථාවේ 154 ආ (1) හා (2) ව්‍යවස්ථාවල මෙසේ සඳහන් වේ.

"154 (අ) වන ව්‍යවස්ථාවට අනුකූල ව පළාත් සභාවක් පිහිටවනු ලැබ ඇති සෑම පළාතක් සඳහා ම ආණ්ඩුකාරවරයකු සිටිය යුතු ය."

"ජනාධිපතිවරයා විසින් සිය අත්සන යටතේ වූ අධිකාර පත්‍රයක් මඟින් ආණ්ඩුකාරවරයා පත් කරනු ලැබිය යුතු අතර, ජනාධිපතිවරයාගේ ප්‍රසාදය ඇති තාක් කල් 4 (ආ) වන ව්‍යවස්ථාවට අනුකූල ව ඔහු විසින් සිය ධුරය දැරිය යුත්තේ ය."

### ආණ්ඩුකාරවරයා සතු බලතල හා කාර්ය

- පළාත් සභාව කැඳවීම, වාර අවසාන කිරීම හා විසුරුවා හැරීම
- පළාත් සභාව ඇමතීම හා සංදේශ යැවීම
- ප්‍රධාන ඇමතිවරයා පත් කිරීම, අමාත්‍ය මණ්ඩලය හා අනෙක් පළාත් විධායක නිලධාරීන් පත් කිරීම
- පළාත් සභා ප්‍රඥප්තීන් අනුමත කිරීම
- හදිසි අවස්ථාවන්හි දී ජනාධිපතිවරයාගේ උපදෙස් අනුව ක්‍රියා කිරීම. උදා: පළාත් පරිපාලන යාන්ත්‍රණය බිඳ වැටීම, මූල්‍යමය අස්ථාවරභාවය
- මධ්‍යම ආණ්ඩුව හා පළාත් සභාව අතර සම්බන්ධීකරණය සිදු කිරීම
- පළාත් සභාවේ නාමික විධායකය වශයෙන් පළාත් මහ ඇමතිවරයාගේ උපදෙස් මත ක්‍රියා කිරීම

## මහ ඇමති සහ අමාත්‍ය මණ්ඩලය (Chief minister and board of ministers)

සෑම පළාතක ම පළාත් සභාවක් ප්‍රධාන ඇමතිවරයෙකු මෙන් ම තවත් අමාත්‍යවරු සිවු දෙනෙකුට නොවැඩි පිරිසකගෙන් සමන්විත විය යුතු බව 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ සඳහන් වේ. පළාත් සභා මන්ත්‍රීවරුන් අතරින් ඔවුන් තෝරාගනු ලැබේ. ආණ්ඩුකාරවරයාගේ කටයුතු සඳහා සහාය වීම මෙන් ම ඒ සඳහා උපදෙස් ලබා දීම අමාත්‍ය මණ්ඩලයේ ප්‍රධාන කාර්යයකි. ප්‍රධාන ඇමතිවරයා පත් කිරීම ආණ්ඩුකාරවරයාගේ කාර්යයක් වන අතර එසේ පත් කළ යුත්තේ පළාත් සභාවේ මන්ත්‍රීවරුන් බහුතරයකගේ සහාය ලැබෙන තැනැත්තා වේ. ප්‍රධාන ඇමතිවරයාගේ උපදෙස් මත ආණ්ඩුකාරවරයා විසින් පළාත් සභාවේ සෙසු ඇමතිවරුන් පත් කළ යුතු ය. ප්‍රධාන අමාත්‍යවරයා මෙන් ම අනෙක් අමාත්‍යවරු සිය කටයුතු සම්බන්ධයෙන් පළාත් සභාවට සාමූහික ව වගකීමට බැඳී සිටිති.

### මහ ඇමති සහ අමාත්‍ය මණ්ඩලය සතු බලතල හා කාර්ය

- පළාත් ආණ්ඩුකාරවරයාට උපදෙස් ලබා දීම
- පළාත් අයවැය ලේඛනය සකස් කිරීම
- පළාතේ ආර්ථික සංවර්ධන හා පරිපාලන සැලසුම් සකස් කිරීම මෙන් ම ඒවා ක්‍රියාත්මක කිරීම

## පළාත් සභාව (The Provincial Council)

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 13 වන ව්‍යවස්ථා සංශෝධනය යටතේ එතෙක් ශ්‍රී ලංකාව බෙදා තිබුණු පළාත් 09 සඳහා පළාත් සභා පිහිටුවන ලද බව මේ වන විටත් ඔබ විසින් අවබෝධ කරගෙන ඇත. එසේ ඇති කරන ලද පළාත් සභා සඳහා වෙන් වෙන් වශයෙන් පළාත් සභාව ස්ථාපනය වන බව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 154 අ (2) අනු ව්‍යවස්ථාවේ සඳහන් වේ.

"154 අ (1) අනු ව්‍යවස්ථාව යටතේ පිහිටුවන ලද සෑම පළාත් සභාවක් ම, පළාත් සභා ඡන්ද විමසීම්වලට අදාළ නීතියට අනුකූල ව එම සභාවේ මන්ත්‍රීවරුන් තෝරා පත් කරගනු ලැබූ විට සංස්ථාපනය විය යුතු ය."

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 154 ඈ (1) ව්‍යවස්ථාවේ පළාත් සභාවේ සංයුතිය පිළිබඳ සඳහන් වේ. ඒ අනුව පළාත් සභාව පිහිටුවනු ලැබ ඇති පළාතේ වර්ග ප්‍රමාණය හා ජනගහනය සැලකිල්ලට ගෙන නීතියෙන් තීරණය කරනු ලබන පරිදි මන්ත්‍රීවරුන් සංඛ්‍යාව තීරණ කරනු ලබයි.

පළාත් සභාවක නිල කාලය වසර 05ක් වන අතර යම් හෙයකින් නියමිත නිල කාලය ඉක්ම යාමට පෙර විසුරුවා නොහැරිය හොත් එම පස් අවුරුදු නිල කාලය ඉක්ම යාමත් සමඟ අදාළ පළාත් සභාව විසිර ගියා සේ සලකනු ලබයි. එසේ ම පළාත් සභා සඳහා සියලු මන්ත්‍රීවරුන් මහජන ඡන්දයෙන් පමණක් තෝරා ගනු ලැබේ.

පළාත් සභාව සතු ප්‍රධාන කාර්යය වන්නේ ව්‍යවස්ථාවේ 09 වන උපලේඛනයේ සඳහන් පළාත් සභා බලතල ලැයිස්තුවට අදාළ ව යම් යම් කාරණා සම්බන්ධයෙන් ප්‍රඥප්ති සම්පාදනය හා ඒවා සම්මත කිරීම වේ. එසේ ම පළාත් අයවැය ලේඛනය සම්මත කිරීමත්, පළාත තුළ ඇති යටිතල පහසුකම් සංවර්ධනය කිරීමට අදාළ තීන්දු තීරණ ගැනීමත් සිදු කරනු ලබයි. එසේ ම පළාත් මහ ඇමති සහ සිවු දෙනෙකුට නොවැඩි අමාත්‍ය මණ්ඩලයක් තෝරා පත් කරගනු ලබන්නේ පළාත් සභාවේ මන්ත්‍රීවරුන් අතුරින් වේ.

### පළාත් සභා සතු බලතල හා කාර්ය

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 13 වන ව්‍යවස්ථා සංශෝධනයට අනුව ලැයිස්තු 03ක් පදනම් කරගෙන බලතල වර්ගීකරණය කර ඇත.

- I වන ලැයිස්තුව (පළාත් සභා ලැයිස්තුව)
- II වන ලැයිස්තුව (සංවෘත ලැයිස්තුව)
- III වන ලැයිස්තුව (සමගාමී ලැයිස්තුව)

ඒ අනුව මධ්‍යම ආණ්ඩුව, පළාත් සභා සහ එම ආයතන දෙකට පොදුවේ භුක්ති විඳිය හැකි බලතල හෙවත් සමගාමී බලතල ලැයිස්තුව යන ප්‍රධාන ක්ෂේත්‍ර 03ක් ඔස්සේ බලතල හා කාර්ය වර්ගීකරණය කරනු ලබයි. එම ලැයිස්තු 03 හා ඊට අදාළ බලතල පිළිබඳ මීළඟට ඔබට හැදෑරීමට හැකිවනු ඇත.

## I වන ලැයිස්තුව (පළාත් සභා ලැයිස්තුව / පළාත් සභා සතු බලතල)

1 වන ලැයිස්තුව හෙවත් පළාත් සභා ලැයිස්තුව මඟින් විස්තර කරනු ලබන්නේ පළාත් සභා සතු බලතල හා කාර්ය වේ. එම ලැයිස්තුව යටතේ පළාත් සභා සතු බලතල හා කාර්ය 37ක් දක්වා තිබේ. නිදසුන් ලෙස පළාත්වලට අදාළ ආර්ථික සැලසුම් ක්‍රියාත්මක කිරීම, පළාත් පාලන කටයුතු, පළාත්වල නිවාස හා සංවර්ධන වැඩසටහන් මෙන් ම ව්‍යාපෘති ක්‍රියාත්මක කිරීම, සමාජසේවා හා පුනරුත්ථාපන කාර්ය සිදු කිරීම, පළාත්බද කාර්ය සඳහා කෘෂිකාර්මික ව්‍යාප්තිය, සුළු වාරිමාර්ග වැඩ කටයුතු පුනරුත්ථාපනය හා නඩත්තු කිරීම ආදිය නිදසුන් කිහිපයක් ලෙස දැක්විය හැකි ය. පළාත් සභා සතු බලතල සම්බන්ධයෙන් එකී පළාත් සභාවට ප්‍රඥප්ති සෑදීමේ හැකියාව පවතින අතර පනත් සම්මත කිරීමේ බලයක් හිමි නොවීම විශේෂ ලක්ෂණයකි.

## II වන ලැයිස්තුව (සංවෘත ලැයිස්තුව/මධ්‍යම ආණ්ඩුව සතු බලතල)

මධ්‍යම ආණ්ඩුව විසින් ක්‍රියාවට නංවනු ලබන විෂය කරුණු 17ක් සම්බන්ධ බලතල මෙම දෙවන ලැයිස්තුව හෙවත් සංවෘත ලැයිස්තුව තුළ දක්වා තිබේ. ජාතික වශයෙන් අතිශය වැදගත් විෂය කරුණු මෙම සංවෘත ලැයිස්තුව තුළට අන්තර්ගත කර ඇති අතර ඊට අදාළ නීති සම්පාදනය කිරීමේ තනි හා අනන්‍ය වූ බලය පාර්ලිමේන්තුව සතු වේ. ඒ අනුව දෙවන ලැයිස්තුව තුළ අන්තර්ගත බලතල කිහිපයක් නිදසුන් ලෙස පහත දැක්වේ.

- **සියලු විෂයයන් සහ කර්තව්‍ය පිළිබඳ ජාතික ප්‍රතිපත්ති සම්පාදනය**
  මේ යටතේ රාජ්‍ය ආරක්ෂාව හා ජාතික සුරක්ෂිතභාවය, අභ්‍යන්තර ආරක්ෂාව, නීතිය හා යථා පැවැත්ම වැනි කාරණා සම්බන්ධයෙන් ප්‍රතිපත්ති සම්පාදනය කිරීමේ බලය හිමි වේ.

- **විදේශ කටයුතු**
  ශ්‍රී ලංකාව විසින් වෙනත් විදේශ රටක් සමඟ සම්බන්ධ වන සියලු කරුණු, රාජතාන්ත්‍රික කටයුතු, එක්සත් ජාතීන්ගේ සංවිධානය, ජාත්‍යන්තර සමුළුවලට සහභාගි වීම, ඒවායේ දී එළඹෙන තීරණ ක්‍රියාවට නැඟීම, විදේශ ගිවිසුම්, සම්මුති ඇති කර ගැනීම හා ඒවා ක්‍රියාවට නැඟීම, යුද්ධය හා සාමය, විදේශ අධිකරණ බලය ආදිය මීට අයත් වේ.

- **ජාතික ආදායමට මූල්‍ය ප්‍රතිපත්තියට හා විදේශ සම්පත්වලට අදාළ මුදල් පිළිබඳ කටයුතු**
- **අධිකරණයට සහ අධිකරණ පද්ධතියට අදාළ වන තාක් දුරට යුක්තිය පසිඳලීම**
- **ආගමනය හා විගමනය සහ පුරවැසිභාවය**
- **ජනලේඛන හා සංඛ්‍යාලේඛන**

## III වන ලැයිස්තුව (සමගාමී ලැයිස්තුව)

මධ්‍යම ආණ්ඩුව සහ පළාත් සභා යන ආයතන දෙවර්ගයට ම සමසේ භුක්ති විඳිය හැකි බලතල III වන ලැයිස්තුව හෙවත් සමගාමී ලැයිස්තුව ලෙස දක්වා ඇත. මෙම සමගාමී ලැයිස්තුව තුළ බලතල වර්ග 36ක් වේ. එම බලතල කිහිපයක් නිදසුන් ලෙස පහත දැක්වේ.

- **සැලසුම් කිරීම**

  මේ යටතේ පළාත්බද මට්ටමේ දී සැලසුම් ක්‍රියාත්මක කිරීමේ ක්‍රම ඇති කිරීම සහ ඇගයීම, ප්‍රගති පාලනය, රාජ්‍ය හා පෞද්ගලික අංශයේ ආයෝජන වැඩසටහන්වල ප්‍රගතිය පසු විපරම් කිරීම.

- **ජාතික නිවාස සහ ඉදි කිරීම**

  නාගරික සංවර්ධන ප්‍රදේශවල ආර්ථික සමාජමය සහ භෞතික සංවර්ධනය පිළිබඳ ඒකාබද්ධ ක්‍රම සැලසුම් ප්‍රවර්ධනය කිරීම හා ඒ සැලසුම් ක්‍රියාත්මක කිරීම.

- **සමාජසේවා සහ පුනරුත්ථාපන**

  උන් හිටි තැන් අහිමි වූවන්ට සහන සැලසීම, ඔවුන් පුනරුත්ථාපනය කිරීම සහ සහන සැලසීම, ගං වතුර, නියඟ, වසංගත හෝ වෙනත් අසාමාන්‍ය කරුණු නිසා ඇති වූ ආපදාවල දී සහන සැලසීම, ඒවායින් හානියට පත් වූ තැනැත්තන් පුනරුත්ථාපනය කිරීම හා නැවත පදිංචි කිරීම.

- **කෘෂිකර්මය හා ගොවිජන සේවා**

  කෘෂිකර්මයට සම්බන්ධ කර්මාන්ත පිහිටුවීම සහ වැඩිදියුණු කිරීම, ගොවිපොළවල් පිහිටුවීම හා නඩත්තුව, පෞද්ගලික තවාන් අධීක්ෂණය, පස සංරක්ෂණය.

## පළාත් පාලන ආයතන (Local Authorities)

මධ්‍යම ආණ්ඩුවේ පරිපාලන කටයුතු පහසු කර ගැනීමේ අරමුණින් මෙන් ම කාර්යක්ෂම මහජන සේවාවක් සැපයීම ඉලක්ක කර ගනිමින් ශ්‍රී ලංකාවේ වත්මන් පළාත් පාලන ආයතන පද්ධතිය ස්ථාපිත කර තිබේ. යම් නිශ්චිත භූමි ප්‍රදේශයක් පදනම් කරගෙන ජනතා නියෝජිතයන්ගේ මෙන් ම මහජනතාවගේ සහභාගිත්වයෙන් ජනතා අවශ්‍යතා ඉටු කර ගත හැකි වීම පළාත් පාලන ආයතන පද්ධතිය තුළින් දැකිය හැකි ය. මෙම පළාත් පාලන ආයතන පද්ධතිය මෙන් ම ඉන් ඉටුවන කාර්යභාරය පිළිබඳ ව ඔබ 9 වන ශ්‍රේණියේ දී අධ්‍යයනය කර ඇත. එබැවින් මෙහි දී පළාත් පාලන ආයතනයක ප්‍රධාන නිලධාරීන් හා ඔවුන්ගේ කාර්යභාරය පමණක් හැදෑරීමට ඔබට අවස්ථාව උදාවනු ඇත. පහත දක්වෙන්නේ දැනට අප රටේ ක්‍රියාත්මක වන පළාත් පාලන ආයතන හා ඒවායේ ප්‍රධාන පරිපාලන නිලධාරී තනතුරු කිහිපයකි.

මහ නගර සභාව ⟶ නගරාධිපති/උප නගරාධිපති

නගර සභාව ⟶ සභාපති/උප සභාපති

ප්‍රාදේශීය සභාව ⟶ සභාපති/උප සභාපති

### නගරාධිපති/සභාපති සතු බලතල හා කාර්ය

- නගර සභාවේ, ප්‍රාදේශීය සභාවේ ප්‍රධාන විධායක නිලධාරියා ලෙස ක්‍රියා කිරීම
- සභාව කැඳවීම, මුලසුන ගැනීම හා සභාව කල් තැබීම
- අයවැය ලේඛනය හා සැලසුම් සකස් කිරීම මෙන් ම ඒ සඳහා සභාවෙන් අනුමැතිය ලබා ගැනීම
- තම බල ප්‍රදේශයට අදාළ සංවර්ධන සැලසුම් සකස් කිරීම හා ඒවා ක්‍රියාවට නැංවීම
- මධ්‍යම ආණ්ඩුව හා පළාත් සභාව සමග සම්බන්ධීකරණ කටයුතු පවත්වා ගෙන යාම
- මහජන උපයෝගීතා සේවාවන් සැපයීමට මුල් වීම

### උප නගරාධිපති/උප සභාපති සතු බලතල හා කාර්ය

- මහ නගර සභාවේ නගරාධිපතිට, නගර සභාවේ/ ප්‍රාදේශීය සභාවේ සභාපතිට අවශ්‍ය සහාය ලබා දීම
- නගරාධිපති/සභාපති නොමැති අවස්ථාවල සභාවේ කටයුතු පවත්වා ගෙන යාම

## මහා සභාව

පළාත් පාලන ආයතනයක ප්‍රතිපත්ති සම්පාදනය කරන ආයතනය ලෙස මහා සභාව හැඳින්විය හැකි ය. මෙය අදාළ පළාත් පාලන බල ප්‍රදේශයේ ඡන්දදායකයන්ගේ ඡන්දය පදනම් කර ගෙන එම පළාත් පාලන ආයතනය සඳහා තෝරා ගන්නා නියෝජිතයන්ගෙන් සමන්විත වේ. එම මහා සභාව තුළින් නගරාධිපති, සභාපති / උප නගරාධිපති, උප සභාපති යන තනතුරු සඳහා නිලධාරීන් පත් කර ගනු ලැබේ. ප්‍රතිපත්ති හා සැලසුම් සම්පාදනය කිරීම මෙන් ම සභාවේ අය වැය සම්මත කිරීමත්, පාලන කටයුතු කරගෙන යාම සඳහා නගරාධිපතිට / සභාපතිට අවශ්‍ය සහාය ලබා දීමත් එමඟින් ඉටු කරනු ලබන බලතල හා කාර්ය අතර ප්‍රමුඛ වේ.

## තෝරාගත් රටවල ව්‍යුහාත්මක වෙනස්කම්

### ඇමෙරිකා එක්සත් ජනපදය සන්ධීය රාජ්‍යයක් ලෙස බිහිවීමට හේතු

ජනපද 13කින් ඇරඹුණු ඇමෙරිකා එක්සත් ජනපදය වර්තමානයේ ප්‍රාන්ත 50කින් සමන්විත සන්ධීය රාජ්‍යයක් වේ. මෙම මුල් ජනපද 13 පිහිටා තිබුණේ ඇමෙරිකා එක්සත් ජනපදයේ නැගෙනහිර වෙරළ ආශ්‍රිත ව වේ.

එම ජනපද 13 සන්ධීය රාජ්‍යයක් බිහි කර ගැනීමට පෙර ස්වාධීන පාලන ඒකක වශයෙන් පැවතුණි. එහෙත් පසුකාලීන ව ජාතික ආරක්ෂාව තහවුරු කර ගැනීම මෙන් ම ආර්ථික සංවර්ධනය ළඟා කර ගැනීම පෙරදැරි කරගෙන එක්සත් ජනපදයක් වශයෙන් ඒකරාශී විය. එහි ප්‍රතිඵලය වූයේ ජනපද 13කින් සමන්විත ඇමෙරිකා එක්සත් ජනපදය නැමති රාජ්‍යය බිහි වීමයි. එසේ ම දීර්ඝ කාලයක් බ්‍රිතාන්‍ය යටත් විජිතයක් ව පැවතීම හේතු කොට ගෙන මුහුණ දුන් කටුක අත්දැකීම් නැවත ඇති නොවීම සඳහා ශක්තිමත් රාජ්‍යයක් ගොඩනඟා ගැනීමේ අවශ්‍යතාව ද මෙහි දී මුල් විය.

ඇමෙරිකා එක්සත් ජනපදය ක්‍රි. ව. 1787 දී ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සම්පාදනය කරන විට බලය බෙදා හැරීමට අදාළ නීති ඊට ඇතුළත් කර තිබුණි. ඒ අනුව මධ්‍යම ආණ්ඩුවේ බලතල පමණක් ව්‍යවස්ථාවට ඇතුළත් කළ අතර ඉතිරි සියලු බලතල ප්‍රාන්ත ආණ්ඩුවලට හිමි කර දෙන ලදී. ඉන් අපේක්ෂා කරනු ලැබුවේ ප්‍රාන්ත ආණ්ඩු ශක්තිමත් කිරීමයි.




2.2 රූපය
ප්‍රාන්ත 13 දැක්වෙන සිතියම

## ඇමෙරිකා එක්සත් ජනපදයේ ආණ්ඩුක්‍රම ව්‍යූහය

- විධායක ජනාධිපති විසින් විධායක බලතල ක්‍රියාත්මක කිරීම.
- ව්‍යවස්ථාදායකය වන කොංග්‍රස් මණ්ඩලය නියෝජිත මන්ත්‍රී මණ්ඩලය හා සෙනෙට් සභාව යන ආයතන දෙකකින් සමන්විත වීම (ද්වි මාණ්ඩලික වීම).
- ජනාධිපතිවරයා විසින් සමහර බලතල ක්‍රියාවට නැංවීමේ දී සෙනෙට් සභාවේ අනුමැතිය ලබා ගත යුතු වීම.

  උදා: යුද්ධය ප්‍රකාශ කිරීම, උසස් රාජ්‍ය නිලධාරීන් පත් කිරීම (තානාපතිවරු, උසස් අධිකරණ විනිසුරුවන්, අන්තර් ජාතික ගිවිසුම් අත්සන් කිරීම).
- මධ්‍යම ආණ්ඩුව හා ප්‍රාන්ත ආණ්ඩු අතර බලතල ක්‍රියාවට නැංවීම සම්බන්ධයෙන් ගැටලුකාරී තත්ත්වයක් මතු වුවහොත් එය විසඳීම සඳහා ශ්‍රේෂ්ඨාධිකරණයට බලය හිමි වීම.
- එක් එක් ප්‍රාන්තවල අභිලාෂයන් නියෝජනය කිරීම සඳහා ප්‍රාන්තයකින් දෙදෙනෙකු බැගින් සෙනෙට් සභාවට නියෝජිතයන් 100 ක් පත් කිරීම.
- ෆෙඩරල් අධිකරණ පද්ධතියක් ක්‍රියාත්මක වීම.
- කොංග්‍රස් මණ්ඩලය විසින් සම්මත කරන පනත් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට පටහැනි වන්නේ නම් ඒවා ප්‍රතික්ෂේප කිරීමේ බලය ශ්‍රේෂ්ඨාධිකරණයට හිමි වීම.
- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සංශෝධනය කිරීම සඳහා මධ්‍යම ආණ්ඩුවේ 2/3 බලයක් ද, ප්‍රාන්ත ආණ්ඩුවල 3/4 බලයක් ද අවශ්‍ය වීම.




2.3 රූපය - ප්‍රාන්ත 50කින් යුත් වර්තමාන ඇමෙරිකා එක්සත් ජනපදය

## ඇමෙරිකා එක්සත් ජනපදයේ සන්ධීය ව්‍යවස්ථාවට අනුව බලතල බෙදා ඇති අයුරු

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව මධ්‍යම ආණ්ඩුව සතු බලතල සඳහන් කර ඉතිරි බලතල සියල්ල ප්‍රාන්තවලට ලබා දී ඇත. ඉන් ගම්‍ය වන්නේ මධ්‍යම ආණ්ඩුවට සාපේක්ෂ ව වැඩි බලතල ප්‍රමාණයක් සහිත ශක්තිමත් ප්‍රාන්ත රාජ්‍ය ක්‍රමයක් ගොඩනැගීමට ව්‍යවස්ථා සම්පාදකයින් උත්සාහ දරා ඇති බවයි. ඇමෙරිකා එක්සත් ජනපදයේ මධ්‍යම ආණ්ඩුව හා ප්‍රාන්ත සතු බලතල කිහිපයක් පහත දැක්වේ.

| මධ්‍යම ආණ්ඩුව සතු බලතල | ප්‍රාන්ත රාජ්‍යයන්ට හිමි බලතල |
|---|---|
| • බදු පැනවීම හා එක්රැස් කිරීම | • අධ්‍යාපනය |
| • මූල්‍ය කටයුතු | • සෞඛ්‍යය |
| • ජාතික ආරක්ෂාව සැලසීම | • නිවාස, ඉදිකිරීම් |
| • විදේශ වෙළෙඳාම හා විදේශ කටයුතු | • පළාත් පාලනය, මහාමාර්ග |
| • ජාතික ආර්ථිකය සංවර්ධනය | |

වර්තමානයේ ඇමෙරිකා එක්සත් ජනපදය තුළ ප්‍රාන්ත ආණ්ඩු ඉක්මවා යමින් මධ්‍යම ආණ්ඩුව ශක්තිමත් වීමේ ප්‍රවණතාවයක් දක්නට ලැබේ. ඊට හේතු ගණනාවක් ඇති අතර ඉන් කිහිපයක් පහත දැක්වේ.

- සමාජ, දේශපාලන, ආර්ථික ගැටලුවල සංකීර්ණ ස්වභාවය
- දෙවන ලෝක යුද්ධයෙන් පසු කාලය තුළ අන්තර්ජාතික ක්ෂේත්‍රය තුළ ඇතිවන බල අරගලය
- මූල්‍යමය වශයෙන් මධ්‍යම ආණ්ඩුව ශක්තිමත් වීම

## ස්විට්සර්ලන්තය සන්ධීය රාජ්‍යයක් ලෙස ගොඩනගා ගැනීම

### සන්ධීය රාජ්‍යයක් බිහි කර ගැනීමට බලපෑ හේතු

- ප්‍රංශය, ඉතාලිය, ජර්මනිය සහ ඔස්ට්‍රියාව යන රටවල් හතරට මැදිව පිහිටා තිබීම හේතු කොට ගෙන ජාතික ආරක්ෂාවට තර්ජන එල්ල වීම
- දැඩි භූගෝලීය විෂමතාව හේතුවෙන් ආර්ථික සංවර්ධනය ළඟා කර ගැනීම අපහසු වීම
- වාර්ගික, භාෂා හා ආගමික විවිධත්වයට සාර්ථක විසඳුම් ලබා ගැනීම අවශ්‍ය වීම

මෙවැනි හේතු සාධක පදනම් කර ගනිමින් ස්විට්සර්ලන්තය සන්ධීය රාජ්‍යයක් ලෙස බිහිවීම සිදුවිය. සන්ධීය රාජ්‍යයක් ලෙස ගොඩනගා ගැනීමට පෙර කුඩා ස්වාධීන රාජ්‍ය ගණනාවක් වශයෙන් භූමි ප්‍රදේශ පැවතුණි. 19 වන සියවසේ මැද භාගයේ දී කතෝලික ආගම අදහන පිරිස් හා ප්‍රොතෙස්තන්ත ආගම අදහන පිරිස් අතර සිවිල් යුද්ධයක් හට ගැනීම නිසා සන්ධීය ආණ්ඩුක්‍රමයක් ගොඩනගා ගැනීමෙන් එය අවසන් විය.




2.4 රූපය - ස්විට්සර්ලන්තයේ භූගෝලීය සිතියම

වර්ග කිලෝමීටර 41,300කින් පමණ සමන්විත ස්විට්සර්ලන්තය, ජර්මන්, ප්‍රංශ, ඉතාලි හා රොමාන්ෂ් යන භාෂා කතා කරන ජන කණ්ඩායම්වලින් යුක්ත වන අතර එම භාෂා නිල භාෂා ලෙස ද සැලකේ.

ස්විට්සර්ලන්ත ව්‍යවස්ථාව පළමුව සම්මත කර ගනු ලැබුවේ මීට වසර 150කට පමණ පෙර දී ය. වරින් වර එය සංශෝධනයට ලක් කර ඇති අතර අවසන් වරට 1999 දී නව ව්‍යවස්ථාව සම්මත කර ඇත. ඒ අනුව කැන්ටන් නමින් හැඳින්වෙන ප්‍රාන්ත ආණ්ඩු 26ක් එම සන්ධීය ක්‍රමය තුළ ක්‍රියාත්මක වේ. ඒවාට ඉතා ඉහළ මට්ටමේ නිදහසක් හිමි කර දී තිබීම විශේෂ ලක්ෂණයකි.



2.5 රූපය - ස්විට්සර්ලන්තයේ භූගෝලීය දර්ශනයක්

## ස්විට්සර්ලන්ත සන්ධීය ක්‍රමයේ දේශපාලන ව්‍යූහය

- ව්‍යවස්ථාදායකය සන්ධීය මහා මණ්ඩලය ලෙස හඳුන්වන අතර ජාතික සභාව හා රාජ්‍ය සභාව යන ආයතන දෙකෙන් එය සමන්විත වේ.
- සාමාජිකයන් 7 දෙනෙකුගෙන් සමන්විත සාමූහික විධායකයක් ක්‍රියාත්මක වන අතර ඔවුන් පත් කරනු ලබන්නේ සන්ධීය මහා මණ්ඩලය විසිනි.
- සාමූහික විධායකය සන්ධීය සභාව නමින් හැඳින්වෙන අතර එහි සභාපතිවරයකු වේ. නමුත් එම සභාපතිවරයා අනෙක් සාමාජිකයන්ට වඩා උත්තරීතරත්වයක් නොදරයි.

## මධ්‍යම ආණ්ඩුව සතු බලතල

- විදේශ කටයුතු
- යුද්ධය හා සාමය ප්‍රකාශ කිරීම
- විදේශ රටවල් හා ගිවිසුම්වලට එළඹීම
- ආරක්ෂක හා හමුදා කටයුතු
- පණිවුඩ හුවමාරුව, තැපැල් හා විදුලි සංදේශ

## කැන්ටන් සතු බලතල

- අධ්‍යාපනය හා උසස් අධ්‍යාපනය
- පුවත්පත් පාලනය
- මහාමාර්ග
- කර්මාන්ත
- ආගමන
- බෝවන රෝග වැළැක්වීම
- බැංකු කටයුතු

## ස්විට්සර්ලන්ත සන්ධීය ක්‍රමයේ සුවිශේෂ ලක්ෂණ

- මධ්‍යම ආණ්ඩුව හා කැන්ටන් සතු බලතල දක්වා ඇති අතර ඉතිරි සියලු බලතල මධ්‍යම ආණ්ඩුවට හිමි වීම.
- බලතල ක්‍රියාවට නැංවීමේ දී ගැටලුකාරී තත්ත්වයක් ඇති වුවහොත් එය විසඳීමේ බලය සන්ධීය මහා මණ්ඩලය සතු වීම.
- කැන්ටන්වලට තම බලය ක්‍රියාවට නංවමින් ස්වාධීන ව කටයුතු කිරීමේ අවස්ථාව අහිමි වීම.
- කැන්ටන් විසින් සිය තීරණ ගැනීමේ දී මහජන අදහස් විමසීමට සෘජු ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රම භාවිත කිරීම.

# 03 බහු සංස්කෘතික සමාජය

### හැඳින්වීම

වර්තමාන සමාජය අතිශය සංකීර්ණ වූවකි. මෙම සංකීර්ණත්වයට ආර්ථික, සමාජීය, දේශපාලන සහ සංස්කෘතික සාධක බලපා ඇත. ඊට අමතර ව භූගෝලීය සාධක මෙන් ම සංක්‍රමණ, ආක්‍රමණ වැනි හේතූන් ද බලපා තිබේ. එම නිසා වර්තමාන සමාජය විවිධ ජන වර්ග, විවිධ භාෂා, විවිධ ආගම්, ඇදහිලි, සිරිත්විරිත් වැනි වෙනස්කම්වලින් යුක්ත වේ. මෙවැනි විවිධතා සහිත සමාජ ක්‍රම සමාජ විද්‍යාඥයින් විසින් බහුවිධ සමාජ ලෙස හඳුන්වා තිබේ. බහුවිධ සමාජයන් හි ජීවත්වන විවිධ ජන කොටස් තම අනන්‍යතාව ආරක්ෂා කර ගැනීම උදෙසා ඔවුනට ම විශේෂිත වූ සිරිත්විරිත්, භාෂා, ආගම්, ඇදහිලි, සිතුම්පැතුම්, සම්ප්‍රදායන්, පුරුදු පුහුණු පවත්වාගෙන යති. මේ නිසා එක රටක වුවත් එහි සංස්කෘතිය බහුවිධතාවකින් යුක්ත විය හැකි ය. එවැනි සංස්කෘතීන්ගෙන් යුක්ත සමාජය "බහු සංස්කෘතික සමාජය" (Multicultural Society) ලෙස හඳුන්වනු ලැබේ. මෙම ඒකකයෙන් අපේක්ෂා කරන්නේ බහු සංස්කෘතික සමාජ පිළිබඳ නිරවුල් අවබෝධයක් ලබා දීමත් එවැනි සමාජයක අන්‍යෝන්‍ය සහයෝගයෙන් සාමකාමී ව ජීවත්වීම සඳහා අවශ්‍ය වාතාවරණයක් ගොඩනැඟීමට ඉවහල් වන්නා වූ නිපුණතාවලින් පිරිපුන් පුරවැසියන් පිරිසක් බිහි කිරීමත් ය.

## බහු සංස්කෘතික සමාජය හඳුනා ගනිමු

'සංස්කෘතිය' යන්න පැහැදිලි කිරීමට විවිධ සමාජ විද්‍යාඥයින්, දාර්ශනිකයින් නිර්වචන ඉදිරිපත් කර තිබේ. ඉන් කිහිපයක් පහත දැක්වේ.

- "දැනුම, ඇදහිලි, කලා, නීති, සිරිත්විරිත්, ඇගයීම් හා මිනිසා විසින් සමාජයේ ජීවත්වන පුද්ගලයකු වශයෙන් ලබා ගන්නා වූ පුරුදු, ඇබ්බැහිකම් හා හැකියාවන්ගේ සමස්තය, සංස්කෘතියයි." - ඊ. බී. ටයිලර් -

- "සංකේතානුසාරයෙන් සමාජීය ලෙස හිමිකොට ගන්නා වූ ද පාරම්පරික වශයෙන් අත්පත් කොට ගත්තා වූ ද සියලු ම චර්යා රටාවන්ට දිය හැකි සාමූහික නාමය සංස්කෘතියයි." - චාර්ල්ස් ඒ. එල්වුඩ් -

- “ඇදහිලි, චින්තන ක්‍රම, ව්‍යවහාරික කලා, ජීවන පිළිවෙත්, සිරිත්විරිත්, සම්ප්‍රදායයන් හා සමාජීය වශයෙන් සම්මත කරගත් ක්‍රියා කිරීමේ විධි සංස්කෘතියයි.”

  \- ඒ.ටී. හීලර් -

අපගේ සියලු ක්‍රියාකාරකම් හා සිතුම්පැතුම් සංස්කෘතිය යන්නට අයත් වන බව ඉහත ප්‍රකාශයන්ගෙන් පැහැදිලි වේ. අපි කවුරුත් සමාජය තුළ පිළිගත් ජීවන රටාවකට අනුව හැඩ ගැසී සිටිමු. මේ හැඩ ගැස්ම හෙවත් හැදියාව ද සංස්කෘතියයි. පුද්ගලයකු වශයෙන් උපතේ සිට මරණය දක්වා අපි හැසිරෙන්නේ, එකිනෙකාට උරුම වූ සංස්කෘතියකට අනුවයි. ජන සමාජයේ දක්නට ලැබෙන සියලු ම බලවේග මෙහෙයවන ලක්ෂණ සංස්කෘතියට අයත් ය. ඉන් කිහිපයක් පහත දැක්වේ.

- ආගම
- භාෂාව
- දැනුම
- ඇඳුම් පැලඳුම්
- ආහාරපාන
- කලාව
- නීතිරීති
- ඇදහිලි
- සිරිත්විරිත්
- ආචාර ධර්ම
- ඇගයීම්
- පවුල් පසුබිම
- ආර්ථික පසුබිම
- විශ්වාස
- භාවිත කරන උපකරණ
- ඇසුරු කරන මිතුරන්
- අධ්‍යාපනය
- දේශපාලනය
- තාක්ෂණය
- ජීවත් වන ප්‍රදේශය
- යටිතල පහසුකම්

සෑම සමාජයක ම සංස්කෘතිය මඟින් එම සමාජයේ පැවැත්ම සඳහා වැදගත් කාර්යභාරයක් ඉටු කරයි. කාලයත් සමග සමාජය තුළ සංස්කෘතිය වෙනස් වෙමින් වර්ධනය වෙමින් පවතී.

පුද්ගලයා ජීවත් වන සමාජය අනුව සංස්කෘතිය ද වෙනස් වේ. මේ නිසා විවිධ සමාජයන් හි ඔවුනට ආවේණික සංස්කෘතික ලක්ෂණ දක්නට ලැබේ.

**ක්‍රියාකාරකම 3.1**

- ඔබ සහභාගි වන කිසියම් උත්සව හෝ වෙනත් අවස්ථාවක දක්නට ලැබෙන ක්‍රියාවලිය මුල සිට අවසානය දක්වා හොඳින් නිරීක්ෂණය කරන්න. ඉන් පිළිබිඹු වන සංස්කෘතික ලක්ෂණ පියවරින් පියවර සටහන් කරන්න. උදා: මංගල හෝ අවමංගල අවස්ථාවක්

## බහු සංස්කෘතික සමාජයක මූලික ලක්ෂණ

1. විවිධ ජනවර්ග, විවිධ ආගමික විශ්වාස දරන, විවිධ භාෂා කතා කරන පුද්ගලයින් එකට ජීවත් වීම.

2. ඉහත විවිධත්වය නිසා ඇති වී තිබෙන ඒ ඒ සංස්කෘතීන්ට ආවේණික සිරිත්විරිත්, ආචාර ධර්ම හා ඇගයීම් පද්ධතියක් පැවතීම.

3. එක ජන කොටසක වුව ද ප්‍රාදේශීය ව විවිධත්වයක් දැකිය හැකි වීම.

4. වර්තමානය වන විට ලෝකයේ රටවල් ජාතීන් වශයෙන් තම දේශ සීමාවලින් ඔබ්බට ගොස් විවිධ ජාතීන් සමග සම්මිශ්‍ර වී බහු සංස්කෘතික සමාජ ගොඩනැගීම.

5. ගෝලීයකරණය, සන්නිවේදන තාක්ෂණයේ දියුණුව හා සංචාරක ව්‍යාපාරය දියුණුවීම හේතුවෙන් ලෝකය ම එක ම විශ්ව ගම්මානයක් බවට පත් වී සංස්කෘතික සම්මිශ්‍රණය වීම ඉතා වේගයෙන් සිදු වීම.



**ක්‍රියාකාරකම 3.2**

1. විවිධ ජනවර්ග, ආගම් හා බැඳුණු විවිධ සිරිත්විරිත් හා සම්ප්‍රදායන් සඳහා උදාහරණ ලියන්න.

- බෞද්ධ සිරිත්විරිත් හා සම්ප්‍රදායයන්
- හින්දු සිරිත්විරිත් හා සම්ප්‍රදායයන්
- ඉස්ලාම් සිරිත්විරිත් හා සම්ප්‍රදායයන්
- ක්‍රිස්තියානි සිරිත්විරිත් හා සම්ප්‍රදායයන්

(මේ සඳහා 6,7,8,9 ශ්‍රේණිවල දී උගත් කරුණු ප්‍රයෝජනයට ගන්න)

විවිධ භාෂා කතා කරන, විවිධ ආගම් අදහන, විවිධ සිරිත්විරිත් අනුගමනය කරන පිරිස් බහු සංස්කෘතික සමාජයක එකට ජීවත් වෙති. වර්තමාන ලෝකයේ බොහෝ රටවල බහු සංස්කෘතික සමාජ හඳුනාගත හැකි ය. අපේ රට ශ්‍රී ලංකාව එතරම් සංකීර්ණ නොවූ බහු සංස්කෘතික සමාජයකට හොඳ ම නිදසුනකි. එහෙත් ඉන්දියාව, ඇමෙරිකා එක්සත් ජනපදය වැනි රටවල් ගත් විට ඒවා ඉතා සංකීර්ණ බහු සංස්කෘතියක් පවතින රටවලට උදාහරණ වේ.

- ජන වර්ග අනුව ශ්‍රී ලංකාවේ ජනගහනය

| ජන වර්ගය | ජන සංඛ්‍යාව | ප්‍රතිශතය |
|---|---|---|
| සිංහල | 15,173,820 | 74.9% |
| ශ්‍රී ලංකා දෙමළ | 2,270,924 | 11.2% |
| ඉන්දියානු දෙමළ | 842,323 | 4.1% |
| ශ්‍රී ලංකා යෝනක | 1,869,820 | 9.2% |
| වෙනත් | 106,836 | 0.5% |

වගු අංක 3.1
මූලාශ්‍රය: ජන සංගණනය 2012
ජනලේඛන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුව

**ක්‍රියාකාරකම 3.3**

- ඉන්දියාව හෝ ඇමෙරිකා එක්සත් ජනපදය වැනි රටක පවතින බහු සංස්කෘතික ලක්ෂණ පිළිබඳ ව අධ්‍යයනය කර බිත්ති පුවත්පතක පළ කිරීම සඳහා සුදුසු ලිපියක් සකස් කරන්න.

- ආගම් අනුව ශ්‍රී ලංකාවේ ජනගහනය

| ආගම | ජන සංඛ්‍යාව | ප්‍රතිශතය |
|---|---|---|
| බෞද්ධ | 14,222,844 | 70.2% |
| හින්දු | 2,554,606 | 12.6% |
| ඉස්ලාම් | 1,967,227 | 9.7% |
| ක්‍රිස්තියානි | 1,509,606 | 7.4% |
| වෙනත් | 9,440 | 0.1% |

වගු අංක 3.2
මූලාශ්‍රය: ජන සංගණනය 2012
ජනලේඛන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුව

- ජන වර්ග හා ආගම් අනුව සංයුතිය මෙසේ වුව ද එක ම ජන වර්ගය විවිධ ආගම් ඇදහීම ද දක්නට ලැබේ.

උදාහරණ : සිංහල ජනතාව - බෞද්ධ, කතෝලික/ක්‍රිස්තියානි

දෙමළ ජනතාව - හින්දු, බෞද්ධ, කතෝලික/ක්‍රිස්තියානි




3.1 රූපය - ශ්‍රී ලංකාවේ ආගමික ස්ථාන කිහිපයක්

ජන වර්ග අනුව සිංහල, දෙමළ, මුස්ලිම් ආදි ලෙස වර්ග කළත් ඔවුන් භාෂාව කතා කිරීමේ දී සිංහල ජනතාව දෙමළ බස කතා කිරීමත්, මුස්ලිම් හා දෙමළ ජනතාව සිංහල භාෂාව කතා කිරීමත් දක්නට ලැබෙන අතර මේ සැම සහජීවනයෙන් ජීවත් වීම ඉතා වැදගත් වේ.

## ශ්‍රී ලංකාව බහු සංස්කෘතික සමාජයක් වීම කෙරෙහි බලපා ඇති සාධක

### පිහිටීම (Location)

- භූගෝලීය පිහිටීම
- ඉන්දියන් සාගරයේ මධ්‍යගත ව පිහිටීම
- ඉන්දියාවට ආසන්න ව පිහිටීම
- පෙර අපර දෙදිග වෙළෙඳ මධ්‍යස්ථානයක් ලෙස පිහිටීම

### සංක්‍රමණ (Migrations)

- විජය ඇතුළු පිරිස පැමිණීම
- විජයගේ අභිෂේකය සඳහා ගෙන්වූ කුමරිය ඇතුළු පිරිස පැමිණීම
- පඬුවස්දෙව් ඇතුළු පිරිස පැමිණීම
- භද්දකච්චානා ඇතුළු පිරිස පැමිණීම
- මිහිඳු මහරහතන් වහන්සේ ඇතුළු පිරිස පැමිණීම
- සංඝමිත්තා තෙරණිය ඇතුළු පිරිස පැමිණීම
- සංචාරක කටයුතු, රැකියා, අධ්‍යාපනය වැනි විවිධ හේතු මත වර්තමානයේ දී රටකින් රටකට සංක්‍රමණය වීම් සිදුවීම

### ආක්‍රමණ (Invasions)

- සේන ගුත්තික ආක්‍රමණය
- පණ්ඩු පාරින්ද ඇතුළු පිරිසගේ ආක්‍රමණය
- කාලිංග මාඝ ආක්‍රමණය
- බටහිර යුරෝපා ජාතීන්ගේ ආක්‍රමණ

### විවිධ ජාතීන් වෙළෙඳාම සඳහා පැමිණීම (Arrival of Various Nationalities for trade)

- අරාබි ජාතිකයින්
- ඉන්දියානුවන්
- චීන ජාතිකයින්
- යුරෝපා ජාතීන්

### ශ්‍රමිකයන් ගෙන්වා ගැනීම (Import of labourers)

ශ්‍රී ලංකාවේ බ්‍රිතාන්‍ය පාලන සමයේ ආර්ථික භෝග වගාවන් සඳහා ශ්‍රමිකයන් වශයෙන් දකුණු ඉන්දීය ද්‍රවිඩ ජනයා ගෙන්වා ගැනීම නිසා එම ජනතාවගේ උරුම හා අනන්‍යතාව ද ශ්‍රී ලංකාවේ සංස්කෘතික විවිධත්වය ඇති වීමට හේතු වී තිබේ.

## බහු සංස්කෘතික ජන සමාජයක පැවැත්ම සඳහා යහපාලනයක අවශ්‍යතාව

### යහපාලනය හැඳින්වීම

ආර්ථික සම්පත් හා මානව සම්පත්වලින් හිඟයක් නොමැති වුව ද, සමහර රටවල ආර්ථික සංවර්ධනය මන්දගාමී වීම සහ සමාජ සාධාරණත්වය බිඳ වැටීම වැනි ප්‍රශ්නවලට බලපා ඇති හේතු සාධක මොනවාද යන්න පිළිබඳ ව සාකච්ඡා කිරීමේ දී පැන නඟින සංකල්පයක් ලෙස යහපාලනය (Good governance) හඳුන්වා දිය හැකි ය.

රටවල් සතු ආර්ථික හා මානව සම්පත් නිසියාකාර ව කළමනාකරණය නොකිරීම හේතු කොටගෙන ආර්ථික සංවර්ධනය මන්දගාමී වී ඇති බවත් එහි ප්‍රතිඵලයක් ලෙස සමාජ සාධාරණත්වය ගොඩනැඟීම ද බිඳ වැටී ඇති බවත් පැහැදිලි වේ. මෙයට බලපා ඇති හේතු කිහිපයකි.

- අනවශ්‍ය ආකාරයෙන් බලය මධ්‍යගත වීම
- රාජ්‍ය පාලනයේ අකාර්යක්ෂමභාවය
- රාජ්‍ය සේවය දේශපාලනීකරණය වීම
- නිලධාරිවාදය
- රාජ්‍ය ප්‍රතිපත්ති තීරණය කිරීම හා ක්‍රියාවට නැංවීම කෙරෙහි ජනතා සහභාගිත්වය නොමැති වීම
- අල්ලස් හා දූෂණය හා ඉහළ යාම
- රාජ්‍ය පාලකයින් වගකීමෙන් තොරවීම
- පෞද්ගලික අංශය ජාතික අභිලාෂ නොතකා හැරීම

විශේෂයෙන් බොහෝ රටවල් මුහුණ දී ඇති මෙම අර්බුදයෙන් ගොඩ ඒමට නම් ඉහත දක්වා ඇති දුර්වලතාවලින් මිදීමේ අවශ්‍යතාව අවධාරණය කෙරෙන අතර යහපාලනය පිළිබඳ සංකල්පය ඒ සම්බන්ධයෙන් ඉදිරිපත් වූ එක් විසඳුමකි.

"යහපාලනය රාජ්‍ය ප්‍රතිපත්ති තීරණය කිරීමේ හා ක්‍රියාත්මක කිරීමේ ක්‍රියාවලියකි. එහි දී ජනතා සුබසිද්ධිය උපරිම වන අයුරින් පුරවැසි අයිතිවාසිකම් හා සමාජ සාධාරණත්වය සුරකෙන පරිදි නීතිගරුක ව, විනිවිදභාවයෙන්, වංචා හා දූෂණයෙන් තොර ව වගවීමෙන් යුක්ත ව කටයුතු කිරීම පාලකයින්ගේ වගකීමකි."

## යහපාලනයක මූලික ගුණාංග

1. දූෂණයෙන්, වංචාවෙන් තොර රාජ්‍ය පාලනය හා පරිපාලනය
2. නිදහස හා සාධාරණත්වය තහවුරු කිරීම
3. නීතියේ ආධිපත්‍යයට ගරු කිරීම හා අධිකරණයේ ස්වාධීනත්වය ආරක්ෂා කිරීම
4. රාජ්‍ය පාලන බලතල ක්‍රියාවට නංවන පුද්ගලයින් ජනතාවට වගකීමට බැඳී සිටීම
5. අයිතිවාසිකම් සුරැකීම හා තහවුරු කිරීම
6. මාධ්‍ය නිදහස ආරක්ෂා කිරීම
7. සම්පත් කාර්යක්ෂම ව හා ප්‍රතිඵලදායී අයුරින් භාවිතයට ගැනීම
8. විනිවිද භාවයකින් යුතු ව කටයුතු කිරීම
9. ගුණාත්මක දේශපාලන සමාජානුයෝජනයට අවශ්‍ය පසුබිම සකස් කිරීම
10. ව්‍යවස්ථානුකූලවාදය ආරක්ෂා කිරීම හා රැක ගැනීම

## යහපාලනයක් සඳහා එකිනෙකාගේ දේශපාලන, සමාජ, ආර්ථික හා සංස්කෘතික අනන්‍යතාවට ගරු කිරීමේ වැදගත්කම

යහපාලනයක් සඳහා එකිනෙකාගේ දේශපාලන, සමාජ, ආර්ථික හා සංස්කෘතික අනන්‍යතාවට ගරු කිරීම අත්‍යවශ්‍ය කරුණකි. ඒ සඳහා ඉහතින් දැක්වූ යහපාලන ගුණාංග සමාජය තුළ තහවුරු වීම අත්‍යවශ්‍ය වේ. තවදුරටත් පහත සඳහන් කරුණු කෙරෙහි අවධානය යොමු කිරීම ද වැදගත් බව පෙන්වා දිය හැකිය.

## දේශපාලන

- එකිනෙකාගේ දේශපාලන අනන්‍යතාවට ගරු කිරීම
- තමන් කැමති දේශපාලන මතවාදයක් දැරීම
- දේශපාලන නායකත්වයට ගරු කිරීම
- දේශපාලන තීන්දු, තීරණ ගැනීමේ දී ස්වාධීන ව කටයුතු කිරීම
- එම තීරණ අන්‍යයන්ට බාධාකාරී නොවීම
- නිදහස් හා සාධාරණ මැතිවරණ පැවැත්වීම

### ආර්ථික

- තමන් කැමති නීත්‍යානුකූල වෘත්තියක හෝ ව්‍යාපාරයක නිරත වීම
- වෘත්තිය සමිති පිහිටුවා ගැනීම හා ක්‍රියාත්මක කිරීම
- ආදායම් බෙදී යාමේ විෂමතාව අවම කිරීමට පියවර ගැනීම
- යටිතල පහසුකම් සංවර්ධනය කිරීම

### සමාජ හා සංස්කෘතික

- කැමති ආගමක් ඇදහීම
- සිරිත්විරිත් අනුගමනය කිරීම
- විවිධ උත්සව පැවැත්වීම
- කැමති ප්‍රදේශයක පදිංචි වීම
- විවිධ භාෂාවන් ඉගෙනීම හා භාවිතය
- නිදහසේ ගමනාගමනය
- අන්‍ය සංස්කෘතීන්ට ගරු කිරීම

ඉහතින් දක්වූ සියලු කාරණාවල දී දේශපාලන, සමාජ, ආර්ථික හා සංස්කෘතික අනන්‍යතාවට ගරු කරමින් කටයුතු කිරීම බහු සංස්කෘතික සමාජයක යහපැවැත්ම සඳහා අත්‍යවශ්‍ය වේ.

### බහු සංස්කෘතික ජන සමාජයක යහපාලනය ක්‍රියාත්මක වීමෙන්,

- ජනවර්ග හා විවිධ ජන කණ්ඩායම් අතර විශ්වාසය තහවුරු වේ.
- එකිනෙකා අතර අවබෝධය පුළුල් වේ.
- පාලන කටයුතු සඳහා සියලු ජනවර්ග හා ජන කණ්ඩායම්වල සහභාගිත්වය වර්ධනය වේ.
- එකිනෙකාට ගරු කිරීමට හුරු වේ.
- ආගමික හා සංස්කෘතික විවිධතා නොසලකා සහජීවනයෙන් කටයුතු කරයි.
- නීතිගරුක පුරවැසියන් ලෙස ජීවත්වීමට පුරුදු වෙයි.
- විනිවිද භාවයෙන් කටයුතු කරයි.

## බහු සංස්කෘතික සමාජය හා නූතන රාජ්‍ය

නූතන ජාතික රාජ්‍ය සංකල්පයේ අදහස එක් ජාතියකට එක් රාජ්‍යයක් යන්නයි. මින් අදහස් වන්නේ රාජ්‍යයක් යනු එක් ජාතියක් යන්නයි. රටක් තුළ විවිධ සංස්කෘතීන්ට අයත් පිරිස් ජීවත් වුවත් ඔවුන් සියලු දෙනා ම එක් ජාතියක් ලෙස සැලකේ.

ශ්‍රී ලංකාවේ සිංහල, දෙමළ, මුස්ලිම් හා වෙනත් ජනවර්ග සහ විවිධ සංස්කෘතීන්ට අයත් පිරිස් ජීවත් වුවත් ඔවුන් ශ්‍රී ලාංකිකයන් ලෙස සැලකීම උදාහරණ ලෙස දැක්විය හැකි ය.

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ක්‍රියාත්මක වන නූතන රාජ්‍යයන් උත්සාහ ගන්නේ විවිධ සංස්කෘතික අනන්‍යතාවන්ට ගරු කරමින්, විවිධතා සමෝධානය කරමින් එක් ජාතියක් වශයෙන් ස්වාධීන ව සංවර්ධනය කරා ගමන් කිරීමටයි.

බොහෝ සංවර්ධිත රටවල් ආර්ථික, සමාජීය හා දේශපාලන ක්‍රියාවලියේ දී බහු සංස්කෘතිකභාවය හොඳින් ප්‍රයෝජනයට ගෙන තිබේ. "වෙනස්කම් තුළින් එකමුතු බව" යන්න ඔවුනගේ තේමාවයි. නිදසුන් ලෙස සිංගප්පූරුව, ස්විට්සර්ලන්තය වැනි රටවල් දැක්විය හැකි ය.

**ක්‍රියාකාරකම 3.4**

- "බහු සංස්කෘතික සමාජභාවය රටේ යහපත වෙනුවෙන් යොදා ගනිමු" යන මාතෘකාව යටතේ වචන 250කට නොඅඩු රචනයක් ලියන්න. හොඳම රචනා පන්තියේ ප්‍රදර්ශනය කිරීමට කටයුතු කරන්න.

## බහු සංස්කෘතික සමාජයක යහපැවැත්ම සඳහා පුරවැසියකු විසින් ප්‍රගුණ කළ යුතු ගුණාංග

- එකිනෙකාගේ සංස්කෘතීන් හඳුනා ගැනීම හා අවබෝධයෙන් යුතු ව කටයුතු කිරීම, එකිනෙකාට ගරු කිරීම
- අන්‍ය ආගම්වලට අවමන් නොකිරීම
- අන්‍ය සංස්කෘතීන්ට ගරු කිරීම
- ගැටුම් ඇති නොවන සේ කටයුතු කිරීම
- සාමූහිකත්වය වර්ධනය කිරීම
- එක්සත් ව කටයුතු කිරීමෙන් ජයග්‍රහණ ලබා ගැනීම පහසු බව අවබෝධ කර ගැනීම
- අනෙකුත් ජනවර්ගවල භාෂාවන් ඉගෙනීම හා භාවිතය
- සර්ව ආගමික වැඩ සටහන් ක්‍රියාත්මක කිරීම
- අන්‍ය මත ඉවසීම හා ඒවාට ගරු කිරීම
- සමානාත්මතාවය

## බහු සංස්කෘතික ජන සමාජයේ සාමාජිකයන් ලෙස එක්සත් ව ජීවත්වීමේ ජාතික වැදගත්කම

### බහු සංස්කෘතික සමාජයක ජනතාව එක්සත්ව කටයුතු කිරීමෙන්,

- ජාතික සමගිය හා සහජීවනය වර්ධනය වේ.
- ගැටුම් අවම වේ.
- අන්‍යෝන්‍ය සුහදත්වය හා විශ්වාසය වර්ධනය වේ.
- එක් ජාතියක්, එක් රටක් යන හැඟීම වර්ධනය වේ.
- මිනිස් නිදහස හා ප්‍රජාතන්ත්‍රවාදය තහවුරු වේ.
- රටේ සංවර්ධනය වෙනුවෙන් සෑම පුරවැසියකු ම නොපිරිහෙලා කටයුතු කිරීම හා එය ජාතික යුතුකමක් සේ සලකා කටයුතු කිරීමට පෙළඹේ.
- අන්‍ය ආගම් හෝ සංස්කෘතීන්ට අගරු නොවන ආකාරයට හැසිරීමට හුරු වේ.

බහු සංස්කෘතික සමාජයක සහජීවනයෙන් කටයුතු කිරීමෙන් ජයග්‍රහණ ලබා ගැනීම පහසු වේ. සාමය, සුරක්ෂිතතාව, සාධාරණ බව, රටවැසියන් සියලු දෙනාට ම එකසේ හිමි විය යුතු ය. සියලු දෙනා එක් ව සතුටින් ජීවත් වීමට නම්, එක්සත් ශක්තිමත් දේශයක් අප එක්ව ගොඩනැඟිය යුතු ය. ඒ සඳහා කැපවීම අපේ වගකීමයි.

"එක මවකගෙ දරු කැල බැවිනා" යනුවෙන් අපේ ජාතික ගීයේ දක්වෙන උදාර අදහස මල්පල ගැන්වීම අපි කාගේත් යුතුකම කොට සලකමු.

**ක්‍රියාකාරකම් 3.5**

- ඔබේ ප්‍රදේශයේ ඔබ සමග ජීවත්වන වෙනත් ජන වර්ග හා ඔවුන් අදහන ආගම් මොනවා දැයි සොයා බලන්න.
- අපේ රටේ ජනයා භාවිත කරන ප්‍රධාන භාෂාවන් (විශේෂයෙන් සිංහල ජනතාව දෙමළ භාෂාවත්, දෙමළ ජනතාව සිංහල භාෂාවත්) ඉගෙන ගැනීම වැදගත් වන්නේ ඇයි? කරුණු 05ක් ඉදිරිපත් කරන්න.

# 04 ආර්ථික ක්‍රම හා ආර්ථික සබඳතා

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- මූලික ආර්ථික ප්‍රශ්න හා ආර්ථික කටයුතු විමර්ශනය කිරීමටත්,
- විවිධ ආර්ථික ක්‍රම පිළිබඳ තොරතුරු ගවේෂණය කිරීමටත්,
- සංවර්ධනයට සාපේක්ෂ ව වර්තමාන ආර්ථික ක්‍රම විශ්ලේෂණය කිරීමටත්,
- ශ්‍රී ලංකාව කෙරෙහි ගෝලීයකරණයේ බලපෑම විශ්ලේෂණය කිරීමටත්,

හැකියාව ලැබෙනු ඇත.

## මූලික ආර්ථික ප්‍රශ්න හා ආර්ථික ක්‍රියාකාරකම්

සමාජ ක්‍රමයක් තුළ මිනිසුන් ජීවත්වීමේ දී විවිධ අවශ්‍යතා හා වුවමනා ඇතිවේ. මෙම වුවමනා ඉටු කර ගැනීමට යාමේ දී ඔවුනට විවිධ ප්‍රශ්නවලට මුහුණ දීමට ද සිදුවේ. එසේ මුහුණ දීමට සිදුවන ප්‍රශ්න විසඳා ගැනීමේ දී එක් එක් සමාජ කටයුතු කරන ආකාරයන් ද විවිධ වේ.

මිනිසාට මුහුණ දීමට සිදුවන මූලික ආර්ථික ප්‍රශ්න විසඳා ගැනීම සඳහා යම් සමාජයක් සංවිධානය වී ඇති ආකාරය අර්ථ ක්‍රමයක් ලෙස හැඳින්වේ.

සමාජයක සමූහයක් ලෙස ජීවත්වීමේ දී මිනිසාට විවිධ අවශ්‍යතා හා වුවමනාවන් ඇතිවන බව ඔබ දැනටමත් දන්නවා ඇත. මිනිසාගේ පැවැත්ම සඳහා අත්‍යවශ්‍ය මූලික දේවල් අවශ්‍යතා ලෙස හැඳින්වේ. ආහාර, නිවාස, ඇඳුම් පැලඳුම් ආදිය අවශ්‍යතා සඳහා උදාහරණ වේ. ඒවා මූලික අවශ්‍යතා ලෙසට ද විග්‍රහ කරනු ලැබේ.

ඉහත අවශ්‍යතා විවිධ පුද්ගලයන් විසින් විවිධ ආකාරයට සපුරා ගැනීමට කටයුතු කරනු ලැබේ. අවශ්‍යතා ඉටු කර ගන්නා විවිධ ස්වරූපයන් වුවමනා ලෙස හැඳින්වේ. නිවාස මූලික අවශ්‍යතාවක් වුව ද එය ඉටු කර ගැනීමේ දී පැල්පත්, මැටි ගෙවල්, තට්ටු නිවාස ආදි විවිධ ආකාරයට ඉදි කරනු ලබයි. වුවමනා පුද්ගලයාගේ සමාජ ආර්ථික තත්ත්වය අනුව විවිධ වන බව ඉහත උදාහරණයෙන් පැහැදිලි වේ.

පුද්ගලයන්ගේ වුවමනාවන් විවිධ වන්නා සේ ම අසීමිත වන බව ද අපි දනිමු. නමුත් මෙම වුවමනා ඉටු කර ගැනීමට අවශ්‍ය තරම් සම්පත් නොමැති බව ද දනිමු. අපට විශාල ගෙයක් සාදා ගැනීමට අවශ්‍ය වුව ද තිබෙන ඉඩම, මුදල් වැනි සාධක මත එය ඉටු කර ගැනීමට යාමේ දී ප්‍රශ්න මතුවිය හැකි ය. ඒ නිසා තිබෙන සම්පත් තුළින් මෙම අසීමිත වුවමනාවන් ඉටු කර ගැනීමට නම් අපට යම් ක්‍රමානුකූල විද්‍යාත්මක ක්‍රම වේදයක් යටතේ කටයුතු කිරීමට සිදුවේ.

**ක්‍රියාකාරකම 4.1**

- මිනිස් අවශ්‍යතා හා ඒවාට අදාළ වුවමනා වගුවකින් දක්වන්න.

## මූලික ආර්ථික ප්‍රශ්න (Basic economic problems)

මිනිස් අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීමට යාමේ දී විවිධ ප්‍රශ්නවලට මුහුණ දීමට සිදුවන බව මීට පෙර උගත්තෙමු. මෙම ප්‍රශ්න කුමන අර්ථ ක්‍රමයකට වුව ද පොදුය. මිනිසාගේ අවශ්‍යතා හා වුවමනා අසීමිත වීමත්, ඒ සඳහා තිබෙන සම්පත් සීමිත වීමත් එයට හේතුව වේ. එය අපි හිඟකම ලෙසින් හඳුන්වමු. හිඟකම නිසා වුවමනා සපුරා ගැනීමේ දී තේරීමට සිදුවේ. ඕනෑ ම අර්ථ ක්‍රමයකට මුහුණ දීමට සිදුවන ප්‍රශ්න, මූලික ආර්ථික ප්‍රශ්න ලෙසින් ද හැඳින්වේ. ඒවා ප්‍රධාන කොටස් තුනකට බෙදිය හැකි ය.


4.1 රූපය

### 1. කුමක්, කොපමණ නිෂ්පාදනය කරන්නේ ද?

තිබෙන සම්පත් උපයෝගී කර ගෙන කුමන භාණ්ඩයක් නිෂ්පාදනය කරන්නේ ද යන්න තීරණය කිරීමට සිදුවේ. එසේම තෝරාගත් භාණ්ඩයෙන් කොපමණ ප්‍රමාණයක් නිෂ්පාදනය කරන්නේ ද යන ගැටලුව ද මතුවේ. සම්පත්වලින් ගත හැකි විකල්ප ප්‍රයෝජන රාශියක් තිබීම මෙම ප්‍රශ්නයට මූලික හේතුව වේ.

පුද්ගලයාගේ සියලු ම අවශ්‍යතා හා වුවමනා ඉටු කිරීමට නොහැකි නිසා මුලින් ම තීරණය කළ යුත්තේ කුමන වුවමනා ඉටු කරන්නේ ද යන්න ය. ඉහත චිත්‍රයෙන් ඒ සඳහා ගත හැකි විකල්ප තීරණ කිහිපයක් පෙන්නුම් කරයි. කුමක්, කොපමණ ප්‍රමාණය බැගින් නිපදවන්නේ ද යන්න තීරණය කළ හැක්කේ ආර්ථිකය සංවිධානය වී ඇති ආකාරය අනුවයි.

### 2. කෙසේ නිෂ්පාදනය කරන්නේ ද?

නිෂ්පාදනය කළ යුතු භාණ්ඩය කොපමණ නිෂ්පාදනය කරන්නේ ද යන ප්‍රශ්නය විසඳා ගැනීමෙන් පසු ව ඊළඟට මුහුණ දීමට සිදුවන ආර්ථික ප්‍රශ්නය වන්නේ කෙසේ නිෂ්පාදනය කරන්නේ ද යන්නයි. එහිදී අතුරු ප්‍රශ්න දෙකකට මුහුණ දීමට සිදුවේ. එනම්,

i. යොදා ගන්නා ශිල්පීය ක්‍රමය කුමක් ද?

ii. නිෂ්පාදනය කරනු ලබන්නේ කුමන අංශයෙන් ද? යන්නයි.

### i. යොදා ගන්නා ශිල්පීය ක්‍රමය කුමක් ද?

නිෂ්පාදනය සඳහා යොදා ගන්නා ප්‍රධාන ශිල්පීය ක්‍රම දෙකකි.

- **ප්‍රාග්ධන සූක්ෂ්ම (Capital Intensive)**

භාණ්ඩ නිෂ්පාදනය සඳහා වැඩිපුර යන්ත්‍ර සූත්‍ර හා වෙනත් ප්‍රාග්ධන භාණ්ඩ යොදා ගැනීම ප්‍රාග්ධන සූක්ෂම නම් වේ. උදා: කෘෂිකර්මය සඳහා වැඩිපුර යන්ත්‍ර භාවිත කරන්නේ නම් එය ප්‍රාග්ධන සූක්ෂම කෘෂිකර්මයකි.

- **ශ්‍රම සූක්ෂ්ම (Labour Intensive)**

භාණ්ඩ නිෂ්පාදනයේ දී මිනිස් ශ්‍රමය බහුල ව යොදා ගැනීම ශ්‍රම සූක්ෂ්ම නම් වේ. උදා: කෘෂිකර්මය සඳහා කම්කරුවන් වැඩි පිරිසක් යොදා ගන්නේ නම් එය ශ්‍රම සූක්ෂම කෘෂිකර්මයකි.

### ii. නිෂ්පාදනය කරනුයේ කුමන අංශයෙන් ද?

කුමන අංශයෙන් නිෂ්පාදනය කරන්නේ ද යන්න කෙසේ නිෂ්පාදනය කරන්නේ ද යන්න යටතේ දෙවනුව වැදගත් වේ. නිෂ්පාදනය රාජ්‍ය හෝ පෞද්ගලික අංශය තුළ ද එම අංග දෙකෙහි ම ඒකාබද්ධතාවයෙන් ද සිදු කළ හැකි ය.




නූතන ලෝකයේ නිෂ්පාදන කටයුතු පහසු කිරීම සඳහා තනි පුද්ගල, සමාගම්, හවුල් ව්‍යාපාර, සමුපකාර සමිති ආදි විවිධාකාරයෙන් සංවිධානය වී ඇත.

## 3. කවුරුන් සඳහා නිෂ්පාදනය කරන්නේ ද?

භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කරනු ලබන්නේ කවුරුන් උදෙසා ද යන්න තීරණය කිරීම මෙමඟින් අදහස් වේ. මිලදී ගැනීමේ හැකියාව අනුව සමාජය විවිධ පාරිභෝගික කණ්ඩායම්වලින් සමන්විත වේ. නිෂ්පාදනය කිරීමේ දී ඔවුන්ගෙන් ඉලක්ක කර ගන්නේ කුමන කණ්ඩායම ද යන්න මෙහි දී වැදගත් වේ. එනම් නිපදවනු ලබන භාණ්ඩ හෝ සේවා පාරිභෝගිකයින් අතර බෙදා හරින්නේ කෙසේ ද යන්න මෙහි අදහසයි. උදාහරණ වශයෙන් ඉහළ ලාභයක් ලැබිය හැකි සුඛෝපභෝගී භාණ්ඩ නිෂ්පාදනය කොට ඉහළ ආදායම් ලබන පිරිස් සඳහා නිපදවන්නේ ද? නැතහොත් අඩු ආදායම් ලබන්නන් සඳහා අත්‍යවශ්‍ය භාණ්ඩ නිපදවන්නේ ද? යන්න තීරණය කිරීම දැක්විය හැකි ය.

**ක්‍රියාකාරකම 4.2**

- ඔබට ප්‍රධාන මාර්ගයකට යාබද ව හිස් ඉඩමක් ඇතැයි සිතන්න. එම ඉඩම යම් ආර්ථික කටයුත්තකට යෙදවීමට අදහස් කරන්නේ නම් ඉහත ආර්ථික ප්‍රශ්න අනුව ඔබ ගන්නා තීරණ විස්තර කරන්න.

## නිෂ්පාදන සාධක හා ඒවාට කරන ගෙවීම්

මිනිස් වුවමනා ඉටු කර ගැනීමේ දී විවිධ භාණ්ඩ හා සේවා යොදා ගනු ලැබේ. එම භාණ්ඩ ප්‍රධාන කොටස් දෙකකි.

- ආර්ථික භාණ්ඩ - නිෂ්පාදනයේ දී පිරිවැයක් දැරීමට සිදුවන සහ පරිහරණය සඳහා මිලක් ගෙවීමට සිදුවන භාණ්ඩ

  උදා: ඉහත ලක්ෂණ දැකිය හැකි ආහාර, ඇඳුම්, ඖෂධ ආදිය
- ආර්ථික නොවන භාණ්ඩ - අපට ස්වභාව ධර්මයෙන් නොමිලේ ලැබෙන භාණ්ඩ

  උදා: හිරු එළිය, ජලය, වාතය

ආර්ථික නොවන භාණ්ඩ හෙවත් අපට නොමිලේ ලැබෙන භාණ්ඩ ඇතැම් විට ආර්ථික භාණ්ඩ වන අවස්ථා ද දක්නට ලැබේ.

උදා:

- ජලය අපට නොමිලයේ ලැබුණ ද බෝතල් කළ ජලය ලබා ගැනීමේ දී මිලක් ගෙවීමට සිදුවීම.
- හිරු එළිය භාවිත කර නිපදවනු ලබන විදුලිය සඳහා මිලක් ගෙවීමට සිදුවීම.
- නයිට්‍රජන් වායුව ගබඩා කර වාහනවලට යෙදීමේ දී මිලක් ගෙවීමට සිදුවීම.



4.2 රූපය

## 1. භූමිය (Land)

පොළව හා ඒ සම්බන්ධ සියලු සම්පත් භූමියට අයත් වේ. මෙම භාවිතය නිෂ්පාදනය සඳහා යොදා ගැනීමේ දී කරනු ලබන ගෙවීම බදු කුලිය ලෙස හැඳින්වේ.



4.3 රූපය

## 2. ශ්‍රමය (Labour)

භාණ්ඩ හා සේවා නිෂ්පාදනය සඳහා විවිධ පුද්ගලයන් විසින් වැය කරන කායික හා මානසික ශක්තිය ශ්‍රමය ලෙස හැඳින්වේ. කම්කරුවන්, ගොවීන්, රියදුරන් වැනි අය සාපේක්ෂ ව වැඩිපුර කායික ශක්තිය වැය කරන හෙයින් එය කායික ශ්‍රමය ලෙස හැඳින්වේ. වෛද්‍යවරුන්, ඉංජිනේරුවන්, ගුරුවරුන් වැනි අය සාපේක්ෂ ව වැඩිපුර මානසික ශක්තිය වැය කරන හෙයින් එය මානසික ශ්‍රමය ලෙස හැඳින්වේ. ශ්‍රමයට කරන ගෙවීම වැටුප නම් වේ.



4.4 රූපය

## 3. ප්‍රාග්ධනය (Capital)

නිෂ්පාදනය සඳහා මිනිසා විසින් යොදවනු ලබන (ආයෝජනය කරන) විවිධ මෙවලම් හා උපකරණ ප්‍රාග්ධනය වේ. ප්‍රාග්ධනය ලෙස යන්ත්‍ර සූත්‍ර, ගොඩනැගිලි ආදිය දැක්විය හැකි ය. ප්‍රාග්ධනය සඳහා කරන ගෙවීම පොලිය ලෙස හැඳින්වේ.



4.5 රූපය

## 4. ව්‍යවසායකත්වය (Entrepreneurship)

නිෂ්පාදන සාධක එකම ස්ථානයක ස්ථානගත වී නොමැත. ඒවා විවිධ ස්ථානවල හා පුද්ගලයන් අතර විසිරී පවතී. එසේ විසිරී ඇති නිෂ්පාදන සාධක එකතු කර නිෂ්පාදන ක්‍රියාවලිය සඳහා මෙහෙයවීමේ කාර්යය ව්‍යවසායකත්වය නම් වේ. මේ සඳහා කරන ගෙවීම ලාභ හෙවත් ලාභය වේ.

ක්‍රියාකාරකම 4.3

- මිනිස් වුවමනා සඳහා යොදා ගන්නා භාණ්ඩ පහක් නම් කරන්න. ඒ ඒ භාණ්ඩ සඳහා භාවිත කරන නිෂ්පාදන සාධක වගුවක් ලෙසින් දක්වන්න.

## ආර්ථිකයක සිදුවන ක්‍රියාවලි

ආර්ථිකයක විවිධ ක්‍රියාවලීන් සිදු වේ. එම ක්‍රියාවලීන් ප්‍රධාන කොටස් තුනකට බෙදිය හැකි ය.

- නිෂ්පාදනය
- බෙදාහැරීම
- පරිභෝජනය

### 1. නිෂ්පාදනය (Production)

ආර්ථිකයක සම්පත් මිනිස් වුවමනා ඉටු කර ගත හැකි ආකාරයට වෙනස් කිරීම නිෂ්පාදනය නම් වේ. ආර්ථිකයක සිදුවන නිෂ්පාදනය මූලික වශයෙන් පහත සඳහන් පරිදි අංශ තුනකට බෙදිය හැකි ය.

- කෘෂිකාර්මික නිෂ්පාදනය

තේ, රබර්, පොල්, වී හා වෙනත් ධාන්‍ය වර්ග, එළවළු, පලතුරු, මස්, මාලු, බිත්තර ආදිය



4.6 රූපය



4.7 රූපය

- කාර්මික නිෂ්පාදනය

යන්ත්‍ර සූත්‍ර, මෝටර් රථ, ඇඟලුම්, ලිපිද්‍රව්‍ය, සකස් කළ ආහාර ආදිය



4.8 රූපය

* **සේවා නිෂ්පාදනය**

අධ්‍යාපනය, සෞඛ්‍යය, තැපැල්, විදුලි සංදේශ, විදුලිය, ප්‍රවාහනය ආදිය

නිෂ්පාදනය කරන භාණ්ඩ ප්‍රයෝජනයට ගන්නා ආකාරය අනුව ද කොටස් තුනකට බෙදිය හැකි ය.

| පාරිභෝගික භාණ්ඩ | අන්තර් භාණ්ඩ | ප්‍රාග්ධන භාණ්ඩ |
|---|---|---|
| පුද්ගල අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීම සඳහා යොදා ගන්නා භාණ්ඩ හා සේවා පාරිභෝගික භාණ්ඩ ලෙස හැඳින්වේ.<br>උදා : එදිනෙදා භාවිතයට ගන්නා ආහාර ද්‍රව්‍ය, ඇඳුම් පැළඳුම්, ඖෂධ ආදිය | කිසියම් භාණ්ඩයක් නිෂ්පාදනය කර ගැනීම සඳහා උපයෝගී කර ගන්නා භාණ්ඩ අන්තර් භාණ්ඩ ලෙස හැඳින්වේ. අන්තර් භාණ්ඩ එක් වරක් භාවිතයෙන් අවසන් වීම විශේෂ ලක්ෂණයකි. නැවත නැවත භාවිතයට ගත නොහැක.<br>උදා: වී නිෂ්පාදනය සඳහා යොදා ගන්නා පොහොර, ගෘහ භාණ්ඩ නිෂ්පාදනය සඳහා භාවිත කරන දැව | නිෂ්පාදන ක්‍රියාවලිය සඳහා සෘජු ව යොදා ගන්නා භාණ්ඩ ලෙස ද හැඳින්වේ. ආයෝජන භාණ්ඩ ලෙස ද හැඳින්වේ. ප්‍රාග්ධන භාණ්ඩ නිෂ්පාදන කාර්යයේ දී නැවත නැවත යොදා ගැනීමට හැකිවේ.<br>උදා: යන්ත්‍ර සූත්‍ර, ගොඩනැගිලි, වාහන |

## 2. බෙදාහැරීම (Distribution)

නිෂ්පාදනය කරන භාණ්ඩ හා සේවා පාරිභෝගිකයා දක්වා ලබා දීමේ ක්‍රියාවලිය බෙදාහැරීම නම් වේ. අතීතයේ දී තමන්ට අවශ්‍ය භාණ්ඩ තමන් ම නිපදවා ගත් බැවින් භාණ්ඩ හුවමාරුවක් සිදු නොවී ය. ඉන් පසු ව භාණ්ඩ වෙනත් භාණ්ඩවලට හුවමාරු කර ගැනීමේ ක්‍රමයක් ඇති විය. උදාහරණ ලෙස යමෙක් තම වී නිෂ්පාදනයේ අතිරික්තය වෙනත් අයෙකුට ලබා දී ඒ වෙනුවට ලුණු, කරවල, ඇඳුම් වැනි වෙනත් භාණ්ඩයන් ලබා ගැනීම දැක්විය හැකි ය. වර්තමානය වන විට වෙළෙඳ පොළ මගින් මුදල් මාධ්‍ය කොට ගෙන භාණ්ඩ හුවමාරු කර ගැනීමක් සිදුවේ. මෙම ක්‍රියාවලිය වෙළෙඳාම ලෙස ද හැඳින්විය හැකි ය. වෙළෙඳාම රටක් අභ්‍යන්තරයේ පමණක් නොව ජාත්‍යන්තරව ද සිදුවේ. වෙළෙඳාම ප්‍රධාන කොටස් දෙකකට බෙදිය හැකි ය.



4.9 රූපය

- **තොග වෙළඳාම**

නිෂ්පාදනය කරනු ලබන භාණ්ඩ විශාල තොග වශයෙන් අවසන් පාරිභෝගිකයාට නොව, අතරමැදි වෙළෙඳුන්ට ලබා දීමේ කාර්යය තොග වෙළෙඳාම නමින් හැඳින්වේ. තොග වෙළෙඳාම, නිෂ්පාදකයා හා තොග වෙළෙන්දා අතරත්, තොග වෙළෙන්දා හා සිල්ලර වෙළෙන්දා අතරත් සිදු වේ.



4.10 රූපය

- **සිල්ලර වෙළඳාම**

නිෂ්පාදකයාගෙන් හෝ තොග වෙළෙන්දාගෙන් සිල්ලර වෙළෙන්දා ලබා ගන්නා භාණ්ඩ පාරිභෝගිකයා කුඩා ප්‍රමාණයන්ගෙන් ලබා දීම සිල්ලර වෙළෙඳාමයි. නිෂ්පාදකයාගේ සිට පාරිභෝගිකයා දක්වා භාණ්ඩ ගලා යාමේ ක්‍රියාවලියේ දී හමුවන අවසාන අතරමැදියා සිල්ලර වෙළෙන්දා ය.

## 3. පාරිභෝජනය (Consumption)

ආර්ථිකයක නිෂ්පාදනය කරන භාණ්ඩ හා සේවා යොදා ගෙන මිනිස් අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීම පාරිභෝජනය වේ. එසේ අවශ්‍යතා ඉටු කර ගන්නා පුද්ගලයා පාරිභෝගිකයා ලෙස හැඳින්වේ. පුද්ගලයාගේ අවශ්‍යතා හා වුවමනා ඍජුව ඉටු කර ගැනීමට දායක කර ගන්නා භාණ්ඩ පාරිභෝජන භාණ්ඩ ලෙස හැඳින්වේ. ආහාරපාන, ඇඳුම් පැළඳුම්, වාහන ආදිය තම කටයුතු ඉටුකර ගැනීම සඳහා භාවිතයට ගැනීමට නිදසුන් ලෙස දැක්විය හැකි ය.

**ක්‍රියාකාරකම 4.4**

ඔබ දන්නා භාණ්ඩ හා සේවා යොදා ගෙන පහත වගුව සම්පූර්ණ කරන්න.

| පාරිභෝගික භාණ්ඩ | අන්තර් භාණ්ඩ | ප්‍රාග්ධන භාණ්ඩ |
|---|---|---|
| | | |

## විවිධ අර්ථ ක්‍රම පිළිබඳ තොරතුරු ගවේෂණය කිරීම

අර්ථ ක්‍රමයක් යනු මිනිසා මුහුණ දෙන කුමක්, කොපමණ, කෙසේ, කා සඳහා නිෂ්පාදනය කරනවාද යන මූලික ආර්ථික ප්‍රශ්න විසඳා ගැනීම සඳහා විවිධ සමාජ සංවිධානය වී ඇති ආකාරයයි. මෙම අර්ථ ක්‍රම ප්‍රධාන කොටස් තුනකට බෙදේ.

1. ධනවාදී අර්ථ ක්‍රම
2. සමාජවාදී අර්ථ ක්‍රම
3. මිශ්‍ර අර්ථ ක්‍රම

### ධනවාදී අර්ථ ක්‍රමය (Capitalist economic system)

දේපළ අයිතිය පෞද්ගලික අංශය සතු සහ ඒවා ලාභ අපේක්ෂාවෙන් ආර්ථික කටයුතුවල මෙහෙයවන ආර්ථික සංවිධානයක් ධනවාදී අර්ථ ක්‍රමයක් ලෙස හැඳින්වේ. එවැනි ආර්ථිකයක මූලික ලක්ෂණ කිහිපයක් පහත දක්වේ.

- තරඟකාරී වෙළෙඳ පොළක් පැවතීම
- නිෂ්පාදන සාධකවල අයිතිය පෞද්ගලික අංශය සතු වීම
- ලාභය අරමුණු කරගෙන නිෂ්පාදනය සිදු වීම
- ආදායම් අසමාන ලෙස බෙදී යාම

ධනවාදී අර්ථ ක්‍රමයන්හි දී වෙළෙඳ ප්‍රචාරණය මඟින් පාරිභෝගිකයන් තම නිෂ්පාදන වෙත රඳවා ගැනීමට වෙහෙසක් ගන්නා ආකාරයක් දැකිය හැකි ය. නමුත් වෙළෙඳපොළේ ඇති නිෂ්පාදන අතරින් තම අභිමතය පරිදි භාණ්ඩ මිල දී ගැනීමේ නිදහසක් පාරිභෝගිකයාට තිබේ.

ධනවාදී අර්ථ ක්‍රම පවතින රටවල්වලට උදාහරණ ලෙස ඇමරිකා එක්සත් ජනපදය, මහා බ්‍රිතාන්‍ය, ජපානය, ඕස්ට්‍රේලියාව වැනි රටවල් දැක්විය හැකි ය. කෙසේ වෙතත් ලෝකයේ පූර්ණ වශයෙන් ධනවාදී අර්ථ ක්‍රම දැකිය නොහැකි අතර යම් දේපළ රාජ්‍ය අංශය යටතේ ද පවතී.

### සමාජවාදී අර්ථ ක්‍රමය (Socialist economic system)

මූලික ආර්ථික ප්‍රශ්න විසඳීමෙහි ලා මධ්‍ය සැලසුම් මණ්ඩලයක් මඟින් ක්‍රියා කරන දේපළ, පොදු අයිතිය යටතේ පවතින ආර්ථික සංවිධාන ක්‍රමය සමාජවාදී අර්ථ ක්‍රමයක් ලෙස හැඳින්වේ. සමාජවාදී අර්ථ ක්‍රම සැලසුම්ගත අර්ථ ක්‍රම, රාජ්‍ය ව්‍යවසාය අර්ථ ක්‍රම ලෙස ද හඳුන්වනු ලැබේ.

එවැනි ආර්ථිකයක මූලික ලක්ෂණ කිහිපයක් පහත දක්වේ.

- දේපළ අයිතිය රජය සතු වීම
- මධ්‍ය සැලසුම් මණ්ඩලයක් මඟින් ආර්ථිකය මෙහෙයවීම
- මූලික ආර්ථික ප්‍රශ්න විසඳීමේ දී පොදු යහපත උදෙසා කටයුතු කිරීම

සමාජවාදී අර්ථ ක්‍රම පවතින බවට ප්‍රකාශ කෙරෙන රටවලට උදාහරණ ලෙස උතුරු කොරියාව හා කියුබාව දැක්විය හැකි ය. අද වන විට පැවති සමාජවාදී අර්ථ ක්‍රම වෙනස් වෙමින් පවතින ආකාරයක් දැකිය හැකි ය.

## මිශ්‍ර අර්ථ ක්‍රමය (Mixed economic system)

ධනවාදී හා සමාජවාදී අර්ථ ක්‍රම දෙකෙහි ම ලක්ෂණ ඇතුළත් අර්ථ ක්‍රම මිශ්‍ර අර්ථ ක්‍රම ලෙස හැඳින්වේ. ලෝකයේ බොහෝ රටවල දක්නට ඇත්තේ මිශ්‍ර අර්ථ ක්‍රම වේ. ශ්‍රී ලංකාව ද මිශ්‍ර අර්ථ ක්‍රමයක් සහිත රටක් ලෙස සැලකේ. මිශ්‍ර අර්ථ ක්‍රමයක ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- නිෂ්පාදන සාධකවල අයිතිය රාජ්‍ය හා පෞද්ගලික යන දෙ අංශය ම සතු වීම
- මූලික ආර්ථික ප්‍රශ්න විසඳීම සඳහා රජය හා පෞද්ගලික යන දෙ අංශය ම ක්‍රියා කිරීම
- වෙළෙඳ පොළ මත භාණ්ඩවල මිල තීරණය වුව ද රජය ඒ සඳහා මැදිහත් වීම
- පෞද්ගලික හා රාජ්‍ය ව්‍යවසාය යන අංශ දෙක ම දක්නට ලැබීම
- පොදු යහපත සඳහා සුබසාධන කටයුතු කිරීමට රජය මැදිහත් වීම

**ක්‍රියාකාරකම් 4.5**

- ධනවාදී අර්ථ ක්‍රමවල වාසි හා අවාසි පිළිබඳ සාකච්ඡා කරන්න.
- ශ්‍රී ලංකා ආර්ථිකය තුළ දැකිය හැකි මිශ්‍ර ආර්ථික ලක්ෂණ සාකච්ඡා කරන්න.
- එමඟින් ජනතාවට ලැබී ඇති වාසි සහ අවාසි පැහැදිලි කරන්න.

## වෙළෙඳපොළ ආර්ථික සංකල්පය

වෙළෙඳ පොළ ආර්ථිකය (Market Economy) ලෙස වර්තමානයේ ක්‍රියාත්මක වන ක්‍රමය නව ලිබරල්වාදී ආර්ථික ක්‍රමය ලෙස ද හැඳින්වේ. මේ යටතේ පෞද්ගලික අංශයට කළ හැකි දේ රජය විසින් ද නොකරන අතර, රජයේ අවම මැදිහත්වීමක් මඟින් වෙළෙඳ පොළ ක්‍රියාත්මක වීමට ඉඩ ලබා දේ.

සමාජවාදී අර්ථ ක්‍රම ලෙස පැවති රුසියාව, චීනය, පෝලන්තය වැනි රටවල් ක්‍රම ක්‍රමයෙන් වෙළෙඳ පොළ ආර්ථික සංකල්පය ක්‍රියාත්මක කරමින් සිටින බව වර්තමානයේ දක්නට ලැබේ.

වර්තමානයේ ක්‍රියාත්මක වන නව ලිබරල්වාදී වෙළෙඳ පොළ ආර්ථික ක්‍රමයක මූලික ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- රාජ්‍ය ව්‍යවසායන් පෞද්ගලීකරණය කිරීම
- වෙළෙඳ පොළ තත්ත්ව මත මිල තීරණය වීමට ඉඩ සැලසීම
- දේශීය හා විදේශීය පෞද්ගලික ආයෝජකයන් දිරි ගැන්වීම
- සහනාධාර හා මිල පාලන ක්‍රම ලිහිල් කිරීම
- පෞද්ගලික දේපළ අයිතියට ඉඩ දීම
- ආර්ථික කටයුතුවලට රාජ්‍ය අංශයේ මැදිහත්වීම සීමා වීම
- වෙළෙඳ පොළ බාධා, ආනයන අපනයන බදු ආදිය ඉවත් කිරීම
- පාලන නීති රීති, සීමා අවම කිරීම
- විනිමය අනුපාතික පාලනයකින් තොර ව නිදහසේ තීරණය වීමට ඉඩ සැලසීම

වෙළෙඳ පොළ ආර්ථික සංකල්පය තුළ අහිතකර ලක්ෂණ ද හඳුනාගත හැකි ය. ඒ අතර වෙළෙඳ පොළ ආර්ථිකය තුළ නිෂ්පාදන කිරීමේ දී වෙනත් පාර්ශ්වයන්ට වන බලපෑම ගැන නොසලකා හැරීමක් දක්නට ලැබේ. මෙය සෘණ බාහිරතා ලෙස හැඳින්වේ. උදා: කර්මාන්තශාලා පිහිටුවීමේ දී පරිසර දූෂණය, මහජන පීඩා ආදිය පිළිබඳ ව අවධානය යොමු නොවීම දැක්විය හැකි ය.

## වෙළෙඳ පොළ ආර්ථිකයන් හි විවිධ ස්වරූප

වෙළෙඳ පොළ අර්ථ ක්‍රමයන් ක්‍රියාත්මක වන රටවල් පිළිබඳ විමසා බැලීමේ දී ප්‍රධාන වශයෙන් ස්වරූප තුනක් දැකිය හැකි ය.

i. ධනවාදී වෙළෙඳ පොළ ලක්ෂණ වැඩි වශයෙන් දක්නට ලැබෙන වෙළෙඳ පොළ
උදා: ඇමරිකා එක්සත් ජනපදය, ඕස්ට්‍රේලියාව, සිංගප්පූරුව, දකුණු කොරියාව

ii. සමාජවාදී වෙළෙඳ පොළ ලක්ෂණ වැඩි වශයෙන් දක්නට ලැබීම
උදා: උතුරු කොරියාව, කියුබාව

iii. පරිවර්තන ආර්ථික හෙවත් වෙළෙඳ පොළ ආර්ථික ක්‍රම කරා ගමන් කරමින් සිටින අර්ථ ක්‍රමවල ඇති වෙළෙඳ පොළ

උදා: ආමේනියාව, අසබයිජාන්, බෙලාරස්, එස්ටෝනියාව, ජොර්ජියාව, කසකස්තානය, ලැට්වියාව, ලිතුවේනියාව, රුසියාව, යුක්රේනය, උස්බෙකිස්තානය වැනි සෝවියට් සමූහාණ්ඩුව අයත් ව තිබූ රටවල්

පරිවර්තන ආර්ථිකයන්හි මූලික ලක්ෂණ කිහිපයක් ද හඳුනාගත හැකි ය.




**ක්‍රියාකාරකම් 4.6**

- ශ්‍රී ලංකාව තුළ ද වෙළෙඳ පොළ ආර්ථිකයක මූලික ලක්ෂණ දක්නට ලැබේ ද? හේතු දක්වන්න.
- වෙළෙඳ පොළ ආර්ථික ක්‍රමයක් තුළ සිදුවිය හැකි වාසි හා අවාසි ලැයිස්තුගත කරන්න.

## ශ්‍රී ලංකාව කෙරෙහි ගෝලීයකරණයේ බලපෑම

ශ්‍රී ලංකාව දීර්ඝ ඉතිහාසයක් සහිත රටකි. අතීතයේ සිට වර්තමානය දක්වා පැවති අර්ථ ක්‍රම පරීක්ෂා කිරීමේ දී එහි විවිධ ස්වරූප දක්නට ලැබූ බව පැහැදිලි ය. රාජ්‍ය පාලනය කළ ආණ්ඩු මත එම ආර්ථික ප්‍රතිපත්ති ද වරින් වර වෙනස් වී තිබේ. 1948 අප ඉංග්‍රීසි පාලනයෙන් නිදහස ලබා ගැනීමෙන් පසු සමාජවාදී, ධනවාදී මෙන් ම මිශ්‍ර ආර්ථික ලක්ෂණ සහිත අර්ථ ක්‍රමයක් ක්‍රියාත්මක වූ බව දක්නට ලැබේ.

## ශ්‍රී ලංකාවේ වර්තමාන ආර්ථික ක්‍රමය හා සංවර්ධනය

ශ්‍රී ලංකාවේ වර්තමානයේ ක්‍රියාත්මක වන්නේ 1977 න් පසු හඳුන්වා දුන් විවෘත ආර්ථික ප්‍රතිපත්තිය මත ක්‍රියාත්මක වන වෙළෙඳ පොළ හිතකර අර්ථ ක්‍රමයක් වේ. 1977 ට පෙර සමාජවාදී ලක්ෂණ දක්නට තිබුණ ද අද වන විට එය වෙළෙඳ පොළ අර්ථ ක්‍රමයක් බවට පරිවර්තනය වී තිබේ.

1977න් පසු විවෘත ආර්ථික ප්‍රතිපත්තිය යටතේ පෞද්ගලික ව්‍යවසායන් දිරිගැන්වීම සඳහා විවිධ ක්‍රියාමාර්ග අර්ථ ක්‍රමයට හඳුන්වා දෙනු ලැබීය.

- පෞද්ගලික ආයෝජකයන්ට විවිධ බදු සහන ලබා දීම
- වෙළෙඳ බාධා (තීරු බදු වැනි) අඩු කිරීම
- වෙළෙඳ පොළට රජයේ මැදිහත්වීම අඩු කිරීම
- විදේශ ආයෝජන දිරි ගැන්වීම
- රාජ්‍ය දේපළ පෞද්ගලීකරණය කිරීම
- විනිමය අනුපාතිකය නිදහසේ තීරණ ගැනීමට ඉඩ හැරීම
- ආනයන අපනයන ආර්ථිකයක් හඳුන්වා දීම
- රාජ්‍ය ආයතන ද තරගකාරී වෙළෙඳ පොළට විවෘත කිරීම
- යටිතල පහසුකම් පුළුල් කිරීම
- නිදහස් වෙළෙඳ කලාප පිහිටුවීම

ශ්‍රී ලංකාව ද වෙළෙඳ පොළ අර්ථ ක්‍රමයක ලක්ෂණ පිළිබිඹු කරන බව අපි මීට පෙර ද පැවසීමු. එවැනි ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

**ශ්‍රී ලංකාවේ දක්නට ඇති වෙළෙඳ පොළ අර්ථ ක්‍රමයක ලක්ෂණ**

- පෞද්ගලික අංශය දිරි ගැන්වීම
- රජය ව්‍යවසාය කටයුතුවලින් ඈත්වීම
- රාජ්‍ය ව්‍යවසායන් පෞද්ගලීකරණය කිරීම
- විදේශ වෙළෙඳාම සම්බන්ධ බාධා ලිහිල් කිරීම
- රජය විනිමය පාලනයෙන් ඉවත් වීම
- රජය ව්‍යවසායකයන් දිරි ගන්වන්නකු ලෙස ක්‍රියා කිරීම
- රුපියලේ විදේශ අගය වෙළෙඳ පොළේ තීරණය වීමට ඉඩ හැරීම

## සංවර්ධනය හැඳින්වීම

අර්ථ ක්‍රමයක් තුළ විවිධ ආකාරයේ වර්ධන හෙවත් වැඩිවීම් දැකිය හැකි ය. ඇතැම් ඒවා සමාජයට හිතකර වුව ද ඇතැම් ඒවා අහිතකර වේ. උදාහරණ ලෙස ගත් විට අපරාධ වර්ධනය, අනතුරු වර්ධනය අහිතකර වර්ධනයන් ලෙස දැක්විය හැකි ය. ඒ අනුව සමාජයට හිතකර ආකාරයෙන් සිදුවන වර්ධන ආර්ථික විද්‍යාවේ ද සංවර්ධනය යන වචනයෙන් අදහස් වේ.

'ආර්ථික වර්ධනය' හා 'සංවර්ධනය' යනු එකක් ම නොවේ. ආර්ථික වර්ධනය යනු මූර්ත ජාතික නිෂ්පාදනයේ වසරින් වසර සිදුවන වැඩිවීමේ ප්‍රතිශතයයි. නමුත් සංවර්ධනය යනු ඊට වඩා පුළුල් වන අතර එයට ආර්ථික, දේශපාලන, සමාජීය, මානව යන සෑම අංශයක ම සමාජයට හිතකර වර්ධනයන් අදහස් වේ.

සංවර්ධනය පිළිබඳ ඉදිරිපත් ව ඇති නිර්වචන පහත දැක්වේ.

"ආර්ථික, දේශපාලන, සමාජ හා මානව යන අංශයන්ගෙන් දියුණුවීම හා දරිද්‍රතාව අවම වීමත් සමග තිරසර දියුණුව ඇති කිරීම සංවර්ධනයයි."

(එක්සත් ජාතීන්ගේ සංවර්ධන වාර්තාව, 2000)

"සංකීර්ණ සංස්කෘතික හා පාරිසරික සාධක ඒවායේ අන්තර් ක්‍රියාකාරීත්වය මත ඇතිවන ආර්ථික හා සමාජීය පරිණාමන ක්‍රියාවලිය සංවර්ධනයයි."

(www.business dictionary.com.2013.08.12)

මෑත කාලයේ වැඩිපුර සාකච්ඡාවට බඳුන් වී ඇත්තේ තිරසර සංවර්ධනය පිළිබඳවයි. සංවර්ධනය කරා යන ගමනේ දී ආර්ථිකය සතු සම්පත් අනාගත පරම්පරාව සඳහා සුරක්ෂිත කරමින් වර්තමාන අවශ්‍යතා ඉටු කර ගැනීම තිරසර සංවර්ධනය නම් වේ. මෙය ධරණීය සංවර්ධනය ලෙස ද හැඳින්වේ.

සංවර්ධනය යන්න නිශ්චිත ව අර්ථ දැක්වීම දුෂ්කර වේ. පුද්ගල හා සමාජ පූර්ණ සංවර්ධනයක් මෙම සංකල්පයෙන් අදහස් කෙරේ. එහි දී සලකා බැලිය යුතු අංශ කිහිපයක් දැක්විය හැකි ය.



ආර්ථිකයක් සංවර්ධනය වීමේ දී ආර්ථික සංවර්ධනය පමණක් නොව තවත් විවිධ අංශ ඒ සඳහා යොමු විය යුතු බව ඉහත කරුණුවලින් පැහැදිලි වේ. එහි දී වඩා වැදගත් වන්නේ තිරසර සංවර්ධනයයි. තිරසර සංවර්ධනයේ දී සැලකිය යුතු මූලික ප්‍රතිපත්ති කිහිපයක් සැච්ස් (Sachs, 2004) ද සඳහන් කර ඇත.

**තිරසර සංවර්ධනයේ දී සැලකිය යුතු කරුණු**

- මූලික අවශ්‍යතා තෘප්තිමත් කර ගැනීම
- අනාගත පරම්පරාවත් සමග ඒකමතික වීම
- ජනතා සහභාගීත්වය ඇති කර ගැනීම
- ස්වාභාවික සම්පත් සංරක්ෂණය
- පරිසරය ආරක්ෂා කර ගැනීම
- සමාජ සුරක්ෂිතභාවය
- අන්‍ය සංස්කෘතීන්ට ගරු කිරීම

**ක්‍රියාකාරකම් 4.7**

- තිරසර සංවර්ධනයේ දී සැලකිය යුතු කරුණු ලැයිස්තුගත කරන්න.
- තිරසර සංවර්ධනයේ ඇති වැදගත්කම විස්තර කරන්න.

සංවර්ධනය පිළිබඳ ව එක්සත් ජාතීන්ගේ සංවිධානය 2000 දී පැවැත්වූ සහස්‍රක සමුළුවේ දී සහස්‍රක සංවර්ධන ඉලක්ක 8ක් සම්මත කර ගන්නා ලදී. ඒවා නම්,

1. දුප්පත්කම හා සාගින්න තුරන් කිරීම
2. පොදු ප්‍රාථමික අධ්‍යාපනයක් ළඟා කර ගැනීම
3. ස්ත්‍රී පුරුෂ සමානාත්මතාව හා කාන්තාව බලවන්ත කිරීම
4. ළදරු මරණ අනුපාතිකය අඩු කිරීම
5. මානසික සෞඛ්‍ය වර්ධනය
6. ඒඩ්ස්, මැලේරියා වැනි රෝග මර්ධනය කිරීම
7. පාරිසරික තිරසර බව සුරක්ෂිත කිරීම
8. සංවර්ධනය සඳහා ගෝලීය සම්බන්ධතාවක් ඇති කිරීම

ඉහත ඉලක්ක ඉටු කර ගැනීම තුළින් සංවර්ධනය කරා ගමන් කිරීම ශ්‍රී ලංකාව ද ප්‍රතිපත්තියක් ලෙස පිළිගෙන තිබේ. අධ්‍යාපනය තුළින් ශ්‍රී ලංකාව ආසියාවේ දැනුම් කේන්ද්‍රස්ථානය බවට පත් කිරීම වර්තමානයේ ප්‍රතිපත්තියක් ලෙස පිළිගෙන තිබේ.

## වර්තමාන ශ්‍රී ලංකා ආර්ථිකයේ නව සංවර්ධන ප්‍රවණතා

ශ්‍රී ලංකාව අතීතයේ දී යැපුම් කෘෂි ආර්ථිකය මත පදනම් වූ බව අපි දනිමු. නමුත් ශ්‍රී ලංකාව ඉංග්‍රීසි පාලනයට නතු වීමත් සමග ක්‍රමයෙන් වැවිලි භෝග මත පදනම් වූ ආනයන අපනයන ආර්ථිකයක් බවට පරිවර්තනය විය. 1977ට පෙර කෘෂිකාර්මික, කාර්මික හා සේවා අංශවල රාජ්‍ය අංශයේ කැපී පෙනෙන දායකත්වයක් දක්නට ලැබිණි. දේශීය සම්පත් උපයෝගී කරගෙන ආනයන ආදේශන කර්මාන්ත ඇති කිරීම කෙරෙහි ද උත්සාහයන් ගනු ලැබිණ.

ශ්‍රී ලංකාවේ නව සංවර්ධන ප්‍රවණතා විමසා බැලීමේ දී නිදහසින් පසු ඇති වූ වෙනස්කම් ප්‍රධාන අවධි කිහිපයකට බෙදා දැක්විය හැකි ය. ඒ ඒ යුගයන් හි දක්නට ලැබූ විශේෂ ලක්ෂණ පහත වගුවෙන් දැක්වේ.

| අවධිය | විශේෂ ලක්ෂණ |
|---|---|
| 1948-1960 | • ආනයන අපනයන මත පදනම් වූ ආර්ථික ක්‍රමයක් පැවතීම<br>• රාජ්‍ය හා පෞද්ගලික යන අංශ දෙක ම ආර්ථික ක්‍රියාවලියට සම්බන්ධ වීම<br>• වැවිලි කර්මාන්තයට මූලිකත්වය ලබා දීම<br>• දේශීය යැපුම් කෘෂි අංශය දිරි ගැන්වීම<br>• පෞද්ගලික ව්‍යවසායන් ජනසතු කිරීම (1956 න් පසු)<br>• පාරිභෝගික සහනාධාර ලබා දීම |
| 1961-1970 | • අර්ධ විවෘත ස්වරූපයක් ගැනීම<br>• විනිමය නීති ලිහිල් කිරීම<br>• පෞද්ගලික ව්‍යවසායකයන්ට ඉඩ ප්‍රස්තා ලබා දීම<br>• ආහාර සහනාධාර අඩු කිරීම |
| 1970-1977 | • ආවෘත නැඹුරු ආර්ථිකයක් බවට පත්වීම<br>• ආනයන ආදේශ කර්මාන්ත ඇරඹීම<br>• ආනයන සඳහා සීමා පැනවීම<br>• අත්‍යවශ්‍ය ආහාර බෙදා හැරීම සඳහා නව නීති පැනවීම<br>• සලාක ක්‍රමයක් ක්‍රියාත්මක වීම<br>• පෞද්ගලික ඉඩම් අයිතිය සීමා කිරීම<br>• දේශීය යැපුම් කෘෂි අංශය දිරි ගැන්වීම<br>• විනිමය පාලන නීති දැඩි කිරීම<br>• සංවර්ධනය වැඩි වශයෙන් දේශීය සම්පත් මත රඳා පැවතීම |

| | |
|---|---|
| 1978-1993 | • විවෘත ආර්ථික ප්‍රතිපත්ති හඳුන්වා දීම<br>• ආනයන අපනයන සීමා ලිහිල් කිරීම<br>• විදේශ ආයෝජකයන්ට බදු සහන ලබා දීම<br>• අපනයන මූලික කර්මාන්ත ඇරඹීම<br>• ආහාර සහනාධාර සීමා කිරීම<br>• කාර්මික අංශයට වැඩි සැලකිල්ලක් දැක්වීම<br>• නිදහස් ආයෝජන කලාප ඇති කිරීම<br>• අඩු ආදායම්ලාභීන් සඳහා විවිධ සුබසාධන වැඩ සටහන් ක්‍රියාත්මක කිරීම<br>• අධ්‍යාපනය සඳහා නිල ඇඳුම්, පෙළපොත්, දිවා ආහාර නොමිලේ ලබා දීම<br>• පාඩු ලබන රාජ්‍ය ආයතන පෞද්ගලීකරණය කිරීම |
| 1994-2004 | • විවෘත ආර්ථික ප්‍රතිපත්ති තවදුරටත් ක්‍රියාත්මක කිරීම<br>• පෞද්ගලික ව්‍යවසායන්ට බදු සහන ලබා දීම<br>• යම් රාජ්‍ය ව්‍යවසායන් පෞද්ගලීකරණය<br>• යටිතල පහසුකම් සැපයීම සඳහා පෞද්ගලික අංශය දායක කර ගැනීම<br>• රාජ්‍ය ආයතන ප්‍රතිව්‍යුහගත කිරීම<br>• ප්‍රතිපත්ති සම්පාදනයේ දී ජාත්‍යන්තර උපදෙස් ලබා ගැනීම |

2004 වර්ෂයෙන් පසුව ද විවෘත ආර්ථික ප්‍රතිපත්ති ක්‍රියාත්මක වීමක් දක්නට ලැබේ. එසේ වුව ද දේශීය කෘෂි අංශය හා ආයෝජන කෙරෙහි අවධානය යොමු වීමක් ද තිබේ. මෙම අවධියේ දක්නට ලැබෙන විශේෂ ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.



කොළඹ වරාය



අධිවේගී මාර්ග

4.11 රූපය

- රාජ්‍ය ආයතන පෞද්ගලීකරණය කිරීම අත්හිටුවීම.
- පෞද්ගලීකරණය කළ රාජ්‍ය ආයතන නැවත රජයට පවරා ගැනීම.
  උදා: ශ්‍රී ලන්කන් ගුවන් සේවය, සෙවණගල සීනි සමාගම, කඩදාසි කම්හල, ෂෙල් ගෑස් සමාගම (වර්තමාන ලිට්‍රෝ)
- දේශීය කෘෂි ආර්ථිකය දියුණු කරීමට කටයුතු කිරීම. උදා: පොහොර සහනාධාරය, අපි වවමු රට නගමු වැඩ සටහන.
- යටිතල පහසුකම් සංවර්ධනය කිරීම. උදා: අධිවේග මාර්ග ඉදි කිරීම, වරාය, ගුවන් තොටුපළ පිහිටුවීම, කොළඹ වරාය ප්‍රතිසංස්කරණය, විදුලි බලාගාර පිහිටුවීම.

- ආර්ථික සංවර්ධනය සඳහා විවිධ ව්‍යාපෘති දියත් කිරීම. උදා : දිවි නැගුම, මග නැගුම, ගම නැගුම, නගර අලංකරණය, මාර්ග සංවර්ධනය
- නාගරික සංවර්ධනය වේගවත් කිරීම
- අඩු ආදායම්ලාභී ජනතාවගේ ජීවන තත්ත්වය උසස් කිරීම. උදා: සමෘද්ධි වැඩ සටහන, ස්වයං රැකියා නියුක්තිකයන් දිරි ගැන්වීම, ගෙවතු වගා වැඩ සටහන
- තොරතුරු තාක්ෂණය ප්‍රචලිත කිරීම. උදා: නැණසල වැඩසටහන, විද්‍යාතා සම්පත් මධ්‍යස්ථාන
- අධ්‍යාපන ක්ෂේත්‍රයේ නව වෙනස්කම් සිදු කිරීම. උදා: තාක්ෂණ විෂයධාරා උසස් පෙළට හඳුන්වා දීම, වෘත්තීය හා තාක්ෂණ විශ්වවිද්‍යාලය පිහිටුවීම, පාසල් දහසේ වැඩසටහන, තාක්ෂණ විද්‍යාගාර පිහිටුවීම.

දැනට සිදුවෙමින් පවතින සංවර්ධන ක්‍රියා නිසා ශ්‍රී ලංකාවට අත්වන වාසි කිහිපයක් පහත සඳහන් වේ .

| වාසි |
|---|
| • සේවා නියුක්තිය ඉහළ යාම<br>• විදේශ විනිමය ඉපයුම් ඉහළ යාම<br>• ජනතාවගේ ජීවන මට්ටම උසස් වීම<br>• ප්‍රාදේශීය සංවර්ධනය වේගවත් වීම<br>• ඉහළ ආර්ථික වර්ධනයක් පවත්වා ගැනීම<br>• ලෝක අර්බුදවලට මුහුණ දීමට හැකි වීම<br>• යටිතල පහසුකම් වර්ධනය වීම<br>• නව රැකියා වෙළෙඳපොළ පුළුල් වීම<br>• ජාත්‍යන්තරය තුළ කැපී පෙනෙන තත්ත්වයක් ලබා ගැනීම<br>• සාමය පවත්වා ගැනීමට හැකි වීම |

**ක්‍රියාකාරකම් 4.8**

1. ශ්‍රී ලංකාවේ සංවර්ධනය සඳහා සිදුවන විවිධ ක්‍රියාකාරකම් ලැයිස්තුගත කරන්න.
2. එම ව්‍යාපෘති තුළින් ශ්‍රී ලංකාවට ලැබෙන වාසි නිදසුන් දක්වමින් පැහැදිලි කරන්න.

ශ්‍රී ලංකාවේ සමෘද්ධිලාභී පවුල් සංඛ්‍යාව ක්‍රමයෙන් අඩුවීම

| වර්ෂය | 2005 | 2006 | 2007 | 2008 | 2009 | 2010 | 2011 | 2012 |
|---|---|---|---|---|---|---|---|---|
| පවුල් සංඛ්‍යාව | 1960664 | 1916594 | 1844660 | 1631133 | 1600786 | 1572129 | 1541619 | 1515613 |

ශ්‍රී ලංකාවේ සංවර්ධනය පිළිබඳ දර්ශක කිහිපයක්

| දර්ශකය | 2009 | 2010 | 2011 | 2012 |
|---|---|---|---|---|
| ළදරු මරණ අනුපාතිකය | 10.0 | 8.5 | 8.5 | 9.4 |
| උපත් අනුපාතිකය | 18.4 | 17.6 | 17.6 | 17.4 |
| සාක්ෂරතාව | 91.3 | 91.4 | 91.9 | 92.2 |
| ප්‍රාථමික අධ්‍යාපනයට ඇතුළත්වීමේ ප්‍රතිශතය | 102 | 91 | 97 | 92 |
| මානව සංවර්ධන දර්ශකයට අනුව ශ්‍රී ලංකාවට හිමි තැන | 102 | 91 | 97 | 92 |

**ක්‍රියාකාරකම් 4.9**

- ඉහත දර්ශකයන්ට අමතර ව ශ්‍රී ලංකාවට වැදගත්වන වෙනත් දර්ශක ශ්‍රී ලංකා මහ බැංකු වාර්තා ඇසුරින් සකස් කරන්න.
- මෙම දර්ශක අනුව ශ්‍රී ලංකාවේ සංවර්ධනය පිළිබඳ ව කෙටි වාර්තාවක් පිළියෙල කරන්න.

## තාක්ෂණික දියුණුව හා ගෝලීයකරණය ලෝක ආර්ථිකය හා ශ්‍රී ලංකා ආර්ථිකය කෙරෙහි ඇති කරන බලපෑම

### තාක්ෂණික දියුණුව හා ගෝලීයකරණය

හුදෙකලාව ජීවත් වූ මිනිසා සමූහයක් ලෙස ජීවත්වීමට පටන් ගැනීමත් සමග විවිධ සොයා ගැනීම් සඳහා ද යොමු විය. යුරෝපයේ ඇතිවූ නව කාර්මික පුනරුදයත් සමග නව තාක්ෂණය ද ක්‍රමයෙන් දියුණු විය. අද වන විට මෙම විද්‍යාව හා තාක්ෂණය පදනම් කර ගෙන ලෝකයේ සෑම අංශයක් ම එකට සම්බන්ධ වී තිබේ. එය විශ්ව ගම්මානය හෙවත් ගෝලීයකරණය (Globalization) ලෙසින් ද හඳුන්වනු ලැබේ.




4.12 රූපය - නවීන සන්නිවේදන උපකරණ කිහිපයක්

නවීන තාක්ෂණයත් සමග නිර්මාණය වී ඇති නිෂ්පාදන කිහිපයක් ඉහත රූපසටහනින් දැක්වේ. මෙම තාක්ෂණ උපකරණ කර්මාන්ත, සන්නිවේදනය, වෙළෙඳාම, අධ්‍යාපනය, සෞඛ්‍ය, ප්‍රවාහන වැනි සෑම අංශයක් දක්වා ම විහිදී ඇති බව ද කිව හැකි ය.

ලෝකයේ ඇතිවන සන්නිවේදන තාක්ෂණයේ දියුණුවත් සමගම මුළු ලෝකයේ ම රටවල් එකිනෙකට සමීප වී තිබේ. ලොව කොතනක වුව ද සිදුවන සිදුවීමක් අපට ක්ෂණයකින් ම දැනගත හැකි වන්නේ එබැවිනි. තාක්ෂණයත් සමග ලෝකය සමීප වීම ගෝලීයකරණය ලෙසින් ව්‍යවහාර කරනු ලැබේ.

ආර්ථික, දේශපාලන හා සංස්කෘතික ක්‍රියාකාරීත්වයන් තුළ සිදුවන අන්‍යෝන්‍ය සම්බන්ධතාව ගෝලීයකරණය නම් වේ. ලෝක ආර්ථිකය එක ඒකකයක් බවට පත්වීම ද ගෝලීයකරණය ලෙස දැක්විය හැකි ය. ලෝක ආර්ථිකයේ එක් රටක සිදුවන ආර්ථික වෙනස්කම් නිසා අනෙකුත් රටවලට බලපෑම් එල්ලවනුයේ එබැවිනි.

ගෝලීයකරණය තුළ දක්නට ලැබෙන විශේෂ ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- වැඩ ලෝකය පුළුල් වීම
- ගෝලීය වෙළෙඳ පොළ පුළුල් වීම
- ලෝකයේ ඕනෑම රටක ජීවත්වීමට හැකිවීම
- තම දක්ෂතා හා හැකියා අනුව වෙනත් රටක සේවය කිරීමට හැකිවීම
- අඩු මිලට ශ්‍රමය ලබා ගත හැකි රටවලට කර්මාන්ත සංක්‍රමණය වීම

ගෝලීයකරණය ව්‍යාප්තවීමට ආර්ථික හේතු මෙන් ම දේශපාලන, සමාජීය හා සංස්කෘතික හේතු ද බලපායි. මෙම සංකල්පය දියුණු රටවල් වෙනත් රටවලට දේශපාලන බලපෑම් කිරීමට යොදා ගනී. උදා: වෙළෙඳ පොළ පාලනය, සම්බාධක පැනවීම ආදිය වේ. විවිධ සංස්කෘතික සම්මිශ්‍රණයක් සිදුවීම ද ගෝලීයකරණය නිසා සිදුවේ. එසේ ම ලෝක බලවතුන් ලෝක වෙළෙඳ පොළ තුළ තම ආධිපත්‍යය පවත්වා ගැනීමට කටයුතු කිරීමට ද ගෝලීයකරණය යොදාගෙන තිබේ. සංවර්ධනය වන රටවල් සඳහා නව යටත් විජිතවාදය පැතිරවීම වැනි ලක්ෂණ ද ගෝලීයකරණය නිසා සිදුවිය හැකි ය.

**ක්‍රියාකාරකම 4.10**

- ගෝලීයකරණය පිළිබඳ ව තොරතුරු රැස් කරන්න.

## ගෝලීයකරණය ලෝක ආර්ථිකයට කරන බලපෑම්

ගෝලීයකරණය තුළ ජාත්‍යන්තර වෙළෙඳාම විවිධ වෙනස්වීම්වලට ලක්ව තිබේ. ලෝකය ම එක ම භාෂාවක් කථා කරන, එක ම මුදල් ඒකකයක් භාවිත කරන, තනි ජාතියක් බවට පත් විය යුතු බව යුරෝපා සංගමයේ අදහසයි. යුරෝපා සංගමය තම කලාපය තුළ යූරෝ නමින් පොදු මුදල් ඒකකයක් පවත්වා ගැනීමට කටයුතු කර තිබීම මීට නිදසුනකි.

ගෝලීයකරණය තුළ ලොව ම තනි ආර්ථික ඒකකයක් බවට පත් කිරීම ලෝක බලවතුන්ගේ උත්සාහය බව මීට ඉහත දී සඳහන් කළෙමු. එයට සහාය වීම සඳහා ලෝක බැංකුව, ජාත්‍යන්තර මූල්‍ය අරමුදල, එක්සත් ජාතීන්ගේ සංවිධානය, ආසියානු සංවර්ධන බැංකුව, ලෝක වෙළෙඳ සංවිධානය වැනි විවිධ ආයතන පිහිටුවා ගෙන තිබේ. එම ආයතන තුළින් අනෙකුත් රටවලට ඍජුව හා වක්‍රව බලපෑම් කරන ආකාරයක් ද දැකිය හැකි ය.

ගෝලීයකරණය නිසා ලෝක ආර්ථික තුළ දක්නට ඇති ලක්ෂණ



මෙවැනි බලපෑම් තුළින් ලෝක බලවතුන් තම ලාභ උපරිම කර ගැනීම මෙන් ම දේශපාලන ස්ථාවරත්වය ඇති කර ගැනීම ද අපේක්ෂා කරනු ලැබේ.

ගෝලීයකරණයට මුහුණ දීමට විවිධ රටවල් එකතු වී විවිධ සංවිධාන බිහි කර ගැනීමේ ප්‍රවණතාවක් වර්තමානයේ දක්නට ලැබේ. එවැනි සංවිධාන කිහිපයක් හා ඒවායේ අරමුණු පහත වගුවෙන් දැක්වේ.

| සංවිධානය | සාමාජික රටවල් | අරමුණු |
|---|---|---|
| යුරෝපා සංගමය (EU) | ඔස්ට්‍රියාව, ප්‍රංශය, ඩෙන්මාර්කය, බෙල්ජියම, ජර්මනිය, පින්ලන්තය, ග්‍රීසිය, අයර්ලන්තය, ඉතාලිය, නෙදර්ලන්තය, ලක්සම්බර්ග්, පෘතුගාලය, ස්පාඤ්ඤය, ස්වීඩනය, බ්‍රිතාන්‍යය ඇතුළු රටවල් 28ක් | • මූල්‍ය ගනුදෙනු වඩා ක්‍රමවත් කිරීම<br>• නිර්බාධ වෙළෙඳාම ව්‍යාප්ත කිරීම |
| උතුරු ඇමෙරිකානු නිදහස් වෙළෙඳ ගිවිසුම (NAFTA) | ඇමෙරිකා එක්සත් ජනපදය, කැනඩාව, මෙක්සිකෝව | • නිදහස් වෙළෙඳාම |
| දකුණු ආසියානු වරණාත්මක වෙළෙඳ ගිවිසුම (SAPTA) | ශ්‍රී ලංකාව, ඉන්දියාව, පකිස්ථානය, බංගලාදේශය, භූතානය, නේපාලය, මාලදිවයින | • කලාපීය වෙළෙඳාම පුළුල් කිරීම |
| බහු ආංශික, තාක්ෂණික හා ආර්ථික සහයෝගීතාව පිළිබඳ බෙංගාල බොක්ක ආශ්‍රිත රටවල සංවිධානය (BIMSTEC) | බංගලාදේශය, ඉන්දියාව, මියන්මාරය, තායිලන්තය, ශ්‍රී ලංකාව, නේපාලය, භූතානය | • රෙදිපිළි, ඇඟලුම්, ඖෂධ හා තොරතුරු තාක්ෂණය ආදි ක්ෂේත්‍රවල ආයෝජන පුළුල් කිරීම<br>• රාජ්‍ය හා රාජ්‍ය නොවන සංවිධාන දිරි ගැන්වීම<br>• තාක්ෂණික හුවමාරුව<br>• කලාපීය සහයෝගිතාව ඇති කිරීම |

මීට අමතර ව ලෝක ආර්ථික කණ්ඩායම් බිහිවීම ද ගෝලීයකරණය නිසා සිදුව ඇත. උදා: G7, G77, G24, G15 වැනි සංවිධාන බිහිවීම. ලෝක ආර්ථික ගැටලු නිරාකරණය කර ගැනීම සඳහා සාමූහික ව කටයුතු කිරීම, දියුණු රටවලින් එල්ලවන ආර්ථික බලපෑම්වලට සාමූහික ව මුහුණ දීම මෙම ජාත්‍යන්තර ආර්ථික කණ්ඩායම් පිහිටුවා ගැනීමේ මූලික අරමුණ වී තිබේ.

**ක්‍රියාකාරකම 4.11**

- ඔබ දන්නා තවත් එවැනි ලෝක සංවිධාන හෝ ගිවිසුම් පිළිබඳ තොරතුරු රැස් කර පොත් පිංචක් පිළියෙල කරන්න.

## ගෝලීයකරණය ශ්‍රී ලංකාවට කරන බලපෑම්

ගෝලීයකරණයෙන් මිදීමට ශ්‍රී ලංකාවට ද නොහැකි වී තිබේ. ගෝලීයකරණය නිසා සිදුවන බලපෑම් අපට ද භුක්ති විඳීමට සිදු වේ. 1977න් පසු ක්‍රියාත්මක වන විවෘත ආර්ථික ප්‍රතිපත්තිය නිසා ගෝලීයකරණයේ බලපෑම් වැඩි වැඩියෙන් දැනෙන්නට පටන් ගෙන තිබේ. නිෂ්පාදනය හා වෙළෙඳාම ලෝක වෙළෙඳ පොළට විවෘත වීම එයට හේතුවයි.

ගෝලීයකරණය නිසා ශ්‍රී ලංකාවට ඇතිවී තිබෙන ධනාත්මක හා ඍණාත්මක බලපෑම් කිහිපයක් පහත දැක්වේ.

### ධනාත්මක බලපෑම්

1. විදේශ ආයෝජන හා නවීන තාක්ෂණය ගලා ඒම
2. වැඩලෝකය තුළ නව රැකියා අවස්ථා නිර්මාණය වීම නිසා සේවා වියුක්තිය අඩු වීම
3. දේශීය නිෂ්පාදන සාධකවලට වැඩි ඉල්ලුමක් ඇතිවීම
4. කාර්මික හා සේවා අංශවල ප්‍රගතියක් ඇතිවීම
5. ජාත්‍යන්තර වෙළඳ පොළ පදනම් කරගත් දේශීය නිෂ්පාදන බිහි වීම
6. ගෙවුම් ශේෂ තත්ත්වය යහපත් වීම
7. ආර්ථිකය විවිධාංගීකරණය වීම
8. ගුණාත්මක බවින් ඉහළ නිෂ්පාදන බිහිවීම (නිෂ්පාදනයේ කාර්යක්ෂමතාව හා භාණ්ඩවල ගුණාත්මකභාවය ඉහළ යාම)
9. විදේශීය විශේෂඥ දැනුම මෙරටට ගලා ඒම නිසා දේශීය මානව සම්පත දියුණු වීම
10. නිෂ්පාදන සඳහා අවශ්‍ය යටිතල පහසුකම් පුළුල් වීම
11. දේශීය සම්පත්වලින් උපරිම ප්‍රයෝජන ලබාගත හැකිවීම
12. මහා පරිමාණ කර්මාන්ත නගරයෙන් බැහැර ව ස්ථානගත වීම නිසා ප්‍රාදේශීය සංවර්ධනයක් සිදුවීම
13. විවිධ කලාපීය සංවිධාන හා එකතුවීමට හැකිවීම
14. අකාර්යක්ෂම කර්මාන්ත වෙළෙඳ පොළෙන් ඉවත් වීම
15. දේශීය පාරිභෝගිකයාට ඉහළ ගුණාත්මක තත්ත්වයෙන් යුතු භාණ්ඩ ලබා ගැනීමට ඉඩ සැලසීම

## ඍණාත්මක බලපෑම්

1. බහුජාතික නිෂ්පාදන සමඟ දේශීය නිෂ්පාදනයන්ට තරඟ කිරීමට නොහැකි වීම
2. කාර්මික ආයතනවලින් සිදුවන පාරිසරික හානි ඉහළ යාම
3. විදේශ විනිමය ලාභාංශ, පොළී හා ණය වාරික ලෙසින් විදේශවලට ඇදී යාම
4. බුද්ධි ගලනය වේගවත් වීම
5. සංවර්ධිත රටවලින් සිදුවන බලපෑම් ඉහළ යාම
6. දේශීය සංස්කෘතියට විවිධ බලපෑම් එල්ල වීම
7. නොගැළපෙන ආර්ථික හා පාරිභෝජන රටා රට තුළ ප්‍රචලිත වීම
8. විදේශ ණය හා ආධාර මත යැපීමට සිදුවීම
9. ලෝක ආර්ථිකයේ වෙනස්කම්වලට ඍජුව ම මුහුණ දීම
10. රාජ්‍ය අංශය ආර්ථික කටයුතුවලින් ඈත්වීම නිසා මහජන සුබසාධනය සම්බන්ධ ගැටලු මතුවීම
11. විදේශ ණය ලබා ගැනීමේ දී කොන්දේසිවලට යටත්වීමට සිදුවීම
12. මිල පාලනය වැනි ආරක්ෂණවාදී උපක්‍රමවලින් ඈත්වීම නිසා දිළිඳු ජනතාව පීඩාවට පත්වීම
13. දේශීය සම්පත් සූරා කෑමට ලක්වීම
14. දේශීය යැපුම් ආර්ථික රටාව විනාශ වීම
15. දේශීය ළදරු කර්මාන්ත විනාශ වී යාම

ගෝලීයකරණය වේගයෙන් ව්‍යාප්ත වීම නිසා එහි වාසිවලට මෙන් ම අවාසිවලට ද මුහුණ දීමට සිදුවන බව පැහැදිලි ය. ජනතාව දැනුවත් කිරීම තුළින් අවාසිදායක බලපෑම් අවම කර ගැනීමට හැකිවනු ඇත.

**ක්‍රියාකාරකම් 4.12**

1. ගෝලීයකරණය හේතුවෙන් ශ්‍රී ලංකාවේ සිදුව ඇතැයි සැලකෙන වෙනස්වීම් මොනවා ද?
2. ගෝලීයකරණයෙන් සිදුවන ඍණාත්මක බලපෑම් අවම කිරීමට ශ්‍රී ලංකාව අනුගමනය කරන ක්‍රමවේද මොනවාද?
3. ඒ සඳහා ගත හැකි වෙනත් ක්‍රියාමාර්ග යෝජනා කරන්න.
4. "බහු සංස්කෘතික සමාජයක යහපැවැත්ම සඳහා ගෝලීයකරණයේ බලපෑම" ඉහත මාතෘකාව සඳහා බිත්ති පුවත්පතකට ලිපියක් සකස් කරන්න.

# 05 ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක ගැටුම් නිරාකරණය

එදිනෙදා ව්‍යවහාරය තුළ නිරන්තරයෙන් කියවෙන, ඇසෙන පදයක් ලෙස ගැටුම හැඳින්විය හැකි ය. සෑම සමාජයක ම මෙය දක්නට ලැබේ. මෙය විවිධත්වයේ ප්‍රතිඵලයකි. මිනිසුන් තුළ පවත්නා විවිධත්වය ගැටුම තුළින් පිළිබිඹු වේ. පුද්ගල අරමුණු, අභිලාෂයන්, අවශ්‍යතාවන්ගේ විවිධත්වය මත ගැටුම් නිර්මාණය වේ. මෙම විවිධත්වය භාෂාව, කුලය, ආගම, ප්‍රදේශ ආදිය මුල්කරගෙන ඇති වේ. එම විවිධත්වයේ ප්‍රතිඵල ලෙස පුද්ගලයින් තුළ, පුද්ගලයින් අතර, පුද්ගලයින් හා රාජ්‍ය අතර, රාජ්‍ය හා රාජ්‍ය අතර ගැටුම් නිර්මාණය වේ.

ගැටුම මගින් විනාශකාරී ලක්ෂණ මෙන් ම සාධනීය ලක්ෂණ ද දක්නට ලැබේ. සමාජ සංවර්ධන ක්‍රියාවලිය තුළ සාධනීය හා නිර්මාණාත්මක වැඩ කොටසක් ඉටු කරන බලවේගයක් ලෙස ද ගැටුම පෙන්වා දිය හැකි ය. නිදසුනක් ලෙස නොවිසඳී ඇති ප්‍රශ්නයක් හෝ ප්‍රශ්න මාලාවක් වෙනත් ආකාරයකින් ප්‍රකාශයට පත් කිරීමක් මෙ මගින් සිදු වේ.

## ගැටුමට මුල්වන පුද්ගල මනස

පුද්ගල මනස තුළ ඇතිවන යම් නොරිස්සුම්කාරී තත්ත්වයන් මගින් ගැටුමක මූලාරම්භය සිදු වේ. එහි ප්‍රතිඵල ලෙස අසහනය, ආතතිය, ක්ෂණික කෝපය, නොරුස්නාකම, ප්‍රචණ්ඩ වචන භාවිතය, කලහකාරී හැසිරීම, කායික පහරදීම ආදි අසාමාන්‍ය චර්යා කෙරෙහි යොමු වේ. මෙකී ගැටුම්කාරී මානසික තත්ත්වයන් සමනය කර නොගෙන දිගින් දිගට ම පැවතුනහොත් අවසානයේ මානසික රෝගී තත්ත්වයන් කරා වුව ද ගොදුරු විය හැකි ය.

මෙවැනි ගැටුම්කාරී චර්යා සහිත පුද්ගලයින් නිසා පවුල තුළ මෙන් ම, පවුල් අතර, සමාජය තුළ ද ආයතන තුළ ද නිරතුරු ව ගැටුම්කාරී තත්ත්වයන් නිර්මාණය වේ. එය පුද්ගලයාට මෙන් ම සමාජයට ද හානිදායක බැවින් ඒ සඳහා ආරම්භක අවස්ථාවේ දී ම පිළියම් යෙදීම වැදගත් වේ. මේ අනුව ගැටුම ඇතිවීමට පුද්ගල මනස මුල්වන බැවින් මානසික සාමය ඇති කිරීම මගින් ගැටුම්කාරී ස්වභාවය අවම කිරීම හෝ ඉවත් කිරීම කළ හැකි ය.

**මනසේ සාමය ඇති කර ගැනීම සඳහා යොමු විය හැකි අංශ**

- ආගමික වතාවත් කෙරෙහි යොමු වීම
- මනෝ විද්‍යාත්මක අභ්‍යාස මගින්
- උපදේශනය මගින්
- ස්වාභාවික පරිසරය නිරීක්ෂණය මගින්

## ගැටුම ඇතිවීමට බලපාන මූලික හේතු

ගැටුම් පිළිබඳ ව අධ්‍යයනය කිරීමේ දී යොදා ගනු ලබන ජොහාන් ගැල්ටුන් විසින් ඉදිරිපත් කරන ලද ත්‍රිකෝණ අරගල ගැටුම් ආකෘතිය වැදගත් වේ.




මෙහි සන්දර්භය යනු ගැටුමට පසුබිම් වන තත්ත්වයයි. ඒ යටතේ පාර්ශ්වකරුවන්ගේ අභිලාෂයන් මත හටගත් සම්බන්ධතා මත ගැටුම් ඇති වේ. මේ අනුව සන්දර්භය මඟින් ගැටුමට මුල්වන සමාජ, ආර්ථික, දේශපාලන වාතාවරණය පැහැදිලි කරයි.

ආකල්ප යනු ගැටුම නිර්මාණය වීමට බලපාන මනෝ විද්‍යාත්මක සාධක වේ. නොඑසේනම් පාර්ශ්වකරුවන් ඇති කරගන්නා අසත්‍ය හෝ වැරදි අවබෝධයයි. ප්‍රචණ්ඩකාරී ගැටුම් ඇතිවන්නේ පාර්ශ්වකරුවන් ඇති කරගන්නා වැරදි අවබෝධය හේතුවෙනි. ඒ තුළ බිය, සැකය, අපේක්ෂාභංගත්වය, වෛරය වැනි මානසික තත්ත්වයන් නිර්මාණය වේ. එහි ප්‍රතිඵල ලෙස සතුරු ආකල්ප ඇති වී ගැටුම් නිර්මාණය වේ.

ගැටුම් හා සම්බන්ධ චර්යාව විවිධාකාර වේ. එය සහයෝගීකාරී හෝ බලහත්කාරී විය හැකි ය. මෙම බලහත්කාරී චර්යාව ප්‍රචණ්ඩකාරී හෝ විනාශකාරී විය හැකි ය.

## ගැටුම් ඇතිවන පාර්ශ්ව






**ක්‍රියාකාරකම් 5.1**

- ඔබ මුහුණ දුන් ගැටුම් අවස්ථාවක් සිහිපත් කරන්න.
- එම ගැටුමට මුල් වූ හේතු මොනවා ද?
- ඉන් ඔබට ලැබුණු අයහපත් ප්‍රතිඵල මොනවා ද?
- එම ගැටුම් අවස්ථාව මග හරවා ගැනීමට ගත හැකි ව තිබූ ක්‍රියාමාර්ග සාකච්ඡා කරන්න.

## ගැටුම් වර්ග (Types of Conflicts)

ගැටුම් වර්ග පිළිබඳ ව අධ්‍යයනය කිරීමේ දී එය විවිධ ස්වරූප අනුව හඳුනා ගත හැකි ය.

පහත දැක්වෙන සටහනට අනුව ගැටුම් වර්ග පුළුල් ලෙස ප්‍රධාන ක්ෂේත්‍ර දෙකක් ඔස්සේ අධ්‍යයනය කළ හැකි ය. එනම්,

- අභ්‍යන්තර ගැටුම්
- අන්තර්ජාතික ගැටුම්




## අභ්‍යන්තර ගැටුම් (Internal Conflicts)

යම් රටක ජීවත්වන ජනතාව තුළ දැකිය හැකි පුද්ගල ගැටුම් හා සමාජීය ගැටුම් අභ්‍යන්තර ගැටුම් ලෙස හඳුන්වයි. මෙම ගැටුම් සාර්ව ගැටුම් හා සූක්ෂ්ම ගැටුම් ලෙසට තවදුරටත් වර්ග කළ හැකි ය. ජාතික මට්ටමින් නැතිනම් පුළුල් මට්ටමින් පවතින ගැටුම්කාරී තත්ත්ව සාර්ව ගැටුම් ලෙස සැලකේ. නිදසුන් ලෙස ජනවර්ග අතර, ආගම් අතර, ජාතික වෘත්තීය සමිති අතර පැන නඟින ගැටුම් පෙන්වා දිය හැකි ය. පුද්ගලයා තුළ, පුද්ගලයින් අතර, පවුල තුළ, පවුල් අතර ඇතිවන ගැටුම් සූක්ෂ්ම ගැටුම් ලෙස හැඳින්විය හැකි ය. සූක්ෂ්ම ගැටුම්වලට නිදසුන් ලෙස අපේක්ෂාභංගත්වය නිසා

පුද්ගලයා තුළ ඇතිවන මානසික ගැටුම්, ආර්ථික ප්‍රශ්න නිසා පවුල තුළ ඇතිවන ගැටුම් ගෘහස්ථ ප්‍රචණ්ඩත්වය, ඉඩම් ආරවුල් ආදිය දැක්විය හැකි ය.

මෙම ගැටුම් ඇතිවීම කෙරෙහි පුද්ගල මට්ටමේ හේතු මෙන් ම ජාතික මට්ටමේ හේතු ද එක සේ බලපායි. ඒ අනුව පුද්ගල මට්ටමේ ගැටුම් විසඳා නොගෙන ජාතික මට්ටමේ ගැටුම් විසඳිය නොහැකි අතර, ජාතික මට්ටමේ ගැටුම් විසඳා නොගෙන පුද්ගල මට්ටමේ ගැටුම් ද විසඳිය නොහැකි බව මින් අවබෝධ වේ. ගැටුම් විසඳීමේ දී ගැටුම් තුළ පවතින පුද්ගල හා ජාතික මට්ටමේ පවතින සම්බන්ධතාව පිළිබඳ මනා වැටහීමක් හා අවබෝධයක් පැවතීම වැදගත් වේ.

## අන්තර්ජාතික ගැටුම් (International Conflicts)

රටවල් අතර පවත්නා ගැටුම් අන්තර්ජාතික ගැටුම් ලෙස හඳුන්වයි. මෙම ගැටුම් ප්‍රධාන කොටස් දෙකක් යටතේ දැක්විය හැකි ය.

- මතවාදී ගැටුම්
- යුධමය ගැටුම්

දේශපාලනික හා සමාජ ආර්ථික වශයෙන් පවතින මතවාදී ස්වභාවයන් මුල් කර ගෙන ඇතිවන ගැටුම් මතවාදී ගැටුම් ලෙස හඳුන්වයි. නිදසුන් ලෙස ධනවාදී හා සමාජවාදී බල කඳවුරුවල පැවති ගැටුම්, බටහිර හා පෙරදිග සංස්කෘතීන් අතර පවතින මතභේද සහිත ක්‍රියාවලි, බටහිර ක්‍රිස්තියානි හා මැදපෙරදිග ඉස්ලාමීය රටවල් අතර පවතින මතවාදී ගැටුම් පෙන්වා දිය හැකි ය.

අන්තර්ජාතික ගැටුම් ඇතිවීම කෙරෙහි සම්පත්, ආර්ථික ප්‍රතිලාභ, බල ව්‍යාප්තිය ආදි හේතූන් බලපායි.

අන්තර්ජාතික ගැටුම්වල අවසාන ප්‍රතිඵලය ලෙස යුද්ධ කිරීම දැක්විය හැකි ය. මෙම තත්ත්වය ලෝක මට්ටමින් ද, කලාපීය මට්ටමින් ද, රාජ්‍යයන් අතර ද දක්නට ලැබේ. I වන හා II වන ලෝක සංග්‍රාම ලෝක මට්ටමින් සිදු වූ අතිබිහිසුණු යුද්ධ වේ. මෙ මඟින් මිනිස් ජීවිත දස ලක්ෂ ගණනින් අහිමි වූ අතර සිදු වූ දේපළ හා පරිසර හානි අතිබිහිසුණු ය.



5.1 රූපය - I වන ලෝක සංග්‍රාමයේ අවස්ථාවක්



5.2 රූපය - II වන ලෝක සංග්‍රාමයේ අවස්ථාවක්

වර්තමානයේ ලෝක මට්ටමින් සිදුවන මහා සංග්‍රාම නොමැති වුව ද රටවල් අතර පවතින යුද්ධ රැසක් අද දක්වා ම පවතී. නිදසුන් ලෙස ඊශ්‍රායලය හා පලස්තීන යුද්ධය, ඉන්දු-පාකිස්ථාන යුද්ධය, ඇෆ්ගනිස්ථානය, ලිබියාව, තුර්කිය, සිරියාවට එරෙහි ඇමෙරිකාව ප්‍රමුඛ යුරෝපා ප්‍රජාව මැදිහත් වී කරන යුද්ධ පෙන්වා දිය හැකි ය.



5.3 රූපය - ගාසා තීරයේ කොටසක්



5.4 රූපය - ලිබියා යුද්ධයේ අවස්ථාවක්



5.5 රූපය - සිරියා යුද්ධයේ බිහිසුනු බව

**ක්‍රියාකාරකම් 5.2**

වර්තමානයේ රටවල් අතර පවතින යුද්ධයක් පිළිබඳ ව පහත සඳහන් තොරතුරු රැස්කර ඉදිරිපත් කරන්න.

- යුද්ධයට මැදිහත් වී ඇති රටවල්
- යුද්ධය ඇති වීමට හේතු
- සාමය සඳහා ගෙන ඇති ක්‍රියා මාර්ග

## ගැටුම් ඇතිවන මූල

ගැටුම් ඇතිවීම කෙරෙහි බලපාන ප්‍රධාන මූල ලෙස වාර්ගිකත්වය, දේශපාලන මතවාද, ආගමික මතවාද හා සමාජ ආර්ථික ගැටලු පෙන්වා දිය හැකි ය. එය පහත සටහන මඟින් නිරූපණය වේ.




වාර්ගිකත්වය
- → **කුලය** උදා: රුවන්ඩාවේ ටුට්සිවරු හා හුටුවරු අතර ඇතිවූ ගැටුම
- → **ගෝත්‍ර**
- → **මතවාද**
- → **කායික ස්වභාවය** උදා: දකුණු අප්‍රිකාවේ වර්ණභේද ගැටුම
- → **සමාජ ස්තර**

දේශපාලන
- → **දේශසීමා** උදා: ඊශ්‍රායල - පලස්තීන ගැටුම
- → **බල ව්‍යාප්තිය** උදා: බටහිර ධනවාදීන් හා සෝවියට් දේශය සමග ගැටුම

සමාජ ආර්ථික තත්ත්වය
- → **දරිද්‍රතාව** උදා: සෝමාලියාව - ඉතියෝපියා ගැටුම
- → **වෙළෙඳපොළ** උදා: ආර්ථික සම්බාධක පැනවීම
- → **සම්පත්** උදා: මැදපෙරදිග අර්බුදය

ආගමික මතවාද
- → **නිකාය භේදය** උදා: අයර්ලන්ත යුද්ධය
- → **ආගම් අතර** උදා: කුරුස යුද්ධය

**ක්‍රියාකාරකම් 5.3**

- ඉහත සටහන ඇසුරින් ගැටුම් ඇතිවීමට බලපාන එක් මූලයක් තෝරාගෙන වර්තමානයේ යුද්ධමය ක්‍රියාදාමයක් පවතින නිදසුනක් ඇසුරින් එය පැහැදිලි කරන්න.
- යුද්ධයේ ඇති බිහිසුණුබව හා සාමයෙහි ඇති අවශ්‍යතාව නිරූපණය වන පෝස්ටරයක් නිර්මාණය කරන්න.

## ගැටුම් නිරාකරණය කිරීමේ ක්‍රම

ගැටුමක් නිර්මාණය වීම සඳහා පුද්ගලයින් තුළ ඇතිවන නොරිස්සුම හා මතභේදය මූලික වශයෙන් හේතු පාදක වේ. එම තත්ත්වය ගැටුමකට යා නොදී ආරම්භක අවස්ථාවේ දී ම පිළියම් යෙදීම මඟින් ගැටුම් මග හරවා ගත හැකි ය. මේ සඳහා පුද්ගලයින්ට හා විවිධ පාර්ශ්වවලට ක්‍රම රැසක් අනුගමනය කළ හැකි ය.

ගැටුම් නිරාකරණය සඳහා යොදා ගත හැකි හොඳ ම ක්‍රමවේදයක් ලෙස ප්‍රජාතන්ත්‍රවාදී ව කටයුතු කිරීම පෙන්වා දිය හැකි ය. ගැටුමකට හෝ මතභේදයකට ලක් වී ඇති පුද්ගල පාර්ශ්වයන්ගේ අදහස් සැලකිල්ලට ගනිමින් තීරණ තීන්දු ගැනීම මින් අදහස් වේ. මෙය පුද්ගලයකු මෙන් ම පවුලක්, රටක්, ජාතියක්, ජාත්‍යන්තරය සම්බන්ධයෙන් ද එක සේ වැදගත් වේ.

යම් පුද්ගලයකු හෝ පිරිසක් අතර මතභේදයක් පවතින විට එයට සංවේදී නොවී සිටීමෙන් එය ගැටුමක් කරා අවතීර්ණ විය හැකි ය. එබැවින් අදාළ පාර්ශ්ව සමග මනා සන්නිවේදනයක් ඇති කර ගැනීමෙන් එකී මතභේදකාරී තත්ත්වය ප්‍රචණ්ඩකාරී තත්ත්වයන්ට යා නොදී පාලනය කර ගැනීමේ හැකියාව මෙමඟින් හැකි වනු ඇත.

ගැටුමකින් ඇති වන ප්‍රතිඵල පුද්ගලයාට මෙන් ම සමාජයට ද අහිතකර බැවින් ගැටුම් නිරාකරණයට මැදිහත්වීම වැදගත් වේ. සමාජය තුළ පවතින ගැටුම් විවිධ ස්වරූපයන් හා විවිධ මට්ටම්වලින් සමන්විත වේ. ගැටුම් නිරාකරණය කිරීමේ දී වර්තමානයේ ගැටුමේ පවතින ස්වරූපය තේරුම් ගැනීම වැදගත් වේ. ඒ අනුව එයට ගැළපෙන විවිධ ක්‍රම කෙරෙහි අවධානය යොමු කළ යුතු වේ. මේ සඳහා යොදා ගත හැකි ක්‍රම ලෙස සාකච්ඡා කිරීම, කේවල් කිරීම හා සහමන්ත්‍රණය, මැදිහත්කරණය, සමථකරණය, බේරුම් කිරීම, විනිසීම, උපදේශනය වැනි ක්‍රම වැදගත් වේ.

### සාකච්ඡා කිරීම (Discussion)

ගැටුම් නිරාකරණය සඳහා යොදා ගනු ලබන මූලික ම ක්‍රමය සාකච්ඡා කිරීම වේ. ගැටුමකට මුල් වූ පාර්ශ්ව දෙක සෘජු ව හෝ වෙනත් මැදිහත්කමකින් ගැටුම් විසඳා ගැනීම මෙ මඟින් සිදු වේ. දෙපාර්ශ්වයට ම "ජය - ජය" විසඳුම් මෙ මඟින් ලබා ගත හැකි ය.

### සාකච්ඡා ක්‍රමයේ ගති ලක්ෂණ

- සාකච්ඡාවෙන් විසඳුම් කරා යොමුවීම
- පෞද්ගලික හෝ විශ්වසනීය මට්ටමින් සිදුවීම
- ක්ෂණික විසඳුම් ලැබීම
- වියදම් අවම ක්‍රමයක් වීම
- අවිධිමත් ව්‍යුහයකින් යුක්ත වීම
- දෙපාර්ශ්වයටම "ජය - ජය" විසඳුම් ලැබීම

### සාකච්ඡා ක්‍රමය යොදා ගත හැකි අවස්ථා

- පෞද්ගලික ගැටුම්
- පවුලේ ගැටුම්
- දේපළ ආරවුල්
- ආයතනික ගැටුම්
- ආයතන අතර ගැටුම්
- රට තුළ හා රටවල් අතර ගැටුම්

**ක්‍රියාකාරකම 5.4**

- ඔබේ පාසලේ/පන්ති කාමරයේ සිසුන් අතර නිරතුරු ව පැන නගින ගැටුම් අවස්ථාවක් තෝරා ගෙන එය විසඳීම සඳහා සාකච්ඡා ක්‍රමය යොදා ගන්නා ආකාරය භූමිකා රංගනයක් මඟින් ඉදිරිපත් කරන්න.

### සහමන්ත්‍රණය හා කේවල් කිරීම (Bargaining and amicable Settlement)

වෘත්තීය ක්ෂේත්‍රය තුළ සේව්‍ය - සේවක දෙපාර්ශ්වය වෘත්තීය ගැටලු ඇති වූ අවස්ථාවල එය විසඳා ගැනීම සඳහා ප්‍රජාතන්ත්‍රවාදී ව ආරවුල් විසඳා ගැනීමට මෙම ක්‍රමය යොදා ගනියි. මෙහිදී ගැටුමට සම්බන්ධ පාර්ශ්ව ඔවුනොවුන්ගේ ඉල්ලීම් සම්බන්ධ ව සාකච්ඡා කර විසඳුමකට ළඟා වේ. මෙම ක්‍රියාවලියේ දී ආරවුල් ඇතිවන අවස්ථාවල දී මෙන් ම එකඟ නොවන අවස්ථාවල දී දෙපාර්ශ්වය ඉවත් වී විරෝධය පෑම විශේෂ ලක්ෂණයකි. අවසානයේ දී දෙපාර්ශ්වය තම තමන්ගේ ඉල්ලීම් සලකා බලා යම් යම් තීරණවලට එකඟ වී ගැටුම් විසඳා ගනී.

**කාර්මික ආරවුල්, වතු කම්කරු ආරවුල්, වෘත්තීය සමිති සහමන්ත්‍රණය හා කේවල් කිරීම බහුල ව භාවිත කරයි.**

### කේවල් ක්‍රමයේ ලක්ෂණ

- කණ්ඩායම් ක්‍රියාවලියකි
- සේවක - සේව්‍ය දෙපාර්ශ්වයකින් යුක්ත වීම
- සාකච්ඡා මේසයේ දී මුණ ගැසී සාකච්ඡා කිරීම
- අන්‍යෝන්‍ය එකඟත්වය මත සිදුවීම
- විධිමත් ක්‍රියාවලියකින් යුක්ත වීම
- සේවා කොන්දේසි වේතන හා සම්බන්ධ ක්‍රියාත්මක වීම

- ඉල්ලීම්වලින් කේවල් කිරීම ආරම්භ වීම
- එකඟත්ව ගිවිසුමකින් කේවල් කිරීම අවසන් වීම

**ක්‍රියාකාරකම් 5.5**

- කේවල්කරණයෙහි ඇති විශේෂ ලක්ෂණ කිහිපයක් පැහැදිලි කරන්න.
- සේවක - සේව්‍ය දෙපාර්ශ්වයට ගැටුම් විසඳා ගැනීමේ දී කේවල් කිරීම යොදා ගැනීමෙන් ලැබෙන වාසි පැහැදිලි කරන්න.

## මැදිහත්කරණය (Mediation)

පුද්ගලයින් දෙදෙනෙකු අතර හෝ කණ්ඩායම් දෙකක් අතර හෝ ජන කණ්ඩායම් අතර හෝ රටවල් දෙකක් අතර ගැටුමක් විසඳා ගැනීමට සාකච්ඡා ක්‍රමය මඟින් අපොහොසත් ව සිටින විට එය විසඳා ගැනීමට උපකාර කිරීම මැදිහත්කරණය ලෙස හැඳින්වේ. මෙය යුද්ධමය නොවන සාමකාමී මැදිහත්වීමකි. මේ සඳහා වෘත්තීය මැදිහත්කරුවන්, ගැටුම් නිරාකරණ විශේෂඥයින්, ගැටුමේ නිරත වූ පිළිගත හැකි සාමාජිකයින් හා බාහිර පාර්ශ්වයන් යොදා ගත හැකි ය.

### මැදිහත්කරුවෙකු තෝරා ගැනීමේදී අවධානය යොමු කළ යුතු කරුණු

- දෙපාර්ශ්වය ම පිළිගන්නා අපක්ෂපාතී පුද්ගලයකු වීම
- ගැටුම පිළිබඳ පූර්ණ අවබෝධයක් ඇති අයෙකු වීම
- තමාගේ විසඳුම්, තීන්දු ඔවුන් මත පටවන්නකු නොවීම
- දෙපාර්ශ්වයට ම බලපෑම් එල්ල නොකිරීම
- දෙපාර්ශ්වයේ ම එකඟතාව මත විසඳුම් කරා යොමු කරවීම
- සෘජු ව මුණ ගැසීමට නොහැකි අවස්ථාවල වෙන වෙන ම හමු වී අදහස් ලබාගෙන දෙපාර්ශ්වයට ම සන්නිවේදනය කිරීම
- නම්‍යශීලී විසඳුම් කරා යොමු කර "ජය - ජය" විසඳුම් ලබා දීම

### මැදිහත්කරුවකු තුළ පැවතිය යුතු ගුණාංග

- හොඳ සවන් දෙන්නකු වීම
- විශ්වාසවන්තභාවය
- කැපවීම
- අවංක වීම
- අපක්ෂපාතීත්වය
- මධ්‍යස්ථභාවය
- විචාරශීලී හා නිර්මාණශීලීබව

## මැදිහත්කරණය යොදා ගත හැකි අවස්ථා

- පවුල් ආරවුල් (උදා: ගෘහස්ථ ප්‍රචණ්ඩත්වය)
- පාරිභෝගික හා වෙළෙඳ ආරවුල් (උදා: ප්‍රමිතියෙන් තොර භාණ්ඩ සම්බන්ධයෙන්)
- කුලී නිවැසියන් හා අයිතිකරු අතර ආරවුල් (උදා: කුලී නිවැසියන් ඉවත් කිරීම)
- සේව්‍ය - සේවක ආරවුල් (උදා: වැටුප් හා අතිකාල දීමනා සම්බන්ධ ආරවුල්)
- වැඩිහිටි මණ්ඩල (උදා: දරුවන් හා වයස්ගත දෙමාපියන් අතර ගැටුම්)
- ජාතීන් අතර පවතින ගැටුම්
- රටවල් අතර පවතින ගැටුම් විසඳීම සඳහා

**ක්‍රියාකාරකම් 5.6**

- මැදිහත්කරණ ක්‍රම වේදයේ විශේෂ ලක්ෂණ කිහිපයක් ලියන්න.
- ගැටුම් විසඳා ගැනීම සඳහා මැදිහත්කරණයෙන් ලැබෙන ප්‍රයෝජන පැහැදිලි කරන්න.
- ඔබේ පාසලේ/පන්තියේ මිතුරන් අතර ඇතිවන ගැටුම්කාරී අවස්ථාවක් තෝරාගෙන එය විසඳීමට මැදිහත්කරුවෙකු වශයෙන් දායක වන්න. එය විසඳීමට ගත් ක්‍රියාමාර්ග පැහැදිලි කරන්න.

## සමථකරණය (Conciliation)

සමථකරණය යනු ගැටුමක් හෝ මතභේදයක් විසඳීම සඳහා යොමු කරවන මැදිහත් වීමකි. මෙය අවසන් විසඳුමක් නොවේ. සමථකරු පුද්ගලයකු හෝ කණ්ඩායමක් විය හැකි ය. ගැටුම් නිරාකරණය සඳහා ප්‍රතිවිරුද්ධ පාර්ශ්ව සමඟ සාකච්ඡා මඟින් විසඳුම් කරා යොමු කර ගැනීමට මෙ මඟින් හැකි වේ. ගැටුම් අවස්ථාවක් පාදක කර ගෙන එක් පාර්ශ්වයකටවත් ජය - පරාජය ලබා ගත නොහැකි ව පසුවන අවස්ථාවක දී සමථකරණ ක්‍රමවේදය භාවිත කළ හැකි ය. සමථකරු ගැටුම නිරාකරණය සඳහා යොමු වන්නේ එක් පාර්ශ්වයක ඉල්ලීම මත හෝ වෙනත් අයෙකුගේ ඉල්ලීම මත හෝ පාර්ශ්වයක ඉල්ලීම මත විය හැකි ය.

## සමථකරුගේ කාර්යය

- ප්‍රතිවිරුද්ධ පක්ෂයන් අතර සංවාදයක් ඇති කිරීම
- ගැටුමට තුඩු දී ඇති හේතු පිළිබඳ ව විග්‍රහ කිරීමට මුල පිරීම
- ගැටුමට තුඩු දී ඇති කරුණු පිළිබඳ ව සෘජු හෝ වක්‍ර වශයෙන් සාකච්ඡා ඇති කිරීම
- ප්‍රතිවිරුද්ධ පාර්ශ්වයන් අතර වෙනස්කම් සහ පරතරය අඩු කිරීමට ක්‍රියා කිරීම
- සම්මුතීන්ට එළඹීමට අවශ්‍ය වැඩ පිළිවෙළක් යෝජනා කිරීම

සමථකරණය සඳහා නීත්‍යානුකූල ආයතනයක් ලෙස අධිකරණ අමාත්‍යාංශය මඟින් සමථ මණ්ඩලය ස්ථාපිත කොට ඇත. මෙ මඟින් ගැටුම්කාරී අවස්ථා, සුළු වැරදි, පවුල් ආරවුල් ආදිය නඩු මාර්ගයට පිවිසීමට ප්‍රථම විසඳීම සඳහා යොමු වී ඇත. මෙවැනි සමථ මණ්ඩල රැසක් ප්‍රාදේශීය මට්ටමින් පිහිටුවා ඇත.

## සමථකරණය යොදා ගත හැකි අවස්ථා

- පවුල් ආරවුල් විසඳීම
- කම්කරු ආරවුල් විසඳීම
- පුද්ගල කණ්ඩායම් අතර පවතින ආරවුල් විසඳීම
- පොදු දේපළ සම්බන්ධ ව පවතින ආරවුල් විසඳීම
- සුළු වැරදි විසඳීම. උදා: නින්දා අපහාස කිරීම්, අවවාද දීම්, දේපළවලට හානි කිරීම

**ක්‍රියාකාරකම් 5.7**

- ඔබ ප්‍රදේශයේ සමථ මණ්ඩලය රැස්වන අවස්ථාවක් නිරීක්ෂණය සඳහා සහභාගි වන්න.
- එහි දී සිදුකරන ක්‍රියාවලිය හොඳින් අධ්‍යයනය කර වාර්තාවක් පිළියෙල කරන්න.

## බේරුම් කිරීම (Arbitration)

යම් ගැටුමකට මැදිවී සිටින පාර්ශ්වකරුවන්ගේ කැමැත්ත මත ගැටුම විසඳා ගැනීම සඳහා මැදිහත්කරණ විධි ක්‍රමයක් ලෙස බේරුම් කිරීම හැඳින්විය හැකි ය. ඒ සඳහා තෝරා ගනු ලබන විශේෂඥ පුද්ගලයා බේරුම්කරු ලෙස හඳුන්වයි. ගැටුමට ලක්වී ඇති පාර්ශව දෙකෙහි ම ප්‍රශ්න හා ගැටලුවලට සවන් දී අනතුරු ව නිවැරැදි පාර්ශ්වය තේරුම් කරනු ලබයි. දෙපාර්ශ්වය ම විනිශ්චයකරුවාගෙන් විසඳුම් ලබා ගැනීමට අපේක්ෂා කළ ද එක් පාර්ශ්වයක් පමණක් ජයග්‍රහණය කිරීම මෙහි විශේෂ ලක්ෂණයකි.

## බේරුම්කරුවකු සතු විය යුතු ගුණාංග

- හොඳින් සවන් දීම
- පක්ෂග්‍රාහී නොවීම
- මධ්‍යස්ථ වීම
- නිවැරැදි තීරණ ගැනීම
- විචාරශීලී හා නිර්මාණශීලී බව
- යමක් අර්ථවත් ව පැහැදිලි කිරීමේ හැකියාව
- සාධාරණභාවය

## බේරුම් කිරීම යොදා ගත හැකි අවස්ථා

- කාර්මික ආරවුල් විසඳීම
- සේවක වැටුප් හා අයිතිවාසිකම් පිළිබඳ ගැටුම්
- සේවක ගැටුම්
- විනය පරීක්ෂණ
- මුදල් පිළිබඳ ආරවුල්

**ක්‍රියාකාරකම් 5.8**

- බේරුම්කරණය මඟින් ගැටුම් විසඳා ගැනීම දැක්වෙන භූමිකා රංගනයක් ඉදිරිපත් කරන්න.
- ගැටුම් විසඳා ගැනීමට බේරුම්කරණය මඟින් ලැබෙන වාසි හා අවාසි සාකච්ඡා කරන්න.

## විනිසීම (Inquiry)

ගැටුම් නිරාකරණය සඳහා යොදා ගනු ලබන සාම්ප්‍රදායික ක්‍රමය විනිසීමයි. නීතිය ක්‍රියාත්මක කරන අධිකරණයක හෝ ඒ හා සමගාමී බලයක් සහිත ආයතනයක් ඇසුරින් නඩු පැවරීම ගැටුමට අදාළ පාර්ශ්වවලට සමථයකට එන ලෙස මෙහි දී පළමුව ප්‍රකාශ කරන අතර එකඟ නොවන විට නඩු විභාගයට යාම මඟින් ගැටුම නිරාකරණය කරයි. අධිකරණය දෙනු ලබන තීන්දුව අවසාන තීරණය වන අතර පරාජය වන පාර්ශ්වයට ඉහළ අධිකරණයකට අභියාචනා කිරීමේ හැකියාව ඇත.

## විනිසීමේ ක්‍රියාවලියේ ලක්ෂණ

- සාකච්ඡාවෙන් දෙපාර්ශ්වයට ම ඉවත් විය නොහැක.
- විත්තිකරු අධිකරණයෙහි පෙනී සිටිය යුතු ය.
- සාක්ෂි දීම, නඩු ඇසීම විධිමත් ව සිදු වේ.
- පාර්ශ්ව දෙකට ම සාක්ෂි දීම, වාද කිරීම, හරස් ප්‍රශ්න ඇසීම සඳහා අයිතියක් ඇත.
- නීතියේ ප්‍රතිපාදන අනුව තීරණ දීම.
- උසාවි තීන්දුව අවසානාත්මක වන අතර සෑම පාර්ශ්වයක් ම තීන්දුවට බැඳී සිටීම.
- අභියාචනා කිරීමේ හැකියාව.
- නඩුවෙන් පැරදුණු පාර්ශ්ව නඩු ගාස්තු ගෙවිය යුතු ය.



5.6 රූපය - අලුත්කඩේ උසාවි සංකීර්ණය

**ක්‍රියාකාරකම් 5.9**

- ගැටුම් නිරාකරණයේ දී නීතියේ පිහිට පැතීමෙන් සිදුවන වාසි අවාසි සාකච්ඡා කරන්න.
- ඔබ අවට ප්‍රදේශයේ ඇති අධිකරණයක් මඟින් ගැටුම් නිරාකරණය කරන ආකාරය නිරීක්ෂණය සඳහා සහභාගි වන්න.

## එකඟත්වයක් ගොඩ නැඟීම (Building a Compromise)

තෙවන පාර්ශ්වයක් මඟින් ගැටුමට අදාළ පාර්ශ්ව දෙක එකඟත්වයකට පත් කිරීම මෙ මඟින් සිදු වේ. දෙපාර්ශ්වයට එකඟත්වය සහතික කරන ගිවිසුමක් සඳහා අත්සන් කොට ගැටුම් ඇතිවන අවස්ථා පාලනය කිරීම කරනු ලබයි. මෙම එකඟතාවන් ක්‍රියාත්මක වන ආකාරය හා විමසීම සඳහා තෙවන පාර්ශ්වයක් දායක වීම මෙහි විශේෂ ලක්ෂණයකි.

## එකඟත්වයෙන් ගැටුම් විසඳා ගත හැකි අවස්ථා

- පවුල් ආරවුල්
- සේව්‍ය - සේවක ආරවුල්
- අසල්වාසීන් සමඟ ඇති ආරවුල්
- ආයතන - ආයතන අතර ඇතිවන ආරවුල්
- සමවිය කණ්ඩායම් අතර ඇති ආරවුල්

## උපදේශනය (Counselling)

පුද්ගල ගැටුම් මෙන් ම දෙපාර්ශ්වයක් අතර පවතින ගැටුම්වල දී තෙවන පාර්ශ්වයක් විසින් විවිධාකාරයෙන් පහසුකම් සපයා උපදෙස් හා මග පෙන්වීම් ලබා දෙමින් ගැටුම් නිරාකරණයට යොමු වීම උපදේශනයයි. මෙහි දී විකල්ප විසඳුම් කරා පාර්ශ්වකරුවන් යොමු කිරීම, ගැටුමින් ඇතිවන ප්‍රතිඵල හා පීඩාකාරී ස්වභාවයන් පිළිබඳ ව දෙපාර්ශ්වය ම දැනුවත් කිරීම, ගැටුම් ලිහිල් කිරීම සඳහා පාර්ශ්වකරුවන් යොමු කරවීම මෙ මඟින් සිදු වේ.

## ගැටුම් නිරාකරණය සඳහා පුරවැසියෙකු සතු විය යුතු ගුණාංග

සමාජය තුළ ජීවත්වීමේ දී තමා වෙත එල්ල වන අභියෝග ජය ගැනීම සඳහා පෞද්ගලික හා සමාජීය වශයෙන් වර්ධනය කර ගත යුතු ගුණාංග රැසක් ඇත. ඒ සඳහා ප්‍රගුණ කර ගත යුතු ගුණාංග පහත සටහන් මඟින් දැක්වේ.


ආත්මාවබෝධය
ඉවසීම
කරුණාව හා මෛත්‍රිය
නිර්මාණාත්මක චින්තනය
ඵලදායි තීරණ ගැනීම
පුද්ගල ගුණාංග
මුදිතාව
දරා ගැනීමේ ශක්තිය
ඵලදායි සන්නිවේදනය
සංවේදී බව
අවිහිංසක බව


අන් මත ගරු කිරීම
යුතුකම් ඉටු කිරීම
සාධාරණත්වය
සහානුභූතිය
පුද්ගලයා තුළ පැවතිය යුතු සමාජීය ගුණාංග
ජය පරාජය විඳ දරා ගැනීම
සවන් දීම
යහපත් අන්තර් පුද්ගල සබඳතා
පරිත්‍යාගශීලී වීම
අන් අයට ගරු කිරීම

**ක්‍රියාකාරකම් 5.10**

- මොහොතක් දෙනෙත් පියාගෙන කිහිපවතාවක් හොඳින් ආශ්වාසයෙහි හා ප්‍රශ්වාසයෙහි යෙදෙන්න.
- ඔබ තුළ ඇති විශිෂ්ට වූ ගුණාංග සිහිපත් කරන්න.
- ඒ පිළිබඳ ව සිතින් සතුටක් ඇති කර ගන්න.
- ඔබ සතු ගුණාංග පිළිබඳ නිර්මාණාත්මක ප්‍රකාශනයක් චිත්‍රයක් ඇඳ ප්‍රදර්ශනය කරන්න.

- ගැටුම් සාමකාමී ව නිරාකරණය කර ගැනීමේ වාසි

ජීවිත හානි වැළැකීම
↓
සම්පත්, දේපළ හානි වැළැකීම
↓
මූලික හා මානව අයිතීන් ආරක්ෂා වීම
↓
මානසික ආතතිය අවම වීම
↓
පුද්ගල මානසිකත්වය ඉහළ යාම
↓
ආත්ම ගෞරවය සුරැකීම
↓
සාමය හා ආරක්ෂාව සුරක්ෂිත වීම
↓
දේශපාලන ස්ථාවරත්වය
↓
ආර්ථික ස්ථාවරත්වය
↓
ජාතික ඒකාබද්ධතාව ඇතිවීම
↓
රට සමෘද්ධිමත් වීම

ඉහත සටහන අනුව ගැටුම පුද්ගල හා සමාජ පරිහානියට හේතු වන බැවින් ගැටුමෙන් තොර වීම ජනතාවගේ දියුණුවට මෙන් ම රටේ දියුණුවට ද හේතු වේ. මේ අනුව පුද්ගල සාමය මඟින් පවුලේ සාමය ද පවුලේ සාමය මඟින් රටේ සාමය උදාවන අතර එය ලෝක සාමයට ද හේතු වේ.

**ක්‍රියාකාරකම් 5.11**

- ඔබ තුළ ඇතිවන ආවේගශීලී තත්ත්ව පාලනය සඳහා යොදාගත හැකි ස්වයං යෝජනා මාලාවක් සකස් කරන්න.
- පවුලේ දී, පාසලේ දී හා සමාජයේ දී අන් අයට හිරිහැර, කරදර ගෙන දෙන ලෙස කටයුතු නොකිරීමට කළ හැකි දේ යෝජනා කරන්න.